සිදම්බරම ධර්මරාජා නොහොත් කොම්පඤ්ඤවීදියේ ඩේලු සිය නිවස තුළදීම මරා දමන ලදි. මෙම මිනිමැරුම සිදුකරන ලද්දේ ඔහුගේ දෙවැනි බිරිඳ යැයි විශ්වාස කළ ඩේලුගේ යහළුවෝ ඇය උසාවි භූමිය තුළදීම පිහිවලින් ඇන මරා දැමූහ. ඩේලුගේ මරණයට පසුබිම කෙරූ සැකසුණත් එම මිනීමැරුමත් සමඟ පාතාල ලෝකය තුළ ඇති වූ කැළඹිල්ල සුළුපටු නොවේ. ඊට ප්‍රධානතම හේතුව වශයෙන් සැලකිය හැක්කේ අවි ආයුධ හා මත්ද්‍රව්‍ය ගැනීම, විකිණීම සම්බන්ධයෙන් ඉදිරියේදී ඇතිවිය හැකි උභතෝකෝටික ප්‍රශ්න වලින් ගැලවී සැඟවී සිටින්නේ කෙසේද යන්න ගැන ඩේලු මිස ඔහුගේ ජාවාරම් මෙහෙය වූ පුද්ගලයන් නොදැන සිටීමය.

ඩේලුගේ මරණය පාතාල ලෝකයේ සිදුවූ අවසාන මිනිමැරුම නොවේ. එහෙත් ඔහුගේ මරණයත් සමඟ ගතවූ කාලයේ සිදුවූ අති බිහිසුණු මිනිමැරුම් සහ අපරාධ වැළක නොරතුරු දම්වැලක පුරුක් මෙන් එකින් එක පාතාල ලෝකයෙන් මතු වන්නට පටන් ගෙන ඇත්තේ සෝඩා බෝතලයක මූඩියක් විවර කළ පරිද්දෙනි.

දිනය හරියටම මතක නැත. එහෙත් එය දීප්තිමත්, උණුසුම්, උදෑසනකි. පොලිසියේ අලින්දයේ මිනිසුන් විසිපහක්, තිහක් පමණ වූහ. ඔවුහු එහි පැමිණ සිටියේ සැකකරුවන් දකිමට සහ යම් යම් සිද්ධීන් පිළිබඳව සුළු පැමිණිලි ඉදිරිපත් කිරීමටය. පොලිස් ස්ථානාධිපති ජයන්ත සමරදිවාකර මහතා සිය කාමරයේ අසුනකට බරවී එදින පුවත්පත කියවමින් සිටියේය. වරින් වර නාදවන දුරකථනයත්, පොලිස් නිලධාරීන්ගේ සපත්තු අඩි ශබ්දය සහ නොතේරෙන ඝෝෂාව පොලිසිය තුළ පැවැති කඩිමුඩිය තව තවත් තීව්‍ර කළේය.

පොලිසියට යාර විසිපහක් පමණ ඈතින් එම භූමියේම පර හරහා දමා තිබූ ' බැරියරය'' අසල සිටි අමුන්තා වරින් වර පොලිසිය දෙසටත්, මහපාර දෙසටත් උකුසු බැල්ම හෙලමින් කිසිවකුගේ පැමිණීම අපේක්ෂාවෙන් පසුවිය. බැරියරය අසළම තිබූ පොලිස් මුර කුටියේ ඒ වන විට කිසිවකු හෝ ආරක්ෂක කටයුතුවල යෙදී සිටියේ නැත. වේලාව උදෑසන එකොළහට ආසන්න වෙමින් තිබිණ.

මොහොතකින් පරණ මයිනර් වර්ගයේ මෝටෝ් රථයක් පොලීසිය ඉදිරිපිට මහපාර අසල නතර කළේය. එයින් බැස-ගත් කොට, කලු, මහත පුද්ගලයෙක් පොලිසිය දෙසට පා නැඟුවේය. ඔහු පාතාල ලෝකයේ නොමමව එකේ''ජෙනරල් වරයෙකි.'' උණ්ඩයට උණ්ඩයෙන්, බෝම්බයට බෝම්බයෙන්, කඩුවට කඩුවෙන් පිළිතුරු දීමට තත්පරයක්වත් ප්‍රමාද නොවන මොහු කවුරුන් නම් කළේ තුන්මුල්ලේ පද්මේ යන නාමයෙනි. පද්මේ කසිප්පු වඩි ගැසීමට නම් දුරු අයෙකි. තමන් ජීවත්වන ප්‍රදේශයේ වෙනත් කිසිවකුට හෝ කසිප්පු පෙරීමට ඉඩ නොදුන් ඔහු එවැනි තැනක් ගැන හෝඩුවාවක් ලදහොත් එදිනම රාත්‍රියේ සිය පිරිවර සමඟ එම ස්ථානයට කඩා වැදී වෙඩි තබා බෝම්බ ගසා මුළු පළාතම භීතියෙන් අවුද වා ' සැකකරුවන්ද'' අත් අඩංගුවට ගැනීමට මොහො-තකට හෝ නොපැකිලෙයි. අත් අඩංගුවට ගත් සැකකරුවන්ට ඔහු දුන්නේ අමානුෂික දඬුවමකි.

පද්මෙගේ නිවසට යාබදව ඇත්තේ හම් මඩුවකි. හරකුන්-ගේ හම් තැම්බෙන්නට දමූ වලවල් කීපයක් එහි විය. මෙම වලවල් නරකාදි බඳුය. ඉන් හැමූ දුගඳ මුළු පළාතම වසා පැතිර තිබිණ. පණුවන් නළියන මෙම හම් වලක් අඩි පහක් පමණ ගැඹුරුය. අල්ලාගෙන එන සැකකරුවන් මෙම හම් වලවලට දමා දවස් තුනක් පමණ පණ පිටින් තැම්බීම පද්මෙ-ගේ දඬුවම විය. අනතුරුව ගොඩට ඇද ගන්නා සැකකරුගේ කලවා දක්වා සමහර විට ඊටත් ඉහළට අමු හම ගැලවී ගොස් රතුපාට මස් පැදී තිබේ. ඒ හම් වලේ අධික උෂ්ණය සහ කකුල්වලට පණුවන් ගැසීමේ හේතුවෙනි. පද්මෙගේ මෙක්

අමානුෂික දඬුවමට බිය වූ නිසා කිසිවකු හෝ ඔහුට අයත් ප්‍රදේශය තුළ කසිප්පු පෙරුවේ නැත.

පද්මේ පොලිසිය දෙසට එන අන්දම බැරියරය අසල සිටි අමුත්තාගේ දෙනෙතට රසඳුනක් විය. ඔහු ඇස් කොනින් පොලිසිය දෙස බැලුවේය. කිසිම අමුත්තක් නැත. සියලු දෙයක්ම තත්පරයට, කෙස්ගහට සිදුවෙමින් තිබිණි. පද්මේ බැරියරය අසලට එද්දී අමුත්තා ඔහු ඉදිරියට ගියේය.

''ඔයා ද තුම්මුල්ලේ පද්මෙ කියන්නේ?'' අමුත්තා ඉතා සන්සුන්ව එමෙන්ම හැඟීම් බරව ඇසුවේය.

''ඔව් ඇයි?'' පද්මේ ක්ෂණිකව පිළිතුරු දුන්නේය.

''ඔයාට බඩුවක් ගෙනාවා දෙන්ඩ'' කියමින් අමුත්තා සාක්කුවට අත ඔබා සැණෙකින් යළි එළියට ගත්තේය. ඒ වන විටත් අමුත්තාගේ දබරැඟිල්ලට අලුත්ම බ්‍රවුනින් වර්ගයේ පිස්තෝලයක ''කොකා'' හිරවී තිබිණ.

පද්මෙට ඇසිපිය හෙලන්නටවත් ඉඩක් නොතබා එක එල්ලේ ඔහුගේ නළලට එල්ල කළ බ්‍රවුනින් පිස්තෝලයේ ''කොකා'' දෙවරක් ගැස්සුණි. නළලින් ඇතුළු වූ වෙඩි උණ්ඩ දෙක ඔලුවේ පිටුපස පදසයක් ගලවාගෙන එළියට යද්දී පද්මෙගේ මුවින් පිටවුණේ ''බුදු අම්මෝ ...මාව මැරුවෝ ..'' යන්න පමණි. පයිප්පයකින් මෙන් නළලින් ලේ විදිමින් පද්මේ කෙසෙල් කඳක් මෙන් පොලිස් භූමිය තුළ ඇද වැටී එතැනම අ: සත් හුස්ම හෙලුවේය.

පාතාල ලෝකයේ පතාක යෝදයෙක් පොලිස් භූමිය තුළ වෙඩි කා මැරෙද්දී අමුත්තා සන්සුන් ගමනින් පාර අද්දරට ගොස් එතැන තිබූ ටරේල් වර්ගයේ මෝටර් සයිකල යක නැගී තත්පරයෙන් අතුරුදන් විය.

පද්මෙට වෙඩි තැබුවේ නොම්මර එකේ වෙඩික්කාරයෙකි. මොහු හිටපු හමුදා සෙබලෙකි. අලුත්ම වර්ගයේ අවි ආයුධ අතපතගා ඒවායේ උණ්ඩවලින් උතුරු නැගෙනහිර ත්‍රස්තවාදීන්ගේ සිරුරුවල පෙනේරවල මෙන් හිල් සෑදූ ඔහුට බ්‍රවුනින් වර්ගයේ පිස්තෝලයකින් මිනිසකු පරලොව යැවීම ඉතා සැහැල්ලු කටයුත්තක් විය.

ඔහු කවුරුත් ඇමතුවේ ''ගයි'' යන සුරතල් නාමයෙනි. පද්මේ පාතාල ලෝකයේ පතල වෙද්දී ගයි සිටියේ උතුරු නැගෙනහිරය. මේ නිසා පද්මේ ගයි හඳුනන්නේ නැත. නමුත් ''ගයි'' ඉඳහිට පද්මෙව දුක පුරුදු ඇත්තෙකි. මෙම නොහැඳිනීම පද්මෙගේ මරුවා වශයෙන් ගයි තෝරා ගැනීමට ප්‍රධානතම හේතුව විය.

පද්මෙගෙන් කසිප්පු ජාවාරම්කාරයන්ට පමණක් නොව නීතිය සුරකින නිලධාරීන්ටද ඇතැම් විට තර්ජන ගර්ජන එල්ල විය. සල්ලිවලට ගත නොහැකි නිලධාරීන්ට ඔහු අභියෝග කළේය. ඒ තමන්ගේ ධනයත්, බලයත්, ශක්තියත් හමුවේ නිලධාරීන් ඉදිරියේ දනින් වැටීමට නොකැමැති වූ බැවිණි.

වරක් පද්මේ විසූ පළාතේ පොලීසියට තරුණ පොලිස් පරීක්ෂකවරයකු පත්වී ආවේය. ඔහුට කසිප්පු ජාවාරම්කාරයන් අබිං මෙන් තිත්තය. පොලීසියට පැමිණි පළමුවැනි සතියේම පද්මේ කැඳවූ හෙතෙම කසිප්පු ජාවාරම වහාම නවතන ලෙසත් නැතහොත් නීති මඟින් කටයුතු කිරීමට සිදුවන බවත් දැනුම් දුන්නේය. එය නිහඬව අසාගෙන සිටි පද්මේ අතකුරැව තමන්ගේ නිවසට පැමිණ අනවැසියකු අතේ පොලිස් නිලධාරියාට එදින සැඳෑවේ තමාව හමුවන ලෙසට පණිවිඩයක් යැව්වේය.

නියම කරගත් වේලාවේදී ජීප් රථයකින් පද්මේ හමුවට පොලිස් නිලධරියා පැමිණියේය. පද්මේ ඔහු ආදරයෙන් පිළිගෙන සිය නිවසට යාබද වත්තට කැඳවාගෙන ගියේය. අඩි හයක් පමණ උස ඒ තරමටම ඇඟපත ඇති පොලිස් නිලධාරියා පද්මේ සමඟ පිය නැඟුවේ ඕනෑම දෙයකට සූදානමින්ය. වත්ත කෙළවරට වෙන්න කේම්බ්‍රිජ් වර්ගයේ අලුත්ම මෝටර් රථයක් නවතා තිබිණ. එය අසලට ගිය පද්මේ

''මේ කාර් එක අද ඉඳන් අයිති සර්ට...'' කියමින් එහි යතුර පොලිස් නිලධාරියාට දික් කළේය.

යතුරු කැරැල්ලත් සමඟ පද්මෙගේ ඇඟිලි තරයේ මිරිකා පිටුපසට අත ඇඹරූ පොලිස් නිලධාරියා ක්ෂණිකව එල්ල

කළ පා පහරක් සමඟ විසිවී ගිය පද්මේ බොනට්ටුවේ වැදී කරකැවී ඇඳ වැටුණේය.

"උඹට අන්තිම සැරේට කියන්නේ .. කසිප්පු බිස්නස් එක නවත්තපං.." යැයි තර්ජනය කළ නිලධාරියා පද්මේගේ ගෙමිදුල උඩින්ම ගොස් ජීප් රියට නැගී පොලිසිය බලා ගියේය.

දණ්ඩෙන් පහරදුන් නයකු සේ කිපුන පද්මේ ඒ මොහොතෙම ගෝලබාලයන් සතර අතට පිටත් කරවා වහාම කසිප්පු පෙරීමේ යෙදී සිටින සියලු දෙනාටම බුලි, බැරල්, බාල්දි, කෑන්, වයර් ආදිය රැගෙන පැමිණෙන ලෙසට නියෝග කළේය. පැයක් පමණ ඉක්ම යද්දී මහපාර අද්දර බැරල් බුලි, ආදී කසිප්පු පෙරීමට ගන්නා සියලුම අමුද්‍රව්‍ය ගොඩගැසිණ. ඒවායෙ නිරත වී සිටි සියලුම දෙනා සහ පළාතේ ජනතාව රැස්කකා බලා සිටින්නට වූයේ ඊළඟට සිදු වන්නේ කුමක් දැයි යන මහත් දෙගිඩියාවෙනි. එමෙන්ම නොඉවසිල්ලෙනි.

පද්මේ එතැනට පැමිණියේය. බැරලයක් උඩට නැගගත් ඔහු අනතුරුව 'සභාව" අමතන්නට පටන් ගත්තේය. මේ අවස්ථාව වනවිට පන්සියයකට ආසන්න පිරිසක් එහි රැස්ව සිටියහ. "උඹලා මෙච්චර කාලයක් ජීවත් වුණේ කසිප්පු පෙරලා අපිට කාගෙන්වත් හිරිහැරයක් කරදරයක් මේ වනතුරු තිබුණේ නෑ. උඹලට වෙනින් රස්සාවල් කරන්නත් බෑ. ඒත් දැන් උඹලට මේ රස්සාව නතර කරන්නයි වෙන්නේ. පොලිසියට අලුතින් ඇවිල්ලා ඉන්න මහත්තයා අද කිව්වා මේ රස්සාව නවත්තපල්ලා කියලා. එහෙම නැත්නම් හිරේ යන්ඩත් ලැස්ති වෙන්ඩ කියලා මට කිව්වා. උඹලා මොකද කියන්නේ කසිප්පු බිස්නස් එක නවත්වනවාද? නැතිනම් හිරේ යනවාද?"පද්මේ ප්‍රශ්න කළේය.

මෙම සිද්ධිය මේ වන විටත් පොලිසියට ආරංචි වී තිබිණ. පොලිස් පරීක්ෂකවරයා තවත් නිලධාරීන් කීප දෙනකු සමඟ ආයුධ සන්නද්ධව ජීප් රියට ගොඩ වූයේ සිය ප්‍රදේශයට මෙන්ම නීතියට ද අභියෝග කරන මේ මිනිසා හොඳින්

බැරිනම් තරකින් හෝ මෙල්ල කර ඔහු තිරිසන් සමාජයෙන් කෙසේ හෝ ගොඩ ගනිමි යැයි යන බලාපොරොත්තුවෙනි.

මිනිත්තු දහයකින් පමණ ජීප් රථය පද්මෙගේ "රැළිය" පවත්වන තැනට සේන්දු විය. ඉන් බැසගත් පොලිස් පරීක්ෂක-වරයා රැස්ව සිටි ජනතාව මැදින් ඉදිරියට ගොස් පද්මේ අසලට සේන්දු විය. "ඔක නවත්වනවා ...... දැන් එනවා යන්ඩ පොලිසියට" පොලිස් නිලධාරියා නියෝග කළේය.

"මොකටද පොලිසි යන්නෙ... මෙ මිනිස්සුන්ට කන්ඩ දෙන්නෙ සර්ද? මමද?......" පද්මෙ යටගිරියෙන් කෑ ගසා ඇසුවේය.

"තමුසෙට මං හොඳින් කිව්වෙ...... එනවද නැතිනම් ගෙනියන්ඩද?" පොලිස් නිලධාරියාගේ ඉවසීම රතු ඉරට ළඟාවෙමින් තිබෙන බව කාටත් වැටහිණ.

"ගහගන්ඩ වුණත් මම ලෑස්තියි ඩෝ..."කියමින් බැරල-යෙන් බිමට පැන්න පද්මේ පොලිස් පරීක්ෂකවරයාගේ නිල කබායෙන් අල්ලා වේගයෙන් සොලවා ඔහු පැළඳ සිටි "සැම් බ්‍රවුන් බෙල්ට්" එක කඩා පැත්තකට වීසි කළේය.

පොලිස් අභ්‍යාස විද්‍යාලයේ දී හැදෑරූ සටන් ක්‍රම මනාව පුහුණු වී සිටි පොලිස් පරීක්ෂකවරයා කුලුම්මෙක් බඳු මෙම මැරවරයාගේ අභියෝගය එතැනදීම භාර ගත්තේය. ඔහු සමඟ පැමිණි පොලිස් නිලධාරීන් සිය උසස් නිලධාරියා දෙස බලා සිටින්නට වූයේ විශාල ගෞරවයකිනි. මෙ පමණ කලක් පද්මේගේ "හයිකාරකම්" හමුවේ නිහඬව සිටින්නට සිදුවූ තමන්ට මෙතැන් සිට එඩිතර නායකයෙක් යටතේ පෙරමුණට යන්නට ලැබීම ඉමහත් වාසනාවක් කොට ඔවුහු සැලකූහ.

රැස්ව සිටි ජනතාව පසෙකට විය. නිල හිස් වැස්ම ගලවා කොස්තාපල්වරයකු අතට දුන් පොලිස් පරීක්ෂකවරයා විචෘත ද්වන්ද සටන ආරඹමින් දකුණු පාදය සැණෙකින් පද්මෙගේ මුහුණ මතට එල්ල කළේය.

විනාඩි සාස්තරයෙන් අගතැන්පත් පද්මෙ තමන් දන්නා සියලුම පහරවල් පොලිස් පරීක්ෂකවරයාට එල්ල කළේය.

පොළොවට කලුවර වැටී නොතිබුණ ඒ මොහොතේ පොලිස් නිලධාරියකු සහ පද්මේ අතර මහපාරේ කෙරුණ මේ සටන කිසිවකුට ජීවිතයේ දකින්නට තබා අසන්නටවත් නොලැබෙන දර්ශනයක් විය.

මිනිත්තු දහයක් පමණ එකදිගට කෙරුණ මේ සටන නැරඹීමට මහපාරේ කාර් බස් ල ගමන් කළ. රැකියා නිමා කොට නිවෙස් බලා යමින් සිටි සිය ගණන් ජනතාවද නතර වූහ. එක දිගට හෙණ ගසන්නා සේ පොලිස් නිලධාරියා එල්ල කළ පහර වලින් අඩපණ වූ පද්මේ මහපාර මැද ඇද වැටිණ. ඊළඟ මොහොතේ ඔහු අසලට ජීප් රථය ගෙනැවිත් නතර කළේය. පද්මේගේ කමිස කරින් අල්ලා ඔහු එසවූ පොලිස් නිලධාරියා පාපන්දුවකට මෙන් එල්ල කළ පහරින් පද්මේ උඩින් විසිවී ගොස් ජීප් රථය තුළ ඇද වැටුණේය. දෙවැනි පහර එල්ල වූයේ පොලිස් සිර මැදිරියේ යකඩ දොර පලුව විදෘත කිරීමෙන් අනතුරුවය.

කෙසේ වෙතත් මෙම සිද්ධියෙන් ටික කලකට පසු පොලිස් පරීක්ෂකවරයාට උසස්වීමක් පිරිනමා වෙනත් තැනකට මාරුකර යවන්නට තරම් ප්‍රදේශයේ දේශපාලනඥයෝ කාරුණික වූහ. මන්ද දේශපාලන සටන් ඇවිලෙමින් තිබූ එම අවධියේ දී පද්මේගේ සේවය නොමඳව ලබා ගැනීමට නම් ඔහුගේ ව්‍යාපාර කටයුතු නිදහසේ කරගෙන යාමට ඉඩකඩ සලසා දිය යුතුව තිබූ බැවිනි. උසස්වීමක් ලබා යන්නට සූදනම් වූ දින පොලිස් පරීක්ෂකවරයා පැමිණ පද්මේ හමුවිය. ඔහුගේ සුවදුක් විමසුවේය. සිය නිල බලයෙන් අතපය කඩන නිලධාරීන්ට වඩා එඩිතරව මුහුණට මුහුණ සටන් කළ මෙම නිලධාරියා කෙරෙහි පද්මේ තුළ තිබුණේ දැඩි භක්තියකි.

දිනක පද්මේ සිය නිවස තුළ මිත්‍රයකු සමහ බ්‍රැන්ඩි බෝතලයක රස බලමින් සිටියේය. ඒ අවස්ථාවේ පද්මේ අලුතින් මිලදී ගෙන තිබූ ''ගල්කටස්'' වර්ගයට අයත් තුවක්කුව සිය මිතුරාට පෙන්වමින් එහි ක්‍රියාකාරීත්වය ගැන උදම් අනන්නටද අමතක නොකළේය. ''මට හරි ආසයි බං මේකෙන් බඩ මහත එකෙක්ට වෙඩි තියන්ඩ.'' තුවක්කුවට පතොරමක් ඇතුල් කරමින් පද්මේ කීවේය.

''රට පලයන් පාරට... බඩ මහත හරක් පිදිලා ..'' මිතුරා කිවේය. ''එච්චර වෙලා ඉන්ඩ බෑ මචං මේකෙන් දමමම වෙඩි තියලා දන්ඩ ඕනේ...'' පද්මේ කිවේය.

''කාටද... ?'' මිතුරා ඇසුවේය. ''උඹට යකෝ.. උඹට...'' කියමින් මිතුරාගේ මහත බඩ දෙසට ගල්කටස් තුවක්කුව එල්ල කළ පද්මේ සැණෙකින් එහි කොකා ගැස්සුවේය. බ්‍රැන්ඩි වලින් පෙඟී සිටි මිතුරාට පද්මේ කළ දේ එකවර සිතා ගැනීමටවත් කල්පනාවක් නොවීය. එහෙත් කන් බිහිරි කරවන හඬක් සමඟ උදරය දෙසින් දැනුණ අධික වේදනාව තවත් ඉවසා සිටිය නොහැකි වූ හෙතෙම එළියට පැන තිබූ බොකු බඩවැල් අතින් මිරිකාගෙන මිදුලට පැන්නේය.

ඔහු සිටියේ සිහිවිකල්ලෙනි.යන්නේ කොහේද කරන්නේ කුමක්ද කියා කල්පනාවක් නොවීය. මිදුලෙන් ගුරුපාරට පැන්න ඔහු බෑවැටිය දිගේ ලිස්සා පහළට ගියේය. යාබදව තිබුණේ විහාරස්ථානයකි. බඩගාගෙන විහාරස්ථානයට ඇදුන ඔහු එතැනදී විසඥ විය. එහි සිටි හිමිනමක් වහාම සිද්ධිය ගැන දුරකථනයෙන් පොලීසියට දන්වනු ලැබූ අතර පොලීසිය මහින් තුවාලකරු රෝහලට ඇතුළත් කළේය. තමාට වෙඩි තැබුවේ කවුදැයි නොදන්නා බව ඔහු පොලීසියට කිවේ ජීවතුන් අතර තවදුරටත් සිටීමේ ආසාවෙනි. එහෙත් ඒ බලාපොරොත්තුව සිහිනයක් විය. මාස පහක් පමණ රෝහලේ දැඩි සත්කාර ඒකකයේ පසුවූ ඔහු සදහටම දෙනෙත් පියා ගත්තේ, තමාට පද්මේ වෙඩි තැබූ හේතුව මැරෙන මොහොත දක්වා සිහිපත් කර ගැනීමට බැරිවය.

පාතාල ලෝකයේ එකකු පරදා නැගී සිටීමට තවකකු දරන්නේ ප්‍රදුමාකාර උත්සාහයකි. සමහර විට පොඩ්ඩ වැරදුනොත් ජීවිතයෙන් පවා වන්දි ගෙවීමට සිදුවනු නොඅනුමානය. මත්ද්‍රව්‍ය අවි ආයුධ ජාවාරම් සහ කුලියට කෙරෙන මිනීමැරුම් වැනි අමානුෂික ක්‍රියා අද විකාශෝවටත් වඩා තීක්ෂණව සැලසුම් සහගතව මෙහි සිදුවෙයි. පද්මේ අතින් මැරුම් කෑ මිතුරා අල්ලපු ගමේ ප්‍රධාන පෙළේ මැරයෙකි. එහි කසිප්පු ජාවාරම තමන් යටතට ගැනීම අරමුණ කොට පද්මේ මිතුරා මරා දමුවේය.

මැතිවරණ උණුසුම රට පුරා තදින් පැතිරෙද්දී පද්මේ තමන්ගේ කසිප්පු ජාවාරම තවත් වේගවත් කළේය. දේශපාලනඥයන්ගේ ආරක්ෂාව අඩුවක් නැතිව ඔහුට ලැබිණ. මේ හේතුව නිසා ප්‍රදේශයේ පොලිසියට නිහඬව සිටිනු විනා තුම්මුල්ලේ පද්මෙට විරුද්ධව ඇඟිල්ලක් දිගු කිරීමට හෝ ශක්තියක් නොතිබිණ.

පළාත් කීපයකට පමණක් මුලදී කසිප්පු ප්‍රවාහනය කළ පද්මේ අනතුරුව මුළු කොළඹ පුරවරයටම කසිප්පු සපයන සැපයුම්කරු බවට පත්විය. දිනකට ගැලුම් හතළිස් පහේ කෑන් හතලිස් පහක් කසිප්පු නිපදවූ පද්මේ මාස හයකින් දෙකෙන් ලක්ෂපතියකු බවට පත්වූයේ බලා සිටියදීමය. අතට පයට දූසි දස්සන් සමඟ පාතාල ලෝකයේ, අයෝමය කීර්තියකින් බැබළෙන්නට පටන් ගත් මොහු දෙස බලා සිටි අනෙක් නගර වල ප්‍රධාන පෙළේ දමරිකයන් ටිකෙන් ටික පද්මේ සමඟ මිතුරු වන්නට පටන් ගත්හ. ඉතුන් හය දෙසරක කාලයක් තුළ මුළු රටම හෙල්ලූ දරුණු මිනීමැරුම්, අපරාධ රැසක ආරම්භයත් ඒ සමඟම පටන් ගැනිණ.

මහවත්තේ ‘ ලෝකයාට’’ පද්මේ සමඟ හොඳ හිතක් ඇති කර ගැනීමට ඒ හැටි කාලයක් ගත නොවීය. ‘‘ලෝකයා’’ නොම්මර එකේ කුඩු වෙළෙන්දෙකි. තමන්ගේ කුඩු ජාවාරම පද්මේ මගින් දියුණු කර ගැනීමත්, පද්මේගේ කසිප්පු ජාවාරමට තමන්ගේ ප්‍රදේශයෙන් උදව් පදව් ලබාදීමත් මෙසේ ගොඩනැගුණ මිත්‍රත්වයේ වගකිව යුතු කොන්දේසියක් විය. දෙදෙනාම ඒ කොන්දේසිය අකුරටම රකිමින් දෙපළාතේ ජාවාරම් තව තවත් දියුණු කර ගත්හ.

ලෝකයා නොමමර එකේ ලෝකයෙකි. බළලුන් ලවා කොස්ඇට බ වා ගැනීමේ රහස් වැඩ පිළිවෙලක් ද මේ අතරේ ක්‍රියාත්මක විය. නාරාහේන්පිට "සුන්දරේ" ලෝකයාට මහ හිසරදයක් ගෙන දුන් පුද්ගලයෙක් විය. මහවත්ත සහ නාරාහේන්පිට එක කිට්ටුව පවතින පළාත් දෙකක් බැවින් සුන්දරේ මහවත්ත ඇල්ලීමේත් ලෝකයා නාරාහේන්පිට ඇල්ලීමේත් තරගයක යෙදී සිටියහ. සුන්දරේගේ ගෝල බාලයෝ අසුවුණ තැන කඩුවලින් කපා චප්පි (කුඩා බෝම්බ වර්ගයකි) ගැසීමට ලෝකයාගේ ගෝල බාලයෝ නොපැකිළෙන අතර ලෝකයාගේ ගෝල බාලයකු අසුවුණ තැන කඹ වලින් ගැටගසා මහපාරේ ප්‍රදර්ශනය කොට අනතුරුව කාමරයකට දමා ඇටකටු කුඩු වෙනතුරු තැලීමට සුන්දරේගේ සහචරයෝ පසුබට නොවූහ.

මේ දිනවල නාරාහේන්පිට පළාත එකම යුද පිටියකි. කොටින්ම කියනවා නම් මේ යුද්ධයට දෙපැත්තේ ගැහැණු පවා සහභාගි වූහ. මාලු කපන දැවැන්ත මන්න කලුගල්වල උලා මුවහත තබා අතට පයට අසුවන මායිමේ තබන්නේ ගැහැණුය. කොතැනකින් හෝ හූවක්, ශබ්දයක් ඇසුන ඇසිල්ලකින් ඇඳ සිටින රෙදි කඩා දමා ගවුම්වලට බහින ගැහැණු මන්නා සහ කඩු ඔසවා ගෙන මහපාරේ දිවයන්නේ කැරළිලක ස්වරූපයක් සිහිගන්වමිනි. තමන් දන්න හඳුනන එවුන් අතට මන්නා පිහි පිසිකර අමුතිත්ත කුණුහරුපයෙන් සිය සතුරන්ට බැණ අඩ ගසමින් ඔවුහු මෙම යුද්ධය තව තවත් උද්යෝගවත් කරති. මාලු කපන ගානට සිය සතුරා පෙති ගැසූ පසු යුද්ධය අවසන්ය. ඉන් අනතුරුව පොලිසිය පැමිණෙයි.

තත්වය තව තවත් දරුණු අතට හැරෙද්දී "ලෝකයා" සහ කුම්මුල්ලේ "පද්මේ" එක්ව කුමන්ත්‍රණයක් දියත් කළහ. එනම් නාරාහේන්පිට සුන්දරේ මරා දැමීමයි. කුමන්ත්‍රණය අනුව නූලට සියලුම වැඩ කටයුතු පිළියෙල විය. දිනක් යහළුවකුගේ නිවසේ පැවැති සාදයකට සහභාගි වී වෙරිමරගාතේ සුන්දරේ වෙළ පැත්තෙන් එන බව ලෝකයාට ආරංචි විය. සැනෙකින් කඩු සහ මන්නා වලින් සන්නද්ධ වූ පිරිස සුන්දරේ එන පෙරමග රැක සිටියහ.

කෙසේ වෙතත් මේ ආරංචිය සුන්දරේට මගදීම දැන ගන්නට ලැබිණ. ඔහු ආපසු හැරී වෙළ දිගේ දුවන්නට පටන් ගත්තේය. ලෝකයාගේ පිරිස ඔහුව ලුහු බඳින්නට වූහ. මඩේ එරී එරී...... වැටි වැටී වැඩිදුරක් දුවන්නට ලෝකයාගේ පිරිස සුන්දරේට ඉඩ නොදුන්හ. බෙල්ලට වැදුන පළමු මන්න පහරින් සුන්දරේ මඩ ගොහොරුවේම ඇද වැටුණේය. ඉන්පසුව හතරවටින් ඔහුව එල්ල වූයේ දරුණු මන්න පහරවල්ය හිසට බෙල්ලට, දෙපාවලට මිනිත්තු දහයක් පමණ මන්න වලින් කෙටූ පිරිස ලේ විලක් මැද සුන්දරේ අවසන් හුස්ම හෙලන තුරු බලා සිට විසිර ගියහ.

සුන්දරේ ඒත් මැරුණේ නැත. එය ඔහුගේ දෛවයයි. සුන්දරේ වහාම රෝහලට ඇතුළත් කෙරිණි, ඔහුට ලේ දීමට ගියේ ලෝකයාගේ ගෝලයෙකි. ලෝකයා සුන්දරේ මරන්නට ලග රැක සිටින බවට ආරංචිය ගෙන ගියේ ද මෙම පුද්ගලයාය. එහෙත් මොහු පොලිසියට ඉතා අත්‍යවශ්‍ය වූ පුද්ගලයෙකි. දැනුම ගණයේ මිනීමරුවෙකි. මංකොල්ල කරුවෙකි. මේ නිසා සිය නම සඟවා වෙනත් නමකින් මොහු සුන්දරේට ලේ දුන්නේය.

සුන්දරේ මියගියා යැයි සිතූ ලෝකයාගේ ගෝලයෝ එදිනම රහසිගත තැන්වලට පළා ගියහ. එදිනම සුන්දරේගේ ගෝලයෝ දෙදෙනෙක් ත්‍රීවීලයක නැගී මහවත්තට පැමිණියහ. ඔවුන්ට හමුවූයේ ලෝකයාගේ නැන්දම්මා කෙනෙකි.

"කෝ ලෝකයා ....." ඔවුහු ඇසූහ. "මෙහෙ ඇති ලෝකයෙක් නෑ .... පලයල්ලා යන්න" ඈ තර්ජනය කළාය. සැනෙකින් පිටුපස සඟවා ගෙන සිටි අඩි හයක් පමණ දිග මන්නය සුන්දරේගේ ගෝලයා විසින් ගැහැණියගේ ගෙලට එල්ල කළේය. අපූරු සැනෙකින් ඇගේ හිස කඳින් වෙන් වී අසළ තිබූ කාණුවකට විසිවී ගියේය. හිස නැති කඳ දෙවරක් පමණ අතපය විසිකර මහපාර මැද ඇද වැටුණ සැනෙකින් දිගට හරහට එල්ල වූයේ මලේච්ඡ මන්නා ප්‍රහාරයකි. ගැහැණියගේ සිරුර පෙති ගසා දමූ මැරවරයෝ ලෙයින් නැහැවුණ සිරුරුවලින්ම ත්‍රීවීලයේ නැගී පිටත් වී ගියහ.

මෙම මිනීමැරුමට පැමිණි දෙදෙනා සාක්ෂිකාරයන් විසින් හඳුනා ගන්නා ලදී. කෙසේ වෙතත් මෙම මිනීමැරුමට සාක්ෂිකාරයන් විසින් තවත් අයකුගේ නමක් ද දී තිබිණ. ඒ රෝහලට ගොස් තමන්ගේ සතුරා වන සුන්දරේට ලේ දුන්න පුද්ගලයාගේ නමයි, තමා මිනීමැරුමට සහභාගි නොවූ බවත්, ඒ අවස්ථාවේදී තමා රෝහලේ ලේ දෙමින් සිටි බවත් ඔහු කීවේය. සුන්දරේට ලේ සැපයූ අයගේ නාම ලේඛනය පරීක්ෂා කිරීමේදී එවැනි අයකු ලේ දුන් බවට සටහනක් නොතිබිණි. බොරු නමකින් ලේදීම නිසා නිකරුණේ තමා මිනීමැරුමකට පැටලැවෙන්නට යන බව ඔහුට වැටහිණ. කෙසේ වෙතත් 'බොරු සාක්ෂි'' දීම නිසා පස් වසරක සිරදඬුවම ඔහුට නියම කෙරිණි. සාක්ෂි පරස්පර වීම නිසා සෙසු අය නිදහස් වූහ.

ලෝකයාගෙන් ලැබෙන හෙරොයින් සිය ප්‍රදේශය පුරා පැතිරෙද්දී ඉන් සිදුවන හානිය ටිකෙන් ටික පද්මෙට දැනෙන්නට විය. යකඩ පොලුවගේ තිබුණ සමහර කොල්ලන්ගේ අතපය බෝංචි කරල් මෙන් වැහැරෙන විට පද්මේ සුසුම් හෙළුවේය.

''කසිප්පුත් විෂ තමයි ... ඒත් මේ තරම් ඉක්මනට මැරෙන්නේ නෑ.'' හෙරොයින් බොන්න සල්ලි නැති කමින් වස බී මියගිය කොලුවකුගේ මළගමකට සහභාගි වෙමින් සිටිය දී පද්මේ සිය හිතවතකුට කීවේය.

පළාතේ හොරමැරකම් දවසින් දවස වැඩිවන්නට විය. කසිප්පු පෙරුවත් පළාතේ වෙනත් සොරකම් දූෂණ නැති නිසා නිහඬව සිටි පොලිසිය අනතුරුව නිතිපතා වැටලීම් කරන්නට පටන් ගත්තේය. එය පද්මේගේ කීර්තියට හානියක් විය.

දිනක් ලෝකයා මුණ ගැසුණ පද්මේ මින් ඉදිරියට තමා හෙරොයින් ජාවාරමට සම්බන්ධ නොවන බව දැනුම් දුන්නේය. එවැන්නක් කිසිසේත්ම ලෝකයා අපේක්ෂා නොකළේය.

''උඹට පිස්සුද මචං...... ලක්ෂ ගණන් හම්බ කරන්ඩ පුළුවන් වැඩක්නේ උඹ අතාරින්න යන්නේ...'' කෙසේ හෝ පද්මේ නම්මවා ගන්නා අදහසින් ලෝකයා කීවේය.

"සල්ලි වලට වඩා වටිනවා මට මගේ කොල්ලො ටික..." ටැක්සියට ගොඩවෙමින් පද්මේ කීවේය. එය ලෝකයාට එල්ල කළ අකුල් පහරක් මෙනි, පාතාල ලෝකයේ ප්‍රධාන පෙළේ මැරවරයෙක් තවත් එවැනිම අකුට වචනයකින් හෝ දෙවැනි වීමට කැමැති නැත. ඊට වඩා සටන් කර මියයාම නම්බුවක් බව ඔවුහු සිතති. මේ නිසා ලෝකයාගේ සිත තුළ පද්මේ කෙරෙහි සියුම් කෝපයක් මුල් වරට හට ගත්තේය.

සිය ගමට පැමිණි පද්මේ අනතුරුව හෙරොයින් බී අසුවන අයට ගස් බැඳ පහර දුන්නේය. තමන්ගේ ප්‍රදේශයේ පමණක් නොව ඇතැම් විට රිමාන්ඩ් සිර මැදිරියේදී පවා මත්කුඩු උරන උන්ට පද්මේ පහර දුන්නේය. මෙය වැඩිකල් නොගොස් ලෝකයාද ආරංචි විය. පද්මේ සතු ආයුධ හා පිරිස් බලයත් දේශපාලන රැකවරණය අනුවත් ඔහුට එකවර අභියෝග කිරීම සියතින් ගෙල සිඳ ගැනීමක් බව තේරුම් ගත් ලෝකයා තවත් කුමන්ත්‍රණයක් දියත් කළේය.

පද්මේගේ එකම සොහොයුරා එවකට රේස් බුකියක් බොරැල්ලේ පවත්වා ගෙන ගියේය. ලෝකයා ඔහු සමඟ මිතුරු විය. මල්ලී මගින් අයියව මරා දමා සිය හෙරොයින් ජාවාරම පවත්වා ගෙන යාමට මාන බැලූ, ලෝකයා වැඩි දවසක් යන්නට මත්තෙන් පද්මේගේ මල්ලී හෙරොයින් බීමට ඇබ්බැහි කර ගත්තේය.

මෙසේ ටික කාලයක් ගත විය. පද්මේගේ මල්ලී සුනිල් ඒ වන විට නොමඹර එකේ කුඩු කාරයෙකි. මේ අතරේ ඔහු රේස් තුණ්ඩුවක් දිනුවේය. රුපියල් එක්ලක්ෂ අසූදහසක් පමණ වන එම මුදලින් ඔහු නිල්පාට ලාන්සර් වර්ගයේ මෝටර් රථයක් මිලදී ගත්තේය. ලෝකයා සමඟ කුඩු ජාවාරමේ ගිය සුනිල් අනතුරුව හෙරොයින් බීමට සල්ලි නැතිකමින් 1,80,000 ක් වටිනා ලාන්සර් රථය තුට්ටු දෙකට විකුණා දැමුවේය.

ටික දිනකින් ඒ මුදල් ටිකද අවසන් විය. මේ නිසා තමන්ගේ බුකියට දමන රේස් තුණ්ඩුවල මුදල් සාක්කුවේ දාගෙන රේස් තුණ්ඩු විසිකර දැමීමට සුනිල් පෙළඹුණි. තමන්ට අවිශ්වාස යයි සිතන අශ්වයන්ට ඔට්ටු ඇල්ලූ තුණ්ඩුවල

මුදල් සොරාගත් සුනිල් ඒවායින් හෙරොයින් බිව්වේය. එහෙත් අවාසනාවකට මෙන් දිනක් එවැනි අශ්වයෙ! කීප දෙනෙක් විගිජ්වා අන්දමින් ඡායාග්‍රහණය කර තිබුණි. රුපියල් හතළිස් දහසක් පමණ එම තුණ්ඩුවට ගෙවීමට තිබිණ. දෙවියන් නැත දෙගොඩාලක මෙන් සල්ලි නැති බූකියක අන්දමන්ද වූ සුනිල් පොමළාවට එළිය වැටෙද්දී ලෝකයා සොයා ගෙන ගියේය. සිදුවූ සියල්ල ඔහුට කීවේය.

මේ අවස්ථාවේදී සුනිල් අතහැරියොත් ඔහු සිය සහෝද-රයා වන පද්මෙගේ උදව් පතන බව නිසැක යැයි ලෝකයාට වැටහිණ. එවිට තමන්ගේ සියලුම උපක්‍රම මහන්සිය ගඟට කැපූ ඉනිමෙන් නිෂ්ඵල වන බව ලෝකයා දනී. ඔහු සිය ගෙළ රැඳි තිබූ පවුම් දොළහක් පමණ බරැති රන්රන් මාලය ගලවා සුනිල් අතට දී එය උගස් කර සල්ලි ගෙවා පසුව බේරා දෙන ලෙස කීවේය.

එම සිද්ධිය එතැනින් නිමාවට පත්විය. දින සති මාසවලට පෙරළින. එද මාලය ගෙන ගිය සුනිල් ඉන්පසුව ලෝකයාගේ අ හ වවත් දකින්නට නොලැබිණ. සුනිල් හමුවීමට කීප වතාවක් බූකියට ගියද ඒ සෑම අවස්ථාවකම ඔහු ලෝකයා මගහැර ගියේය.

පාතාල ලෝකයේ විශ්වාසය කඩකිරීම ජීවත් වීමට තිබෙන ආශාව අත්හැරීමක් බඳුය සුනිල්ගේ ක්‍රියාවෙන් බලවත් සේ කිපුන ලෝකයා පද්මෙ සොයා ගියේය. ඒ අවස්-ථාවේ දී පද්මෙ දේශපාලනඥයකු ඇතුළු මැතිවරණ සටන් ව්‍යාපාරයේ කීප දෙනකු සමග සිය නිවසේ සාකච්ඡාවක යෙදී සිටියේය. කිසිවකුගෙන් අවසරයක් නැතිව ලෝකයා ඒ පිරිස අතරට කඩා පැන්නේය.

''කෝ...... සුනිල්......'' ලෝකයා ඇසුවේය.

''දැක්කේ නෑ ......'' පද්මෙ කීවේය. ''දැක්කෙ නෑ එහෙනම් උඹට උගේ මිනිය තමයි දකින්ඩ හම්බ වෙන්නේ. මේ ලෝකයට කොළේ වහල ගහපු එකෙක් මේ 'ඒරියල්'' එකේ නෑබෝ. මල්ලිට කියපං හොඳ හිතින් මාලේ ගෙනල්ල දෙන්න කියලා. නැත්නම් මං නරක මිනිහයි කියලා කියන්ඩ එපා.'' කියමින් අත්බෝම්බ දෙකක්ද පිරිසට ප්‍රදර්ශනය කළ ලෝකයා පිරිසත් සමඟ වහාම එතැනින් පිටත්වූහ.

ජීවිත් වෙනවාට වඩා මරාගෙන මැරෙන එක හොඳ යැයි පද්මෙට සිතුණේ එනැනදීය. තමන්ගේ ගමේ, තමන්ගේ ගෙදරදීම වැදගත් පිරිසක් ඉදිරිපිට ලෝකයා කළ මදි පුංචිකම පද්මෙට ඉවසා සිටිය නොහැකි තරම් විය.

එහෙත් ඔහු කලබල වූයේ නැත. හිත් තුලෙන් ලෝකයා සදහටම මෙලොවින් තුරන් කර දැමීමට පද්මෙ තීරණය කළේය. ඊට අවස්ථාවක් එනතුරු පද්මෙ ඉතා විමසිල්ලෙන් පසුවිය.

ලෝකයා විවාහ කරගත් තරුණියගේ වැඩිමහල් සොහොයුරා මුළු ගමටම හිසරදයක් වන්නට පටන් ගත්තේ මේ කාලයේදීය. ලෝකයාගේ 'චණ්ඩි උණුය' ඇහට ගත් සමරේ මස්සිනා අහළ පහළ කොල්ලන්ට 'බොරු මෝස්තර' දමමින් ලෝකයා කෙරෙහි ගමේ උන්තුළ පැවැති ආදරයත් පළුදු කරන්නට පටන් ගත්තේය. එසට ක පු බීපු උන්ට පවා සමරේ බෝම්බ ප්‍රදර්ශනය කරමින් දඟලන්නට පටන් ගත්තේය.

මහදැත්තේ මළගෙදරකට රෑ දෙගොඩ හරියේ කටගොන්-නක් බීගෙන පැමිණි සමරේ ඇතුළු සහචරයෝ එතැනදීත් සිය චණ්ඩිකම් ප්‍රදර්ශනය කරන්නට පටන් ගත්හ. ඉන් නොනැවතුණු ඔවුහු මෘත දේහයත් සමඟ මිනීපෙට්ටිය ඔසවා පොළොවේ ගසන්නට සූදානම් වූහ. නෑදෑයෝ විලාප දුන්හ. පැමිණ සිටි පිරිස විසිර ගියහ. අනතුරක ඉව වැටුණු ගැහැණු මින්නා සහ කඩු මුවහත් තබන්නට පටන් ගත්හ. මළගෙදරට පහරදීමට කඩු, බෝම්බ රැගෙන ඒමට සැරසුණ පිරිසක් පසුපස එළවා ගිහින් ඔවුන් වළක්වා ගැනීමට ලෝකයාට සිදුවිය.

සමරේගේ මෙවැනි 'වීරකම්' නොඉවසූ ප්‍රදේශවාසීහු මේ ගැන නොයෙක්වර ලෝකයාට පැමිණිලි කළහ. එහෙත් මස්සිනා නිසා සමරේට විරුද්ධව කිසියම් ක්‍රියාමාර්ගයක් ගැනීමට ලෝකයා ඉදිරිපත් වූයේ නැත. තමන් ජීවත්වන පළාතේ අසතුගෙන් කරදර හිරිහැර සිදුවෙද්දී ඒ ගැන පළාත බොල්ලන හයිකාරයා පියවරක් නොගනී නම් ඔහුට දක්වන සැළකිල්ල දවසින් දවස අඩුවී යයි. ඒ තත්වයට ලෝකයා ද ගොදුරු විය. ලෝකයා නැසීමට අවස්ථාවක් එනතුරු බලා සිටින පද්මෙට මෙය අගනා තුරුම්පුවක් විය.

ජනමත විචාරණයක් පැවැත්විය යුතු බවට තීරණය වීමත් සමඟම පාතාල ලෝකයට සතර වටින් කොන්ත්‍රාත් ගලා එන්නට පටන් ගත්තේය. මිනිසුන් බිය ගැන්වීම, පැහැර ගෙනයෑම, මංකොල්ල කෑම, මරා දැමීම වැනි වැඩ කටයුතු මෙම කොන්ත්‍රාත්වලට ඇතුළත් විණ. කොළඹ පමණක් නොව, දිවයිනේ සියලුම ප්‍රදේශවල ජනතාව අතරේ බිය, සැක සහ නොසන්සුන් බවක් ක්‍රම ක්‍රමයෙන් පැතිර යන්නට පටන් ගත්තේය. 'කළගෙඩි ලාම්පු' සෙල්ලම් හෙවත් ජනමත විචාරණයේ උණුසුමින් ජනතාව පෙළෙද්දී සතුරු මිතුරු දෙපක්ෂයේ දේශපාලනඥයෝ සිය ඕනෑ එපාකම් ඉටුකර ගැනීම පිණිස සල්ලි මිටි පිටින් පාතාල ලෝකයට විසි කළහ.

මෙම අවධියේ දී තුම්මුල්ලේ පද්මේ, නාරාහේන්පිට ලෝකයා, ඇතුළුව බත්තරමුල්ල අලත්කඩේ, තොටළඟ, මහවත්ත, කොම්පඤ්ඤවීදිය, දෙමටගොඩ යන ප්‍රදේශවල 'පාලනය' ගෙන ගිය පාතාල ලෝකයේ නොම්මර එකේ වැඩකාරයන්ට කර ගන්නට බැරි තරම් 'ඕඩර්' ලා එන්නට විය. ඔවුනට රැයක් දවාලක් නැති තරම්ය. අවි ආයුධ පුරවා ගත් නවතම පන්තියේ මිට්සුබිෂි ලාන්සර්, උණ්ඩායි කාර් මෙම පළාත්වලින් දිනකට දහය දොළහ ලංකාවේ ගම් නියම්ගම් කරා ඇදී යන්නට පටන් ගත්තේය මේ අතර සිය ආරක්ෂාව සඳහා යයි කියමින් ලබාගත් තුවක්කු පවා දේශපාලනඥයන් විසින් මෙම කල්ලි අතට පත් කරන ලදී. ඡන්දයට වඩා උණ්ඩයේ අණසක දිවයින පුරා පැතිර ගියේය.

මේ අතරේ තවත් දෙයක් සිදුවිය. එනම් අලුතින් මැරවර කල්ලි බිහිවීමය. සතුරු මිතුරු දේශපාලනඥයන්ට හේත්තු වූ ඔවුහු ඔවුන් පිනවීම පිණිස ඒ අයට විරුද්ධව දේශපාලනයේ නිරතව සිටි ඇතමුන්ට 'කෝචොක්' කිරීමට පටන් ගත්හ.

අවස්ථාවලදී පොලිසිය මගින් අත් අඩංගුවට ගනු ලැබූ මොවුන් එක දුරකථන නියෝගයකින් එළියට දැමීමට අසරණ වූ නිතියට සිදුවිය. එපමණකින් නොනැවතුන දේශපාලනඥයෝ පාතාල ලෝකය මගින් ඉටු කරගත් අවශ්‍යතා අලුතින් බිහිවුණ මෙම කල්ලි මගින් ඉෂ්ට කරගැනීමට පෙළඹුණහ. ඔවුන්ට අවි ආයුධ පවා සැපයූහ.

දේශපාලන රැකවරණ සමඟ නවීන පන්නයේ අවි ආයුධ අතපත ගෑමට වාසනාව ලද මෙම කල්ලි ඉන් නොනැවතී පාතාල ලෝකයේ 'වැඩකාරයන්ටද' අභියෝග කරන්නට පටන් ගත්හ. කළගෙඩි. ලාම්පු සෙල්ලමට අමතරව ගිනි අවි සෙල්ලමද ජයටම පැවැත්විණ.

මෙම අවධියේදී 'තග් සංස්ථාව' මෙහෙයවනු ලැබුවේ ගෝනවල රංජි විසිනි. ඔහුගේ නායකයා වූ දේශපාලනඥයාගේ නිවසට ඕනෑම වේලාවක යෑමට ඒමට අවසරය රංජිට ලැබී තිබිණ. අවි ආයුධ සහ මිල මුදල් ඉල්ලූ තරම් සැපයීමට දේශපාලකයා මැලි වුණේ නැත., කෙසේ හෝ මුල්කිරිගල ආසනය දිනා ගැනීම දේශපාලකයාගේ අරමුණ විය. මුල්කිරිගල දිනා ගැනීමට සතුරු පාර්ශවයෙන් ඡන්ද සටන මෙහෙවනු ලැබුවේ ඉතා ජනප්‍රිය අයෙකි. සංවිධායකවරයකු වශයෙන් ඔහු තුළ තිබූ නිසඟ කුසලතාව සහ තරුණ පරපුර ඔහු කෙරෙහි දක්වූ දැඩි ආදරය දේශපාලන කතාවලට වඩා බලවත් බව වටහාගත් දේශපාලකතුමා ගෝනවල රංජිගෙන් ඉල්ලා සිටියේ හොඳින් බැරිනම් නරකින් හෝ මුල්කිරිගල ඡන්ද සටන දිනාදෙන ලෙසය.

මෙය සතුරු පිලේ ජනප්‍රිය පුද්ගලයා නොදන සිටියා නොවේ ඔහු වහාම සිය කොන්ත්‍රාත්තුව අලුත්කඩේ සිරිපාල, නාරාහේන්පිට ලෝකයා, තුම්මුල්ලේ පද්මේ සහ බත්තරමුල්ලේ සුද යන අයට පැවරුවේය. බත්තරමුල්ලේ සුද එවකට මෙම පුද්ගලයාගේ ආරක්ෂකයා වශයෙන්ද කටයුතු කළේය.

නියමිත දිනයේ දී ගෝනවලින් ජීප්රථ තුනක්, ලාන්සර් දෙකක් සහ රෝසා බස් රථයක්. දලිපිහි. කඩු කිණිසි. පිස්තෝල. තුවක්කු, බෝම්බ පටවාගෙන, 'මුල්කිරිගල යුද්දෙට'

පිටත් විණි. ඊට සුලු මොහොතකට පසු කොළඹ හතෙන් සහ බත්තරමුල්ලෙන් එවැනිම සන්නද්ධ රථ පෙළක් දකුණු මුහුදු තීරය ඔස්සේ පදනට බඳු වේගයෙන් මුල්කිරිගල බලා දිව යන්නට විය.

කෙසේ හෝ ගෝනවල රංජිගේ ගමන කඩාකප්පල් කිරීම මොවුන්ගේ අරමුණ විය. එහෙත් ගෝනවල රංජි එනැනදී දිනුවේය. සිය ගෝල බාලයන් පිරිවරාගෙන මුල්කිරිගලට පැන්න ගෝනවල රංජි බෝම්බ ගසා, වෙඩි තබා, ගෙවල් වලට දැඩි අලාභ හානි සිදු කරමින් මුළු පළාතම බිය වැද්දුවේය. ඡන්දයට වඩා ජීවිතේ අගේ කළ ප්‍රදේශවාසීහු හිස්ලුලු අත දිව ගියහ. ඒ අවස්ථාවේ මුල්කිරිගල එකම යුද පිටියකි. සාමයේ දෙව්ලව පලා ගියාය. ලේ පිපාසයෙන් වියරු වැටුණු මැරවරයෝ මුල්කිරිගල, ගිනි ජාලාවක් බවට පත්කර ඔල්වරසන් දෙමින් පොළා ගමරට බලා පැමිණෙන්නට වූහ. මෙම තත්ත්වය මඟදීම දැනගත් ප්‍රතිවිරුද්ධ පිළේ වැඩකාරයෝ කොටුවේගොඩ ප්‍රදේශයේ සිය රථ පෙළ නවතාගෙන ගෝනවල රංජිගේ සෙබළු 'පිළිගැනීමට' සූදානමින් සිටියහ.

මේ බවක් නොදත් ගෝනවල රංජිගේ පිරිස කොටුවේගොඩට ළඟා වූහ. පාර හරහා මෝටර් රථයක් දමා ඔවුන්ගේ රථපෙළ නැවතූ නාරාහේන්පිට ලෝකයා, කුඹුල්ලේ පද්මේ ඇතුළු පිරිස එක එකා එළියට ඇද ඔලූ පලන්නට, දැලිපිහි වලින් කපන්නට, වෙඩි තබන්නට වූහ. කෙටියෙන් කියතොත් නම් එලව එලවා පහර දෙන්නට වූහ. ඔවුන් පැමිණි වාහන පොඩිපට්ටම් කළහ. මේ කිසිත් නොදත් කොටුවේගොඩ ජනතාව තිට්හැට්යේ සිය ප්‍රදේශය තුළ සිදුවන මෙම ඇන කොටා ගැනිල්ල බලා සිටියේ විශ්මයෙනි.

පසුදින පහන් වන විට තග් සංස්ථාවේ සභාපති හෙවත් ගෝනවල රංජි තුවාලෙන් දිවි ගලවාගෙන පැමිණි පුවත පාතාල ලෝකය තුළ පමණක් නොව දේශපාලනඥයන් අතරේ පවා ඉමහත් කැළඹිල්ලකට හේතු විණි. ගෝනවල රංජිට කළ පහර දීම එක එල්ලේ තමන්ට කළ විවෘත අභියෝගයක් වශයෙන් ගෝනවල රංජි මෙහෙයවූ දේශපාලකතුමා පිළිගත්තේය. කෙසේ වෙතත් මුල්කිරිගල ගොස් රංජි කළ විනාශය ජනමාධ්‍ය

වලින් වසා රංජි ඇතුළු පිරිසට කොටුවෙගොඩදී පහරදීම උළුප්පා දක්වීමෙ කොන්ත්‍රාත්තුව දේශපාලක තුමාගේ හිතෛෂිවන්ත දේශපාලනඥයකුට පැවරුවේය.

ඔහු වහාම පුවත්පත් සාකච්ඡාවක් සූදානම් කළේය. සියලුම පුවත්පත්වලටද ආරාධනා ලැබිණ. බංපතල තුවාල ලබා පැමිණි ගෝනවල රංජිගේ ගෝල බාලයන් කිප දෙනකුද ප්ලාස්ටර්, බැන්ඩේජ් සහිතව මෙම පුවත්පත් සාකච්ඡාවට සහභාගි කරවූහ.

"බලන්න මේ අය දිහා. හරිම අහිංසක මිනිස්සු. අපිට උදව් කරන්න මුල්කිරිගල ගියා. ගිහිල්ලා එනකොට අරයගේ මිනිස්සු මහ ඉඳලා දූලිපිහි වලින් කපලා තුවාල කරලා" මෙහිදී එක් "අහිංසකයකු" සිය කමිසය ගලවා ජනමාධ්‍ය කරුවනට පෙන්වීය. ඔහුගේ පිට කොස් ගෙඩියක් මෙන් දූලි පිහිවලින් පතුරු ගසා තිබිණි. "අපි කරන්නෙ ඡන්ද සටනක් මිසක් ආයුධ එක්ක සටනක් නෙමෙයි. තමුන්නාන්සේලා මේ ගැන පත්තරවල ලියන්න. අපි කැමති සාමයට."

දේශපාලනඥයා, වැඩිදුරටත් සිය අහිංසකත්වය ප්‍රදර්ශනය කරමින් ජනමාධ්‍ය වෙතින් ඉල්ලීමක් ද කළේය. කෙසේ වෙතත් ඔහු කී කතාව අකුරක් නැර පක්ෂයේ පත්‍රවල පසුදා පළ කර තිබූ නමුත් අනෙක් කිසිම ප්‍රවෘත්ති පත්‍රයක ගෝනවල රංජිගේ 'අහිංසකයන්ට' සිදු වූ කිසිවක් වාර්තාකර නොතිබිණි. ඒ වෙනුවට මෙම අහිංසකයන් මුල්කිරිගල ජනතාවට දක් වූ "උපහාරය" ඉහළින්ම වාර්තා කර තිබුණි.

කළුගෙඩි, ලාම්පු තියමුවන්ට එයින්ද අත්වූයේ ඉමහත් පරාජයකි. මේ තත්ත්වය යටතේ උණ්ඩයට උණ්ඩයෙන්ම පිළිතුරු දීමට තීරණය කළ දේශපාලකතුමා තුම්මුල්ලේ පද්මේ නාරාහේන්පිට ලෝකයා ඇතුළු පාතාල ලෝකයේ මෙම කල්ලියට අයත් මැරවරයන් කරන කියන සියලුම දේ ගැන ඉතා විමසිල්ලෙන් පසුවිය.

මෙහිදී එතුමාට තුම්මුල්ලේ පද්මේ ගැන යමක් දැන ගන්නට ලැබිණි. එනම් ඔහු සිය ප්‍රදේශයේ පොලිස් නිලධාරි-යෙක් සමග මුහුණට මුහුණ කළ සටන පිළිබඳවය.

''යකෝ මූ පොලිස් කාරයකුටත් ගැහුව නම් ඉතුරු කරන්න වටින්නේ නැහේ...'' අඩි පොළවට හප්පමින් මෙම ආරංචිය ගෙනා අයට දේශපාලකතුමා ගිගිරුවේය. ''සර්... මිනිහා මේ වෙලාවේ අනිත් පැත්තේ අයගේ රැස්වීමක් තියන්න ස්ටේජ් එකක් ගහනවා. මිනිහට දුන්න නම වැඩක්, රැස්වීමත් කැපේතියි.'' ඔත්තුකාරයා තවත් ඔත්තුවක් දුන්නේය. වහාම පණිවිඩයක් යවා ගෝනවල රංජිට කැඳවූ දේශපාලකතුමා කළ යුතු දේ පිළිබඳව උපදෙස් දුන්නේය.

එදින සැඳෑවේ පොලිස් නිලධාරීන් මෙන් වෙස් වළාගත් ගෝනවල රංජිගේ හටයන් රොත්තක් ජීප් රථයකින් තුම්මුල්-ලේ පද්මේ සිටි නිවස වට කළහ. පොලිසියෙන් පනිද්දී දුවන්න පද්මේ කැමැති නැත. ඔහු ඉදිරියට ආවේය.

''කවුද පද්මේ කියන්නේ.'' හොරා පොලිස් ඇසුවේය. ''මම ඇයි?'' පද්මේ ක්ෂණිකව පිළිතුරු දුන්නේය.

''අඩෝ උඹ අපේ ලොක්කෙක්ටත් ගැහැවලු නේද? මොන අතින්ද ඩෝ උඹ ගැහුවේ...'' එසේ අසමින් පද්මෙගේ දකුණත වැලෙන් අල්ලා ඉහළට එසවූ හොරා පොලිස් බඳපටියේ එල්ලෙමින් තිබූ පිස්තෝලය ගෙන පද්මෙගේ වැලමිටට දෙවරක් වෙඩි තැබුවේය. වෙඩි පහර සමග පද්මේ සිහිසුන්ව ඇද වැටෙද්දී හොරා පොලිස් අහසට වෙඩි කිපයක් තබමින් එතැනින් නික්මුණාහ.

පද්මේ රෝහලට ඇතුළත් කෙරිණ. එහෙත් පසුද ප්‍රති-විරුද්ධ පිලේ රැස්වීම තුම්මුල්ලේ පද්මෙගේ නිවස ඉදිරිපිට දස දහස් සංඛ්‍යාත ජනතාවගේ සහභාගිත්වයෙන් පැවැත්වීමට ඔහුගේ සහචරයෝ සමත් වූහ. දේශපාලකතුමාට එයින්ද අත්වූයේ ඉමහත් පරාජයකි.

පාතාල ලෝකයේ උනුන් ඇනකොටා ගන්නා අන්දමේ පසුබිමක් දේශපාලනය විසින් මනාව සකස් කෙරිණ. පවතින රජයෙන් වාසි බලාපොරොත්තුව සමහර කල්ලි ඔවුන්ට එක්වී කටයුතු කළ අතර, ප්‍රතිවිරුද්ධ නායකයන් සිහසුනට පත් කිරීමට තවත් කල්ලි උත්සුක වූහ මෙ අතර ගම්බද ආශ්‍රිතව බිහිවූ කුඩා මැරකල්ලි ටිකෙන් ටික හිස ඔසවන්නට පටන්

ගත්හ. එවැනි කල්ලිවලින් පසුකලයේදී මෙරට සිහිසුණු ක්‍රියාදාමය සිදුකළ තලංගම කල්ලිය ප්‍රමුඛ පෙළේ තැබිය හැකිය. ඔවුන් තරුණය. වේගවත්ය. දේශපාලන සහ අවි බලය ඔවුනට වඩාත් ලැබෙන්නට පටන් ගත්තේ මුල්කිරිගල සටනින් පසුවය. ගෝනවල රංජිගෙන් ඉටුකරගත නොහැකි වූ සේවා මොවුන් මගින් ඊෂ්ට කරවා ගැනීමට දේශපාලඥයෝ උනන්දු වූහ.

මේ අතර නාරාහේන්පිට මහවත්තේ ලෝකයාගේ මත්ඛිනා සමරේ නිසා පළාතේ මිනිස්සුන්ට නිදහසේ ජීවත්වීමට බැරි තත්ත්වය දවසින් දවස උත්සන්න විය. ඔහු ලෝකයාගේ නම කියමින් කප්පම් ගන්නට පටන් ගත්තේය. කඩවල්වලින් පමණක් නොව අරක්කු, හෙරොයින් විකුණන කොල්ලන්ගෙන්, ගැහැනුන්ගෙන් පවා නිතිපතා කප්පම් ගන්නට පටන් ගත්තේය. අතපය හයිය හත්තිය තිබෙන කොල්ලෝ මේ දෙස බලා සිටියේ ලෝකයා කෙරෙහි කිසියම් ගෞරවයක් ඔවුන් තුළ තිබූ බැවිණි. එහෙත් සැමදා එසේ ඉවසා නොසිටිය හැකි තැනට වැඩ කටයුතු ආරම්භ සිද්ධ විය.

මේ කාලය වන විට ලෝකයා පවා හෙරොයින් මාරයාගේ දූලට අසු වී සිටියේය. චණ්ඩිකම වඩාත් ප්‍රදර්ශනය කර වීමට මේ දිනවල පාතාල ලෝකයේ බොහෝ වැඩකාරයෝ දවසකට රුපියල් එක්දහස් පන්සියයක දෙදහසක කුඩු බීමට පුරුදු වී සිටියහ. දිනක් කාමරයට වී හෙරොයින් බොමින් සිටි ලෝකයාට තවත් කුඩු පැකට් කීපයක් ඕනෑ විය. ළඟ සිටි ගෝලයකුට වහාම හෙරොයින් පැකට් කීපයක් ගෙන එන ලෙසට නියෝග කළේය. නමුත් මුදල් දුන්නේ නැත. ''සල්ලි මොකටද? ලෝකයාගේ නම කියද්දී වෙව්ලනවා නම් මේවත් වැඩද?'' කවුරුත් සිතුවේ එලෙසිනි.

ලෝකයාගේ ගෝලයා එක්තරා තැනකට ගියේය. එතැන හෙරොයින් අලෙවි කරන ලද්දේ ''රම්බෝ'' නැමැති අයෙකි. බටහිර සිනමාවේ රම්බෝ චරිතයට පණ පොවන සිල්වෙස්ටර් ස්ටැලෝන්ගේ රූපකායට කාය ශක්තියට බෙහෙවින් සමාන හෙයින් කවුරුත් මොහු ඇමතුවේ ''රම්බෝ'' යන නාමයෙනි. ''ලෝකයා කුඩු පැකට් හතරක් ගේන්ඩ කිව්වා'' ගෝලයා

රඹබෝට කිවේය. ලෝකයාගේ මස්සිනා නිසා කරදර විඳින
රඹබෝ මෙයින් තවත් කෝපයට පත්වන්නට ඇත.

''ලෝකයා නෙමෙයි මාරයා ආවත් කුඩු දෙන්නේ නෑ
කියපං'' රඹබෝ කිවේය.

''මල්ලී නිකං සවුත්තු වෙන්ඩ එපා'' ගෝලයා පැවසීය.

''සවුත්තු...මලව පලා ගන්නෙ නැතුව පලයං ඩෝ...''
කියමින් රඹබෝ කිතුල් පොල්ලක් අතට ගත්තේය. ගෝලයා
පැන දිව්වේය.

මෙම සිද්ධිය ඔහු විසින් ලෝකයාට පවසන ලද්දේ තව
තවත් 'ගිනි මොලවමින්' කුඩු මරගාතේ සිටි ලෝකයාට එය
පිහියකින් දමා ඇන්නාටත් වඩා වේදනා ගෙන දුන්නේය.

පණිවිඩය ගෙනා එකාගෙම මුහුණට දෙක තුනක් ඇන දමූ ලෝකයා වැක්සියක නැගී තවත් දෙතුන් දෙනකු සමඟ රම්බෝ සොයා ගියේය. ලෝකයාට රම්බෝව මුහුණට මුහුණ හමුවිය.

ලෝකයාගේ ගෝලයෝ රම්බෝ වටකර පහර දුන්හ. ඉන් නොනැවතී කඹයකින් ගැට ගසා නාරාහේන්පිට සිට මහවත්තට ඇදගෙන එන්නටද වූහ. කට්ට දවාලේ දකින්නට ලැබුණ මෙම සිද්ධිය දෙස නාරාහේන්පිට කවුරුත් බලා සිටියේ "ඇනම් රම්බෝ කම්මුතුයි" යන සිතිවිල්ලෙනි. තමාව මෙසේ ඇදගෙන යන්නේ යළි පණ පිටින් ආපසු එවීමට නොවන බව රම්බෝ ද දැන සිටියේය.

මොහොතක පමාවක් ලැබෙනතුරු කරබාගෙන පිරිසට මැදි වී ගමන් කළ රම්බෝ එවැනි අවස්ථාවක් බලා උඩ පැන දෙතුන් දෙනකුට බිම ඇදවැටෙන්නට පා පහර එල්ලකර බැඳ සිටි කඹයද ගලවාගෙන පැන්නේ බටහිර සිනමාවේ රම්බෝ යළිත් මතකයට නංවමිනි. ඒ පැන ගියේ තමාගේ මරුවා බව ලෝකයා එද දැන නොසිටින්නට ඇත.

තවඩී පහරකා සුව වී යළි පැමිණ සිටි තුම්මුල්ලේ පද්මෙට මෙම සිද්ධිය ආරංචි විය. හොඳම වෙලාව එනතුරු ඇඟිලි ගිනිමින් සිටි පද්මේ අනතුරුව කුමන්ත්‍රණය ක්‍රියාත්මක කළේය. ඔහු ගොස් එක්තරා රහසිගත තැනක සැඟවී සිට රම්බෝ හමුවිය ඔහු සමඟ සාකච්ඡා කළේය. ලෝකයා මොලාවින් තුරන් කළහොත් ඒ තැනට පත්වන්නේ වෙනකකු නොව 'රම්බෝ උඹම තමයි' පද්මේ පැහැදිලි කළේය. අන්තිමේදී තමන්ගේ බහට රම්බෝ අවනත කර ගැනීමට පද්මෙට හැකිවිණි.

එදා පසළොස්වක් පොහෝ දිනකි. බොරැල්ල කනත්තේ සොහොන්කොත් සඳ රැසින් බැබළෙමින් තිබිණි. එවැනි එක් සොහොන් කොතකට මුවා වී සිටි පද්මේ සහ රම්බෝ අරක්කු බෝතල් දෙකක් සමඟ ඌරුමස් කිලෝවක් ගිල දමමින් ඇඳුනු වේලාව එනතුරු පසු වූහ. රාත්‍රී දහයට පමණ කනත්තට යාබද අතුරු පාරකින් සංඥාවක් ලැබිණ. ''හරි දැන් පලයං පුතා'' පද්මේ රම්බෝට කීවේය එතෙක් තණ බිස්සේ සඟවා තිබූ අඩි පහක් පමණ දිග කඩුපත අතට ගත් රම්බෝ එය සරම තුළ රුවා ගත්තේය.

ඒ මොහොතේ ලෝකයා සිටියේ සිය පෙම්වතියගේ නිවසේය. ඈ සමඟ ඔවුන්ගේ ලොවේ තනිවූ ඔහු ළඟ එන සිය මරුවා පිළිබඳව ඉඟියකින් හෝ දැන නොසිටියේය. තමන්ද තුරුළු වී පෙම්බස් තෙපලන පාතාල ලෝකයේ නොම්මර එකේ සිය වීරුවා තවත් මිනිත්තු කීපයකින් අවසන් නින්දට වැටෙන බව ඈ පවා දැන නොසිටියාය.

එසේ දැන සිටියා නම් 'දැන් ගොඩක් රෑ වුණා. ඔයා යන්න' කියා ඈ කිසිසේත්ම නොපවසනු ඇත. සිය පෙම්බරියගේ දෙකොපුල හාද්දකින් උණුසුම් කළ ලෝකයා ඉදිරි දොර හැර ගෙන එළියට බැස්සේය. අඩි කීපයක් නුදුරින් පිහිටි කෙසෙල් පඳුර අසළට යද්දී එතැන සැඟවී සිටි රම්බෝ සිය කඩුපත වැරෙන් ලෝකයාගේ හිස මුදුනට එල්ල කළේය. පසුදිනට පහන් වෙද්දී කෙසෙල් පඳුර ළඟ තිබුණේ ලෝකයාගේ මළ සිරුර නොව, මස් ගොඩකි.

පාතාල ලෝකයේ නොම්මර එකේ වැඩ කාරයන්ගේ ලැයිස්තුවේ ප්‍රධාන තැනක් හිමිව තිබූ මහවත්තේ ලෝකයාගේ මරණය කා සිත තුළත් ඇති කළේ දැඩි කුතුහලයකි. ඊයේ පෙරේදා කරදඹු උස්මහත වූ රම්බෝ මෙවැනි බිහිසුණු ක්‍රියාවකට කෙලින්ම සම්බන්ධ නොවන බව මහවත්තේ පමණක් නොව, පාතාල ලෝකයේ කොයි කවුරුත් දැන සිටියහ.

ලෝකයා මියගිය ද ඔහු යටතේ සිටි සහචරයෝ ඉතා සූක්ෂම අන්දමින් මෙම මිනීමැරුම සිදු කිරීමට අනුබල දුන් අනෙකුත් අය කවුරුන්දැයි රහසේම තොරතුරු සොයන්නට පටන් ගත්හ.

මිනීමැරුම සිදුකළ රම්බෝ කෙලින්ම ගොස් නැවතුණේ තුම්මුල්ලේ පද්මෙගේ නිවසේය. මේ අතර ලෝකයාගේ මළගම ඉතා ඉහළින් පැවැත්වීමට කටයුතු පිළියෙල වූණ අතර පාතාල ලෝකයේ විශේෂ රහස් ඒකකයක් මහවත්ත, නාරාහේන්පිට පුරා යොදවනු ලැබිණ.

ලෝකයාගේ මළගමට එන නො එන අය පිළිබඳව වෙන ම ලැයිස්තුවක් පිළියෙල කිරීම ඔවුන්ගේ රාජකාරිය විය. වනාතමුල්ල, මරදන, කොම්පඤ්ඤවීදිය, පිටකොටුව, අලුත් කඩේ, දෙමටගොඩ. ඉඟුරුකඩේ හන්දිය මහවත්ත ආදී පළාත්වල සිය අණසක පතුරුවමින් සිටි කොයි කවුරුත් ලෝකයාගේ මළගමට සහභාගි වූහ. එහෙත් තුම්මුල්ලේ පද්මෙ මළගමට සහභාගි වූයේ නැත. ලෝකයාගේ මරුවා රම්බෝ නොව තුම්මුල්ලේ පද්මෙ බව රහස් ලැයිස්තුව අනාවරණය කළේය.

එම ආරංචිය පාතාල ලෝකය පුරා පැතිර යද්දී එහි කොයි කවුරුත් පද්මෙව ඇසුරු කිරීමට වකිනයක්, බියක්, දැක්වූහ. ''නයා වගේ මිනිහා'' ලෝකයාගේ මරණින් පසු පද්මෙ කොයි කවුරුත් නම් කළේ එලෙසිනි. එම නාමය තවත් තහවුරු කෙරෙන සිද්ධියක් එම වකවානුවේදීම සිදුවිය.

පද්මෙ දිනක් සිය හිතවතුන් කීප දෙනකු සමඟ ටැක්සියකින් ගොතටුවට ගියේය. ගොතටුවේ කසිප්පු ජාවාරම මෙහෙය වූ සිරිල් හමුවූ පද්මෙ තමා යටතේ වැඩ කිරීමට එන ලෙස ඔහුට කීවේය. ''ඒ මොකද මං උඹ ළඟට එන්නේ. ඕනේ නම් උඹත් වරෙන් මගෙත් එක්ක හවුලේ බිස්නස් එක කරන්ඩ'' සිරිල් කීවේය. මෙම කතාව දුරදිග යාමට වැඩි වේලාවක් ගත වූයේ නැත. පද්මෙගේ ගෝලබාලයෝ ටැක්සියෙන් ඇදගත් කඩු පොලුවලින් සිරිල්ගේ පිරිසට පහර දෙන්නට පටන්ගත් අතර සිරිල්ගේ සහචරයෝද කඩුවලින් පද්මෙගේ ගෝලබාලයන් පෙති ගසන්නට වූහ. මෙහිදී කඩු පහරවල් කීපයක් පද්මෙගේ පිට හරහා එල්ල වෙද්දී 'වැඩ වැරදීගෙන එන බව' තේරුම්ගත් ඔහු ගෝලබාලයන් සමඟ ටැක්සියට පැන පළා ගියහ.

මින් ටික දිනකට පසු පද්මෙ සිරිල් පිළිබඳව කතා කරන්නට වූයේ පුදුමාකාර අනුකම්පාවකිනි. සියලු කෝන්තර අමතක කර පරණ පුරුදු මිතුරු කමින් ඇසුරු කරන්නට ඔහු සිරිල්ට යෝජනා කළේය. සිරිල් ඇම ගිල්ලේය.

දවසක් සිරිල් පද්මෙගේ නිවසට ආවේය. දැන් ඔහුට එහි යාමට ඒමට බියක් නැත. ඔහු සිතුවේ පද්මෙ තමා සහෝදරයකු වගේ ඇසුරු කරන බවකි. සිරිල්ව පිළිගත් පද්මෙ ගල් අරක්කු බෝතලයක් ටීපෝව මත තැබුවේය. ආගිය තොරතුරු චන්ඩිකම් ආදිය ගැන කතා කරන්නට වූහ. අරක්කු බෝතලේ අන්තිම බිංදුවත් දෙකට බෙදා ගෙන පානය කොට අවසානයේදී හිස් බෝතලය අතට ගත් පද්මෙ එහි අඩිය පොළවේ ගසා බිඳ හැකි වෙර යොදා උල් බෝතල් කටු සහිත ඉතිරි කොටස සිරිල්ගේ බඩ තුළට ඇතුළු කළේය. ඉන් නොනැවතී බෝතලය වටයක් දෙකක් කරකැවීය.

උල් බෝතල කටු 'චිරි චිරි' හඬින් කැලි කැලිවලට කැඩී සිරිල්ගේ කුස තුළ තැන්පත් විය. මාස හයකටත් වැඩි කාලයක් රෝහල් ගතව සිටි සිරිල් පෙරළා ගෙදර ආවේ සදාකාලික රෝගියකු වශයෙනි. ඔහුට පෙර මෙන් ඇඟපත වෙහෙසා වැඩක් පොළක් කළ නොහැකි විය. ඒ තරමට හතියකින් පෙලුණේය. ඔහු විසින් මෙහෙය වූ සියලුම ජාවාරම පද්මෙ යටතට පැවරෙද්දී කිසිවක් කර කියා ගත නොහැකිව අසරණ අඩියට වැටුණු සිරිල්ට යළිත් කතා කළ පද්මෙ ඔහුට සිය හෝටලයේ කෝකියකු වශයෙන් වැඩ කරන්නට ඉඩ සලසා දුන්නේය.

පාතාල ලෝකයේ 'වැඩ කාරයකුගේ' නැඟීම සහ වැටීම සිදුවූයේ එලෙසිනි. මෙම සිද්ධිය ද දැන ගැනීමට ලැබීමෙන් අනතුරුව ලෝකයාගේ මරණින් පසු කවුරුත් පද්මෙව අතේ දුරින් ඇසුරු කරන්නට පටන් ගත්තේ නයකුගේ පළි ගැනීම වැනි ස්වරූපයක් ඔහු තුළ තිබූ බැවිනි. ලෝකයා මරු කටට කැඳවාගෙන ගිය ඔහුගේ මඤසිනා වූ සම්රේ ලෝකයාගේ මරණින් පසු පැදුරටත් නොකියා ගමෙන් පැන ගියේය. දෙවෙනි ඉලක්කය තමා බව ඔහු දැන සිටින්නට ඇත. මේ අතර ටික දිනකට පසු මහවත්තට එන්නට යන්නට පටන්ගත්

රැම්බෝ වැඩි දිනක් යාමට මත්තෙන් මහවත්තේ වීරයා බවට පත්විය. මහවත්තේ ලෝකයාට හිමි වී තිබුණ නැන දිනා ගැනීමට වැඩි දවසක් රැම්බෝට ගත නොවීය.

එහෙත් රැම්බෝ ගේ හිතට කිසි සැනසිල්ලක් නොවිණි. ලෝකයාගේ මස්සිනා සමරේ පැමිණ කොයි මොහොතක හෝ තමා මරා දමනු ඇතැයි ඔහු තුළ දැඩි බියක් පැවතිණ. කෙසේ හෝ සමරේ සැඟවී සිටින තැන දැන ගෙන ඒම සඳහා විශේෂ ඒකකයක් රැම්බෝ විසින් පිහිටුවන ලදී.

මේ අතර දේශපාලන ඡන්ද උණුසුම රටපුරා පැතිර යද්දී අලුතින් බිහිවූ තලංගම කල්ලිය ටිකෙන් ටික හිස ඔසවන්නට පටන් ගත්තේය. බලවත් දේශපාලන පක්ෂයකින් ඔවුනට විශාල වශයෙන් උදව් පදව් ලැබිණ. අලුත්ම පිජිටර් දෙසියක් ඔවුන් අතට පත්විය. ඒවා මුළු ආසනයේ ඔවුනොවුන්ගේ හිතවතුන් අතරේ බෙදා හැරිණ.

තුවක්කු අතට ගත් ඔවුහු නවීන පන්නයේ රථ වාහනවල නැගී ආසනය පුරාත්, අවට ගම්දලත් රෑ දවල් නැතිව සැරි සරන්නට පටන් ගත්හ. විරුද්ධ පක්ෂවලට උදව් පදව් කරන පාතාල ලෝකයේ ජ්‍යෙෂ්ඨයන්ට ද හිටිහැටියේ තර්ජන ගර්ජන කළහ. මීට වඩාත් ලක්දූයේ තුම්මුල්ලේ පද්මේය. හිටි හැටියේ ඔහුගේ නිවස අසල පාරේ වාහන නතර කර අහසට වෙඩි තබා 'ඩප්පි' (කුඩා බෝම්බ) කීපයක් පුපුරවා හැර යාමට තලංගම කල්ලිය පුරුදු විය. මෙය පද්මේට මහ හිසරදයක් වන්නට පටන් ගත්තේය. එපමණක් ද නොව සිය අයෝමය කීර්තිය මෙයින් තුච්ඡ දෙකට වැටෙන බව ඔහුට තේරුම් ගියේය.

''මෙහෙම යන්ඩ දෙන්ඩ බෑ. වැඩි දවසක් යන්ඩ ඉස්සෙල්ලා මුන් තුන්හතර දෙනෙක්ව නැති කරලා දමන්න ඕනේ'' පද්මේ සිය හිතවත් සගයකුට කීවේය. ඒ අනුව නවත් කුමන්ත්‍රණයක් ක්‍රියාත්මක වන්නට පටන් ගත්තේය.

මේ අතර මිය ගිය ලෝකයාගේ මස්සිනා ඉන්න තැන සෙවීමට පත්කළ 'රැම්බෝ යූනිට් එක' අගනා ආරංචියක් ගෙන ආවේය.

ආරංචිය අනුව මොහොතක්වත් පමා නොවුණු රම්බෝ ඇතුළු පිරිස එදිනම දහවල් අවි ආයුධ වලින් සන්නද්ධ වී කිරිබත්ගොඩට ගියේය. ඔත්තුව ගෙන ආ පුද්ගලයාගේ මඟ පෙන්වීම ඔස්සේ එක්තරා නිවසක් අසලට පැමිණ ටැක්සියේ දෙර පලු හතරම ඇරගෙන පිස්තෝල එල්ල කර ගෙන පිරිස ගේ ඇතුළට කඩා පැන්නහ. ඒ අවස්ථාවේ දී ලෝකයාගේ මස්ඩිනා සමරේ සිය දහවල් බත්පත කමින් සිටියේය. කන්න බොන්නදී මරා දමන සිරිතක් පාතාල ලෝකයේ නැත. සතර වටින් එල්ල වූ වෙඩි වරුසා වලින් බේරීමට සමරේට ඉඩක් නොලැබිණ. තත්පර දෙක තුනකින් සමරේගේ හිස සිසිකඩව පුපුරා ගියේය.

සමරේගේ මරණය 'ඇඩ්රස් නැති මර්ඩර්' එකක් වශයෙන් පාතාල ලෝකයේ ප්‍රසිද්ධ විය. මිනිමැරුම සිදු කිරීමට පැමිණි අය කවුද කොහෙන්ද කියා කීමට කිසිවකු නොදන සිටීම 'ඇඩ්රස් නැති මර්ඩර්' වශයෙන් හඳුන්වනු ලැබේ.

සමරේගේ මිනිය පවා මහවත්තට ගෙන නොඑන ලෙසට රම්බෝ නියෝග නිකුත් කිරීම නිසා එය කොළඹින් සැතපුම් සිය ගණනක් ඈතක වෙසෙන සමරේගේ ඥතියකු විසින් ගෙන යන ලදී. තමන්ට අභියෝගයක් විය හැකි යැයි සිතූ එකම පුද්ගලයාද මළවුන් අතරට යැවූ රම්බෝ අනතුරුව තමන්ගේ වැඩක් පොළක් කරගෙන සැනසිල්லේ ජීවත්වීමට සිතුවේය. එහෙත් එය සිහිනයක් විය.

මේ අතර තලංගම කල්ලියට ප්‍රහාරයක් එල්ල කිරීමට තුම්මුල්ලේ පද්මේ ප්‍රමුඛ පිරිස තීරණය කළහ. මේ සඳහා අවශ්‍ය අවි ආයුධ කිහිපයක් රම්බෝ විසින් ලබා දෙන ලදී. එහෙත් දේශපාලන ශක්තිය තමන්ට වඩා තලංගම කල්ලියට තිබී තිබීම සැලකිල්ලට ගත් පද්මේ මුලින්ම තම ශක්තිය තහවුරු කර ගැනීම සඳහා අවශ්‍ය පසුබිම සකස් කර ගැනීමට උනන්දු විය.

මැර බලය පෙන්වීමට නම් හිටි හැටියේ ප්‍රහාරයක් එල්ල කළ යුතු බවට තීරණය කෙරිණි. දිනක් රාත්‍රී නවයට පමණ පද්මේ ප්‍රමුඛ පිරිසක් ටැක්සි තුනකින් තලංගම හීනටිකුඹුරට

කඩා වැදුනහ. තමාට අභියෝගයක් වූ පිරිසකගේ නායකයා වන විලීගේ නිවස අසලට ගිය පද්මේ ප්‍රමුඛ පිරිස බෝම්බ ගසා වෙඩි තබා මුළු ප්‍රදේශයම නොසන්සුන් කළහ.

එපමණකින් නොනැවතුන පද්මේ විවෘත අභියෝගයක් කළේය. "වරෙව් යකෝ...... තොපිට රිපීටර් දුන්නා. අරන් වරෙව්... කොයිද රිපීටර් ද අපේ බෝම්බ ද පත්තු වෙන්නේ කියලා බලන්න වරෙව්... අඩෝ විලී... අතපය උස් මහත් වුණාට තොට බෑ යකෝ තුම්මුල්ලේ පද්මේ එක්ක හැප්පෙන්ඩ- එත් පුලුවන් නම් වරෙව්... මේ උඹේ ගම..."

මාරාවේශයෙන් මෙන් දෑතට බෝම්බ ගෙන මුළු පළා- තටම ඇහෙන්න ගෝරනාඩු කළ පද්මේ ඒ බෝම්බ දෙකද තාර පෙළවේ ගසා දමා ටැක්සියේ නැගී පිරිස සමඟ නික්මුණාහ.

මෙම සිද්ධිය අඩන්න හිටිය එකාගේ ඇහැට ඇඟිල්ලෙන් ඇන්න වගේ දෙයක් විය. තමා නැති මොහොතක ගමට කඩා වැදී ගේ ළඟ බෝම්බ ගසා අභියෝග කර ගිය පද්මේ මරුවිකල්ලෙන් දඟලන බව විලී තේරුම ගත්තේය. එහෙත් ඉක්මන් නොවිය යුතු බව ඔහු දැන සිටියේය. පාතාල ලෝකයේ තමාට වඩා ප්‍රවීනයන් ඇසුරු කරන පද්මේ උගුලට අසුකර ගැනීම ඉතා සීරුවෙන් කළ යුතු වැඩක් බව වටහා ගත්තේය. විලී සිය සගයන් වූ සැමී සහ ගයි සමඟ එකතු වී පද්මේ කුඩු කර ගැනීමට ඕනෑ කරන සැලසුම ක්‍රමානුකූලව සකස් කරන්නට පටන් ගත්තේය.

මේ දිනවල කුලියට මිනී මරණ කොන්ත්‍රාත් එක දිගට පාතාල ලෝකය වෙත ගලා එමින් තිබිණ. දිනක් රම්බෝ පද්මෙව සොයා ගෙන ආවේය. 'කන්ට්‍රැක් එක ලක්ෂ හතරයි. දෙමුද පාං?' රම්බෝ පද්මෙගෙන් ඇසුවේය.'මොකක්ද වැඩේ' පද්මේ ඇසුවේය. "ආණ්ඩුවේ ලොක්කෙක්ට ඕනෑ වෙලා තියෙන වා මිනිහට ඇඩ්‍රැක් කරන එයාගේම පිලේ කෙනෙක්ගේ පුතෙක් නැති කරන්ඩ. මොකද කියන්නේ?" රම්බෝ යළි ඇසුවේය.

පද්මේට අතීතයේ සිදුවීමක් සැනෙකින් මතකයට ආවේය. ශෞරා පොලිස් පැමිණ තමන්ගේ දකුණතට වෙඩි තබා ගිය අන්දම සහ එය සිදු කිරීමට නියෝග කළ දේශපාලනඥයා පිළිබඳව ඔහුට මතක් විය. පළියට පළිය ගැනීමට කදිම අවස්ථාවකි.'දෙමු වැඩේ, හැබැයි මේකට ඉඟුරුකඩේ හන්දියේ ගුණේගේ 'සපෝට්' එක ගන්ඩ වෙනවා.'' පද්මේ කීවේය.

එදිනම සවස රම්බෝ, පද්මේ දෙදෙනා ඉඟුරුකඩේ හන්දියේ ගුණේ හමුවී සාකච්ඡා කළහ. කොන්ත්‍රාත්තුව ක්‍රියාත්මක කරන පිළිවෙල පිළිබඳව තුලට තිතට වැඩ සටහන සකස් කර ගත් පිරිස අනතුරුව ගණන් හිලව් කතා කර ගැනීමෙන් පසු විසිර ගියහ.

දේශපාලනඥයාගේ ඥාතියා ඝාතනය කිරීමට අවශ්‍ය පසුබිම සකස් කිරීම සහ ඒ සම්බන්ධයෙන් ඔත්තු බැලීම ඉහුරු කඩේ හන්දියේ ගුණේට භාර කළ තුම්මුල්ලේ පද්මේ ලෙම්බෝගෙන්ද සමුගෙන එදින රාත්‍රියේ රාජගිරියට පැමිණියේය. ඒ ඉතා අත්‍යාවශ්‍ය කටයුත්තකටය.

පද්මේ සතුව තිබුණේ ටැක්සියක් සහ ත්‍රීවිල් රථ කීපයක් පමණි. මෙම වාහනවලින් ගොස් මිනිසුන් පරලොව යවා තමාට යහතින් පැමිණීමට නොලැබෙන බව ඔහු ඉඳුරා දැන සිටියේය. 'මීට වඩා හොඳයි මැස්සිනා බරකරත්ත වලින් ගිහින් වැඩ දීලා එන එක' වරක් ඔහු මිතුරකුට කීවේය.

ඒවාගේම තලංගම අලුත් කල්ලිය සතුව තිබූ පැජරෝ, ඩෙලිකා වාහන සමඟ තමාගේ ත්‍රීවිල්වලට 'හැරෙන්නටවත්' බැරි බව පද්මේ දැන සිටියේය. රාජගිරියට පැමිණි පද්මේ එහිදී එක්තරා පුද්ගලයකු මුණ ගැසුණේය.

''මට ඩෙලිකා ජාතියේ වෑන් එකක් ඕනේ. තලංගමට වැඩේ දෙන්ඩ සල්ලිවලටම ඩෙලිකා එකක් ගන්ඩ ඕනේ.'' ඔහු කීවේය.

''රයිට්, බඩුවක් තියෙනවා. හැබැයි මිනිහට සල්ලි නොමෙයි ඕනේ. පිස්තෝලයක්' මිතුරා කීවේය. 'ඒ මොකටද?' පද්මේ කුතුහලයෙන් ඇසුවේය. 'දන්නැද්ද. මෝස්තරේටනේ' මිතුරා කීවේය.

''යකෝ හැම එකාගෙම අතට තුවක්කු පිස්තෝල ලැබුණොත් අපිට වැඩි කාලයක් ඉන්ඩ හම්බ වෙන එකක් නැතේ'' පද්මේ කෝපයෙන් ගෙරෙව්වේය.

''ලොක්කගේ වැඩේට ඕනේ ඩෙලිකා එකක්නේ. මම දෙන්නම් හැබැයි ගනු දෙනුවට පිස්තෝලයක් ඕනෙමයි.'' හිතවතා තරයේ කියා සිටියේය.

තලංගම තර්ජනවලට මුහුණ දීම සහ දේශපාලනඥයාගේ ඥාතියා පරලොව යැවීම සඳහා 'පටස්' ගාලා ස්ටාට් වන ලැල්ලට පාගලා යා හැකි වාහනයක් ඕනෙමයි. මේ අවස්ථාවේදී තමාට පිස්තෝලයකට වඩා ඩෙලිකා රථය වටින බව පද්මේ නිගමනය කළේය. සිය ඉලක්කය සපුරා ගැනීම පිණිස පසු දිනම පද්මේ තමන් සතුව තිබූ රුපියල් තිස්දහසක් පමණ වටිනා පිස්තෝලය මිතුරා අතට පත් කළේය. එදිනම සවස කොළපාට ඩෙලිකා රථය පද්මෙගේ නිවස අසලට ගෙනැවිත් නතර කෙරිණි.

පසුදිනට එළිය වැටෙද්දීම රාජගිරියේ මිතුරා පද්මෙව සොයාගෙන කඩිමුඩියේම පැමිණියේය. 'ඇයි මොකද?' පද්මේ ඇසුවේය. ''මාර ජල්කරයක්නෙ ලොක්කා වෙලා තියෙන්නේ. අර යකා තමුසෙගේ පිස්තෝලෙන් ඊයේ රෑ වෙඩි තියාගෙන මැරිලනේ.''

''ඇයි යකෝ... දැන් ඔක්කොම ප්ලෑන් අප්සට් ගහන-වනේ. පිස්තෝලෙ කාගෙද? කියද් ද ගත්තේ ...ඕවා හොයාගෙන පොලිසිය මෙහාට පැන්නම මදි ත් කූඩුවේ ලගින්ඩ වෙයිනෙ'' පද්මේ කෝපයෙන් කෑ ගැසුවේය.

''හරි හරි ලොක්කා.. පොඩ්ඩක් අහන්ඩකෝ කතන්දරේ. මේ යකාගේ ගෑනි මිනිහව දාල වෙනින් එකෙක් එක්ක පැනලා ගිහිල්ලා. වහකාලා මූදෙ පැනලා, බෙල්ලේ වැළලාගෙන මැරෙන එක මහ වේදනාවක් නිසා මගේ පිස්තෝලෙන් වෙඩි තියාගෙන මැරෙනවා' කියලා මිනිහා ලියුමකුත් ලියලයි මැරිලා තියෙන්නේ ඔයා ලේප් දැන් බයක් නෑනේ.'' මිතුරා කීවේය. සීතල වී තිබුණ පද්මෙගේ ඇඟට ලේ උනන්නට පටන් ගත්තේ ඉන් අනතුරුවය.

මෙම කාලයේදී තලංගම කල්ලියට කොළඹ ඉහළ පෙළේ ධනකුවේරයන් දෙදෙනකු ඇසුරු කරන්නට ලැබිණ. ඔවුන්ගේ ඇසුර පමණක් නොව, බොහෝ අවස්ථාවලදී 'බොඩි ගාඩ්ලා' වශයෙන්ද සේවය කරන්නට තලංගම කල්ලිය කැඳවිය.

රුපියල් දහස් ගණනින් පඩි නඩි පමණක් නොව, අලුත්ම ය න වාහා ද සපයනු ලැබීය. මෙ අතර තමන් හා මුහුණට මුහුණ සටන් කිරීමට පද්මේ ඩෙලිකා වර්ගයේ වෑන් රථයක්ද මිල දී ගෙන ඇති බව ඔවුනට දැන ගන්නට ලැබිණ.

පද්මේ පිළිබඳව සහ ඔහු හොර අරක්කු ජාවාරමෙන් උපයන ආදයම පිළිබඳව තලංගම කල්ලිය විසින් මෙම ධන කුවේරයන්ට දැනුම් දෙන ලදී. මොහු විනාශ කළහොත් ඒ සියලුම ජාවාරම් තමන් අතට ගත හැකි බව ඔවුහු ව.ඩිදුරටත් මෙම ධනවතුනට පෙන්වා දුන්හ. 'හැබැයි සර්...එක ප්‍රශ්නයක් තියෙනවා. මේ යකා අපේ ගැන්සියේ ඔක්කොම දන්නවා. අලුත්ම මුණක් තමයි වැඩේට යවන්ඩ ඕනේ ''හිනටිකුඹුර විලී (තලංගම කල්ලියේ නායකයා) අලුත් කඩේ පත්තිනි චාල්ස්ට කිවේය.

අලුත්කඩේ පත්තිනි චාල්ස් විශාල ධනවතෙකි. දේශපාලනඥයන්ගේ ඉතා සුවච කිකරු සුරතලකු ලෙස හැඳුන වැඩුණ මොහු සතුව සමාජ ශාලා තිබිණ. තමාගේ සිත්ගත් කිසියම් ගැහැනියක් වේ නම රුපියල් ලක්ෂ ගණනක් හෝ ගෙවා ඇගේ උණුසුම් ලැබීමට මෙම කෝටිපතියා මැලි වූයේ නැත. වරක් ඔහු සිය වීඩියෝ ඩෙක් යන්ත්‍රයෙන් හින්දි චිත්‍රපටයක් නාඹමින් සිටියේය. එහි ඉතා රුමත් තරුණියක් සහය නිළියක වශයෙන් රඟපෑවාය. ඇගේ අයස්කාන්ත රූපසභය නිළියක වශයෙන් වශීකෘත වූ පත්තිනි චාල්ස් නමැති මෙම ධනකුවේරයා එම නිළියට පසුදිනම දුරකථනයෙන් කථා කළේය. ඇගේ රඟපෑම පිළිබඳව මහා ඉහළින් වර්ණනා කළ මොහු තමාගේ වියදමින් ශ්‍රී ලංකාවට පැමිණ විනෝද සුවය විඳීමට ආරාධනා කළේය.

හින්දි නිළිය එම ආරාධනාව හිස් මුදුනින් පිළිගත්තාය. සතියක් ඇතුළතදී ඇගේ සංචාරයට අදාළ කටයුතු සකස් කෙරිණ. ඇය සඳහාම මුදල් ගෙවා වෙන් කළ කුඩා ගුවන් යානයකින් මදුරාසියේ සිට මෙම රුමත් නිළිය ශ්‍රී ලංකාවට ගෙන්වා ගත්තේය. අවශ්‍ය තෑගි බෝග යාන වාහන සියල්ලක් සමඟ මුදලින් ද තෑගි පිරිනමමින් සුවිශාල මැදුරක පත්තිනි චාල්ස් සතියක් ඇයත් සමඟ වාසය කළේය.

සිතුවොත් යමක් කරන පත්තිනි වාල්ස්ට පද්මෙ වැනි මිනිහෙක් පරලොව යැවීම ඒ හැටි වැඩක් නොවේ.

දිනක් සවස පද්මෙ සිය මිතුරන් කිප දෙනෙක් සමඟ වෙවැල් බෝලයකින් 'රාග' සෙල්ලමේ යෙදී සිටියේය. එවිට වෙලාව සවස 5 ට පමණ ඇත. මෝටර් සයිකලයක ඇන්ජිම වේගවත් කරන හඬක් දිගින් දිගටම ඇසුන පද්මේ සෙල්ලම නවතා ඒ හඬ ගැන විමසිලිමත් විය. මහපාර අද්දර තමාගේ නිවසට යාර කිපයක් ඈතින් මෝටර් සයිකලයක් නවතා ගෙන එක් අයෙක් එහි කිසියම් අලුත්වැඩියාවක් කරන අන්දම පත්මේ දුටුවේය. කළුපාට හෙල්මට් එකක් පැළඳි අනෙකා පද්මේ ඉදිරියට සෙමින් සෙමින් ගමන් කරමින් සිටියේය.

කොටියකුට බඳු තියුණු ඉවක් ඇති පද්මෙට කිසියම් අනතුරක් තමන් වෙත ළඟා වෙමින් තිබෙන බව දැනුණේය. හෙල්මට්කරුවා සාක්කුවට අත දම්මේය. ඒ සමඟම පද්මේ තමන්ගේ බඩතුරේ සඟවා තිබූ පිස්තෝලය එළියට ඇද හෙල්මට්කරුට වෙඩි පිට වෙඩි තැබුවේය. හෙල්මට්කරුවා මරලතෝනි දෙමින් බිම ඇද වැටෙද්දී අනෙකා මෝටර් සයිකලයට පැන සැනෙකින් ඉගිලි ගියේය.

පද්මෙව මරා දැම්මට එවා තිබුණේ පත්තිනි වාල්ස්ගේ කිට්ටුම ඥාතියෙකි. එහෙත් කුරුමානම වැරදී ගියේය. වෙඩි උණ්ඩ හතරක් ශරීරගත වූ මිනීමරුවාට රෝහලේ සති ගණනක් තපින්නට සිදුවිය.

පත්තිනි වාල්ස්ගේ ප්‍රධාන පෙළේ මැරවරයකුට පද්මේ වෙඩි තැබූ බව පැය ගණනක් ගත වන්නට මත්තෙන් පාතාල ලෝකය පුරා පැතිරී ගියේය.

## දේශපාලන සුළි සුළඟින් පාතාල ලෝකය කැළඹෙයි.

මහවත්තේ ලෝකයා මරා දමමින් මෙරට පාතාල ලෝකයේ රජවන්නට පෙරුම් පුරන පද්මේ අතින් තවත් එවැනිම කෙරුම්කාරයකුගේ ඥාතියකු වෙඩි කෑම පාතාල ලෝකයේ කා තුළත් ඇති කළේ බලවත් පුදුමයකි. එපමණක්ද නොව, පද්මේ යන නාමයට මොට ප්‍රධාන පෙළේ දමරිකයන් සියලුම දෙනා ගෞරවයක් දක්වන්නට පටන් ගත්හ.

ඔහුට ගිය ගිය තැන මහ ඉහළින් සලකන්නට පටන් ගත්හ. නමුත් මෙම වෙඩි තැබීම පිටුපස කිසිවකු නොදැන සිටි රහස් සැලසුමක් ද තිබිණ. මෙම සැලසුම මෙහෙයවනු ලැබුවේ ද තලංගම විලී ප්‍රමුඛ කල්ලිය විසිනි. පද්මේ මරා දැමීමට පත්තිනි වාල්ස් සමඟ සැලසුම සකස් කළ ඔවුහු මිනීමැරුම සිදුකරන අන්දම, දිනය සහ වේලාව පමණක් නොව, එය සිදු කිරීමට පැමිණෙන පුද්ගලයන්ගේ හැඩරුව ද පද්මේ වෙත රහසිගතව ලැබෙන්නට සැලසූහ. මෙම ආරංචිය පද්මේට ගෙන ආවේ පාතාල ලෝකයේ සගයකු විසිනි. නමුත් මෙම මිනීමැරුම තලංගම කල්ලියේ ඕනෑකම අනුව සැලසුම් කළ එකක් බව ආරංචිය ගෙනා අය පවා දැන නොසිටියේය.

පත්තිනි වාල්ස් පවා මෙම දෙපිට කාටවු වැඩේ දැන නොසිටියේය. තලංගම කල්ලියට අවශ්‍ය වූයේ පද්මේගේ බලය බිඳීම සඳහා තවත් එවැනිම එකකු ඇමක් වශයෙන් යෙදවීම පමණි. ඌරෝ කැකුණ තලන විට හබන් කුකුළන්ට රජ මඟුල්ය කීවා සේ තමන්ගේ පාඩුවේ සිටි පත්තිනි වාල්ස් මෙම ඝාතන සැලසුමට යොමු කරවා පද්මේ සහ වාල්ස් අතරේ නොසන්සිඳෙන වෛරයක් ඇති කරවා ඉන් මහඟු ප්‍රතිඵල ලැබීමට තලංගම කල්ලිය පසු කාලයකදී සමත් විය.

තමන්ගේ භාගියා වේඩිකා පැමිණීමත්, පද්මේගේ කීර්තිය දවසින් දවස පාතාල ලෝකය තුළ පැතිරෙන්නට පටන් ගැනීමත් පත්තිනි වාල්ස්ට ඉවසුම් නොදෙන තරම් විය.

මේ අතර දිනක් රම්බෝ පද්මේ සොයා ආවේය. 'මචං... ඔක්කොම හරි. අරයට වැඩේ දෙන්න ඔක්කොම සෙට් කරලා තියෙන්නේ. මට ඊයේ ඉඟුරු කඩේ හන්දියේ ගුණේ ගෙන් පණිවිඩේ ආවා ඉක්මනට ඇවිල්ලා එයා මුණ ගැහෙන්න කියලා...' රම්බෝ කීවේය. එදිනම සවස රම්බෝ සහ පද්මේ ඉඟුරු කඩේ හන්දියේ ගුණේ මුණ ගැසුණහ.

මෙම කාලයේ දී ශ්‍රී ලංකාව එකම ගිනි ජාලාවකි. ජනතා විමුක්ති පෙරමුණ විසින් මරා දමූ බව කියන ඝාතන ලැයිස්තු රජයේ මාධ්‍ය මඟින් ප්‍රකාශයට පත් වෙද්දී තවත් නොහඳුනන කල්ලි විසින් සිදුකළ අමානුෂික මිනිස් ඝාතන විපරෝධාකල්ප මාධ්‍ය මඟින් ප්‍රකාශ කෙරිණ. තැනින් තැන ටයර් මත දැවෙන සිරුරුය. ගඟේ මුහුදේ තරුණ මළ සිරුරු පා නොවන දිනයක් නොමැති තරම් විය. කුඩා වන රොදවල සතුන් කා දැමූ තවත් මළ සිරුරුය. මහ දවල් මහ පාරේ ගමන් කිරීමත් උනතුරු-දයක විය. හිටි හැටියේ නැවතන පැජරෝ වාහනවල පටවා ගෙන තරුණයන් බුරුතු පිටින් පැහැර ගෙන යන්නට විය. තවත් තැනක මහ දවාලේ වෙඩි පිට වෙඩි තබා සුප්‍රසිද්ධ පුද්ගලයන් මරා දමූහ. මේවා කවුරු විසින් කාගේ උපමනාවට කරන ලද ඒවාදැයි ජනතාව නොදන සිටියද කොයි කවුරුත් ජීවත් වූයේ ජීවිතය පිළිබඳ ආශාව අතහැර දමාය.

මෙම බිහිසුණු වාතාවරණය මැද මෙරට මහ මැතිවරණයද පවත්වන්නට කටයුතු යෙදී තිබිණ. එකාපිට එකා මැරී වැටුණත් දෙපැත්තෙම පිරිස් මැතිවරණ ප්‍රචාරක වැඩ කටයුතු-වල යෙදුනහ. දෙපැත්තටම මැරවර බලය අඩු නැතිව තිබී තිබිණ. ටිපිටර් තුවක්කු රැගත් මැරවරයො පැජරෝ ජීප්වල නැඟී ලැයිස්තු අනුව මිනිසුන් මරා දමන්නට වූයේ බල්ලන් බළලුන් මෙනි.

මෙම බිහිසුණු වාතාවරණය දේශපාලනඥයන් සහ ඔවුන්ගේ අනුගාමිකයන් කුටටුවකටවත් ගණන් නොගත්තා පමණක්

නොව, බල අරගලයේ ජයග්‍රහණය පතා තමන්ගේ එවුන් බිල්ලට දීමට පවා ඔවුහු පසුබට නොවූහ. එවැනි එක් බිල්ලක් ගැනීමට නියමිත කාලය පැමිණෙන තුරු ඇඟිලි ගනිමින් සිටි පද්මේට සහ රම්බෝට ඉහළින් ලැබුණ උපදෙස් අනුව දේශපාලනඥයාගේ ඥාතියා මරා දමන දිනය සහ වේලාව ඉහුරු කඩේ හන්දියේ ගුණේ හමු වී තීරණය කර ගත්හ.

මෙම ඝාතනය සඳහා ඔවුන්ට අවිශ්‍ය ආයුධ ද ලැබිණ. එද රැස්වීම් කිපයක් අමතා ඔල්වරසන් හඩ මැද්දේ මල්මාලා පැළඳ ගෙන දේශපාලනඥයාගේ ඥාතියා සිය වාහනයෙන් මිතුරන් ද පිරිවරා ගෙන පැමිණෙමින් සිටියේය.

ඔවුන් ගමන් කළ පාරේ රේල් ගේට්ටුවක් තිබිණ. ගුණේගේ සහචරයෙක් රේල් ගේට්ටුව මුර කරමින් සිටි පුද්ගලයා අතට මුදල් නෝට්ටුවක් දී අවාලට කන්නට මොනවා හෝ ගෙන එන ලෙස කීවේය. එම වෙලාවේ පැමිණෙන්නට කෝච්චියක් නොමැති නිසා මුරකරුද ඊට එකඟ වී හන්දියේ හෝටලයක් කරා යන්නට ගියේය.

ඈත පැමිණෙන රථ කිපය දුටු මැරවරයා රේල් ගේට්ටුව වසා දැම්මේය. තත්පර කීපයකින් රථ පෙළ රේල් ගේට්ටුව අසලට ළඟා විය. මැරවරයා සිය කමිසය යටින් අත දමා ඉන අත ගාමින් රථ පෙළ දෙස බලා සිටින්නට විය. ඔහුගේ ඉනේ අලුත්ම පිස්තෝලයක් විය. මෝටර් රථයේ ඉදිරිපස අසුනේ වම පැත්තේ අසුනට බරවී සිටි දේශපාලනඥයාගේ ඥාතියා කවුළුවෙන් එළියට හිස දමා මැරවරයා සමඟ සුහදව සිනාසුනේය.

හැනෙකින් තවත් රථයක් වේගයෙන් පැමිණ මෝටර් රථයට පිටුපසින් ඉදිරියට ගෙන නතර කළේය. ඒ පද්මේගේ කොළපාට ඩෙලිකා රථයයි. ඒ තුළ පද්මේ රම්බෝ සහ තවත් දෙදෙනෙක් වූහ. ඊළඟ තත්පරයේදී ඩෙලිකා රථයේ දොරවල් ඇරගෙන එළියට පැන්න මැරවරයෝ දේශපාලනඥයාගේ ඥාතියාට සහ ඔහු සමඟ සිටි පිරිසට වෙඩි වරුසාවක් එල්ල කළහ.

ඒ අතරේ රේල් ගේට්ටුව විවෘත විය. මහ දවල් මහ පාර මැද අමු අමුවේ හතර දෙනෙකු මරා ලේ ගංගාවක් ගලා යන්නට සැලැස්සූ මැරවරයෝ මෝටර් රථයේ නැගී පවනට බඳු වේගයෙන් පලා ගියහ.

පැය භාගයකින් පමණ ඔවුහු මහවත්තට පැමිණියහ. පැය එකහමාරක් පමණ ගත වෙද්දී ගුවන් විදුලියෙන් මෙම ඝාතනය පිළිබඳ රටට අනාවරණය කෙරිණ. අවිගත් ජනතා විමුක්ති පෙරමුණේ මිනීමරුවන් විසින් මෙම ඝාතනය සිදුකරන ලදැයි ගුවන් විදුලියෙන් ප්‍රචාරය වෙද්දී එම පෙරමුණට සම්බන්ධයක් නැති රම්බෝ සහ පද්මේ ඇතුළු කිප දෙනකු ගල් අරක්කු බෝතල් කීපයක් හිස් කරමින් සිටියහ. ටික වේලාවක් ගත වෙද්දී පැජරෝවක් පැමිණියේය. එහි සිටියේ මෙම ඝාතන කොන්ත්‍රාත්තුව භාරදුන් අයෙකි. අලුත්ම රුපියල් සියයයේ කොළවලින් රුපියල් ලක්ෂ හතර රම්බෝ අතට පත් කළ ඔහු ''හෙට අනිද්දා තවත් වැඩක් තියෙනවා. බොස් ඔය ගොල්ලෝ ගැන ගොඩක් බලාපොරොත්තු තියා-ගෙන ඉන්නේ......'' කියමින් පුංචි අවවාදයක් ද කරමින් යන්නට ගියේය.

මෙම දිනවල මිනීමරුවන් පසුපස පන්නනන්නට පොලිස් හමුදාව මදිවන්නට ඇත. රටේ සිදුවූ සෑම මිනීමැරුමක්ම ජනතා විමුක්ති පෙරමුණ පිටින් හෝ වෙනත් අවිගත් සංවිධානයක් පිටින් ගියේය. එහෙත් පාතාල ලෝකයේ කල්ලි මේ කිසිවකට සම්බන්ධ නොවී ස්වාධීනව තම ක්‍රියාදාමයන් පවත්වා ගෙන ගියහ.

මෙම වකවානුවේදී රාජගිරියේ පැටී නැමැත්තා සිටියේ රිමාන්ඩ් බන්ධනාගාරයේය. ඔහුට තිබූ නඩු කෙළවරක් නැත. එක නඩුවකට ඇප දෙද්දී ඒ සමගම පොලිසිය පැටීව තවත් අපරාධයක් සම්බන්ධයෙන් අත් අඩංගුවට ගත්තේය. මෙසේ නඩු පිට නඩු දැවී රටට ලෝකයට දස දහස් ගණනින් ණය වී සිටි පැටීට වාසනාවකට මෙන් ඇපයක් මත ගෙදර එන්නට ලැබිණි. පැටී තලංගම කල්ලිය සමඟ කාලයක් සිට කිට්ටු වෙන් ඇසුරු කළ අයෙකි. පැටීගේ පැමිණීම මහත් වාසනාවක්

කොට ඔහුගේ හිතවතුන් සැලකුවද එය මෙරට ඉනා ජනප්‍රිය පුද්ගලයකුගේ අවාසනාවක් විය. දස අතේ ණය වී සිටි පැටී තමා වැටී සිටින වළෙන් ගොඩ ඒමට මොකක් හෝ කොන්ත්‍රාත්තුවක් ලැබෙන තුරු කල් මරමින් සිටියේ ය. තමන්ගේ මිතුරන් වූ තලංගම විලි. සහ සැම් අනපය දිගහැර වියදම් කරන අන්දම හා ඔවුන් ගත කරන සුඛෝපභෝගී ජීවිතය දෙස මහත් කැදර අන්දමින් බලා සිටි පැටී උමදු හවා පතන්නට වූයේ මොකක් හෝ කොන්ත්‍රාත්තුවක් තමාටත් ලැබේවා යන්නයි. ඒ දිනය වැඩි ඈතක නොවන බව පැටීට දැනුණි.

දිනක් කවට කරුවලේ තලංගම විලී ඔහුව හමුවන්නට පැමිණ පැවසූ දේවල් එකින් එක පැටීට සිහිපත් වන්නට විය. "මේ ණය ගොඩෙන් ගොඩ එන්ට එකක් නෙමෙයි...... සියක් වුණත් මරන්ඩ මම ලෑස්තියි" පැටී තමාටම කියා ගත්තේය.

දේශපාලනඥයාගේ ඥාතියා මරා දමන ලද්දේ ජනතා විමුක්ති පෙරමුණ විසින් යැයි ප්‍රචාරය කෙරුණද මෙය එම පෙරමුණේ ක්‍රියාවක් නොවන බව දේශපාලනඥයා ද දැන සිටියේ ය. එහෙත් තීරණාත්මක ඡන්ද සටනේ වැඩි වාසිය පතා එම බොරුව ගොතා කීමට දේශපාලනඥයාට ඉහළින් උපදෙස් ලැබී තිබිණි.

තමන්ට එද සිට සතුරුකම් කළ තුම්මුල්ලේ පද්මේ, රම්බෝ ප්‍රමුඛ පිරිස විසින් තමාගේ පිලේම එකකුගේ ඕනෑකම මත මෙම දීන ඝාතනය සිදුකර ඇති බව දැන ගන්නට ලැබුණු දින දේශපාලනඥයා වියරු වැටිණ.

පද්මේ සහ රම්බෝ සදහටම මෙලොවින් තුරන් කිරිමට දේශපාලනඥයා එදින තීරණය කළේය. පද්මේ සමග පාතාල ලෝකයේ කරට කර සටන් වදින ඔහුගේ සතුරන් කැඳවනු ලැබිණ.

"පද්මේවයි, රම්බෝවයි ඉවරයක් කරල දාපල්ලා......... පොලිසියෙන් ඕනෑ කරන උදව් සේරම අඩු නැතිව ලැබේවි. මගේ... මරලා දාපු උන්ට කිසිම සමාවක් දෙන්ඩ බෑ. උඹල දුන් පලයල්ලා හැබැයි පද්මේවයි, රම්බෝවයි නොමරා මගේ ඇස්වලට පේන්නවත් එන්න එපා" දේශපාලනඥයා කෝප-යෙන් දත්මිටි කමින් ගිගුරුවේය.

දේශපාලන රැකවරණය සහ ඝාතන නියෝගය ලද මරදානේ පත්තිනි වාලස්, තුම්මුල්ලේ පද්මේ පරලොව යැවීමට කලංගම හීනටිකුඹුරේ විලි සහ සැමී සමඟ රහසේම සාකච්ඡා වට ඇරැඹිය. "මේ දවස්වල පද්මේ පොඩි කේස් එකකට රිමාන්ඩ් එකේ ඉන්නේ" විලී කිවේය. "එහෙම නම් දෙමු ඇතුළෙදීම වැඩක්" "කිසිදක මිනිහට ඇතුළෙදි දෙන්ඩ බෑ ගාඩ්ලා ජේලර්ලා, කුඩු කාරයෝ උන් ඔක්කොම පද්මේට දෙකට නැමෙනවා. මිනිහට මාර "විසිට්" එකක් යන්නේ. ඇතුළේ කුමාර සැප" හීනටිකුඹුරේ සැමී කිවේය.

"රායිට් ඉස්සෙල්ලම දෙමු විසිට් එකට" පත්තිනි වාල්ස් අදහසක් ඉදිරිපත් කළේය. රිමාන්ඩ් බන්ධනාගාරගතව සිටින පුද්ගලයා මොන තරම් බලවන්තයකු, ශක්තිවන්තයකු වුවත්

ඔහු දැකීමට නීතිපතා උදේ සවස පුද්ගලයන් නොපැමිණේ නම් බන්ධනාගාරය තුළ ඔහු ගණන් ගන්නේ නැත. සිරකරුවා දැකීමට එන අය අත් වන වනා ආවාට වැඩක් නැත.

බුරියානි, ඉස්කට්, බුන්දි, සිගරට්, කෙසෙල්, බීඩි, අරක්කු, ගංජා, අබිං, හෙරොයින් වැනි කෑම බීම වර්ග ඔවුන් රැගෙන ආ යුතු වෙයි. එය ''විසිට'' එක වශයෙන් හැඳින්වෙයි. මෙවා ඇතුළට යැවීම සඳහා රිමාන්ඩ් බන්ධනාගාරය ඉදිරිපිට වෙනම වැඩ පිළිවෙලක් ක්‍රියාත්මක වෙයි.

රිමාන්ඩ් වී සිටින බොහෝ දෙනාට මෙවැනි කෑම බීම දකින්නටවත් ලැබෙන්නේ නැත. ඒවා ලැබෙන සිරකරුවන්ට දෙවියන්ට මෙන් වන්දනාමාන කිරීමට සෙසු සිරකරුවෝ මැළි නොවෙති. බීඩියක් දුන් විට කකුල් මිරිකති. සිගරට්ටුවක් දුන් විට ඇති වෙන තුරු දිය නාවති. කුස්සියේ කෝකි සිරකරුවාට අරක්කු පොදක් දුන් විට බත් පිඟාන අස්සේ මස් කුට්ටියක් සඟවා දෙයි. රිමාන්ඩ් බන්ධනාගාරයේ රජෙක් මෙන් සිටීමට ''විසිට'' එක කොතරම් ප්‍රයෝජනවත් දැයි දන්නෝ දනිති.

රිමාන්ඩ්ගත වී සිටි පද්මේට විසිට් එකෙන් අඩුවක් නැත. උදේ සවස පද්මෙගේ මිස්සිනා වන නිකාඩෝ, ඔහුගේ මල්ලි ඇතුළු තවත් අය පද්මෙ දැකීමට ටැක්සිවලින් පැමිණෙති. එතැන යම් යම් අයට හොඳින් සැලකීම නිසා කෑම බීම ඇතුළට යැවීම ද අමාරු කාරියක් නොවිණ.

ඒ අනුව මෙම විසිට් එකට ප්‍රහාරයක් එල්ල කිරීමට පත්තිනි චාල්ස් ඉදිරිපත් කළ යෝජනාවට විලී සහ සෑම් ඒකමතිකව ඡන්දය දුන්හ. ''නිකාඩෝ තමයි පද්මෙගෙ දකුණු අත. පද්මෙට වියදම් කරන්නේ ඌ. ඉස්සෙල්ලම නිකාඩෝව නැති කරමු. මෙ ගේම එක පටන් ගන්ඩ ඕනේ මුල ඉඳලා'' පත්තිනි චාල්ස් ස්ථිර අධිෂ්ඨානයකින් පැවසීය.

ඉන් අනතුරුව ඔත්තු බැලීම ආරම්භ කෙරිණ. හීනටිකුඹුරේ විලී විසින් මේ සඳහා කීප දෙනකුම රිමාන්ඩ් බන්ධනාගාරය අසල යොදවනු ලැබිණ. නිකාඩෝ ඇතුළු පද්මෙගේ හිතවතුන් අතරේ සිදුවන කතා බහට ඔවුහු හොඳින්

සිටත් දී ඒ සියල්ලක්ම විලීට වාර්තා කළහ. එම තොරතුරු අනුව ඝාතන සැලසුම සකස් කළ විලී සැම් සහ පත්තිනි වාල්ස් ඒ සඳහා අලුත්ම ට්රේල් වර්ගයේ බයිසිකලයක් කුරුණෑගලින් මිලදී ගත්හ.

''හෙට උදේ විසිට් එකට නිකාඩෝ එනවා. මෙයා තමයි වැඩේට යන්නේ'' විලී සිය අලුත් හිතවතා පත්තිනි වාල්ස්ට හඳුන්වා දෙමින් කිවේය.

ඝාතකයා ''ගයි'' නැමැති අයෙකි. ඉලක්කයට වෙඩි තැබීමට ශූරයෙකි. හිටපු හමුදා භටයෙකි. උතුරු නැගෙනහිර යුද බිමේදී කොටින් සිය ගණනක් ගයි ගේ මැෂින් තුවක්කු ප්‍රහාරයෙන් මැරී වැටෙන්නට ඇත. නිවාඩුවට ගෙදර ආ ගයි විලී සමඟ එකතු වී පාතාල ලෝකයේ ක්‍රියාදාම සඳහා සහභාගි වූ නිසා යළි රැකියාවට යෑමට නොහැකි විය. හමුදාවට කටවි පනිමින් විලීගේ රැකවරණය යටතේ සිටි ගයිට නිකාඩෝ මරා දැමීමේ කොන්ත්‍රාත්තුව පූස් පැටියෙක් මරා දමනවාටත් වඩා සැහැල්ලු කටයුත්තක් විය.

පසුදින උදේ පද්මෙට අවශ්‍ය කෑම බීම රැගෙන නිකාඩෝ රිමාන්ඩ් බන්ධනාගාරය බලා පැමිණෙමින් සිටියේය. ඔවුන් පැමිණි ටැක්සිය තුළ නිකාඩෝ සමඟ ඔහුගේ සොයුරා හා තවත් අයකුද වූහ. බන්ධනාගාරය පසුපස මුරකපොල්ලේ සිටි පොලිස් භටයා නිකාඩෝ හඳුනන නිසා ගේට්ටුව උස්සා රථයට යෑමට ඉඩ සලසා දුන්නේය. ගේට්ටුව පසු කරද්දී නිකාඩෝ නැවිකට් සිගරට්ටුවක් පත්තුකර ගත්තේය.

රිමාන්ඩ් බන්ධනාගරය දෙසට ටැක්සිය හෙමින් හෙමින් ඇදී යද්දී ඒ අසල නවතා තිබූ ට්රේල් වර්ගයේ බයිසිකලය මහා හඬින් පන ගැන් වූ ගයි අශ්වයකු මෙන් වේගයෙන් එය ඉදිරියට පැන්නුවේය. සම්පූර්ණයෙන් හිස ආවරණය වන්නට කළුපාට හෙල්මට් එකක් පැළඳ සිටි මිනීමරුවා ඊටම ගැලපෙන ජැකැට්ටුවක්ද ඇඳ සිටියේය.

ඉදිරියට පැන්න ට්රේල් බයිසිකලය ටැක්සියේ මඟ අවුරා නතර කෙරිණ. අඩි පහක් පමණ ඈතින් ටැක්සියද නැවතිණ. තවත් තත්පරයක්වත් ප්‍රමාද නොවූ ගයි ජැකට්ටුව තුළ

සහචා ගෙන සිටි මැෂින් තුවක්කුව අතට ගෙන වෙඩි උණ්ඩ විස්සක් පමණ දැක්සිය දෙසට මුදු හැරියේය. රථය තුළ සිටි තිංද-නාම එතැනම අවසන් හුස්ම හෙළද්දී නිකාඩෝගේ දෙතොල් මත එවිටත් නැවිකට සිගරට්ටුව දල්වෙමින් තිබිණ. අනතුරුව කිසිවක් නොසිදු වූ විලසින් බයිසිකලය පණ ගන්වා ගත් ඝාතකයා පැනනට බඳු වේගයෙන් ඉගිලී ගොස් බන්ධනාගාරයේ ප්‍රධාන දොරටුවෙන් ද පැන ගත්තේය.

බන්ධනාගාරයක ආරක්ෂක කපොල්ලක් තුළ සිදු කළ පළමු මිනීමැරුම එය විය. පද්මෙ ගේ මස්සිනා රිමාන්ඩ් බන්ධනාගාරය අසල මරා දැමූ බව පාතාල ලෝකය පුරා පැයක් යන්නට මත්තෙන් පතල වී ගියේය. රිමාන්ඩ් භාරයේ සිටි පද්මේ මින් මහත්සේ තැති ගත්තේය. මිනීමරුවාගේ පළවැනි ඉලක්කය සිය මස්සිනා වූ නිකාඩෝ නම් දෙවැනි ඉලක්කය තමා වන බව ඔහු ඉඳුරා දැන සිටියේය. තත්පරයෙන් තත්පරය තමා මරුවා හමුවට අඩිය තබන බවක් පද්මේට හැඟෙන්නට විය. මෙම බිහිසුණු මිනීමැරුමෙන් මනස අවුල් වූ බැවින් පද්මේ තමා වටා සිදුවන සියලුම දේ කෙරෙහි බලවත් සැකයකින් යුතුව බලන්නට පටන් ගත්තේය.

පද්මෙගේ 'විසිට් එක' පවා ගෙන යෑමට ඔහුගේ සගයෝ බිය වූහ. බන්ධනාගාරය අසල දී නිකාඩෝ මරා දැම්මා නම් පද්මේත් නැති අවස්ථාවේ ගමට පැමිණ තමන් මරා දමනු ඇතැයි කවුරුත් සිතන්නට වූහ. මේ නිසා අවසානයේදී එල පයයි ගොඩ පයයි තබා ගෙන සිටි ඇල්බට් අයියා පද්මේගේ විසිට් එක ගෙන යෑමේ වගකීම භාර ගත්තේය.

පද්මෙට විසිට් එක ගෙන එන අය කෙරෙහි වැඩි දුරටත් ඉව අල්ලමින් සිටි විලීගේ සහචරයෝ වයසක ඇල්බට් අයියාටද වෙඩි තැබූහ. එහෙත් ඔහු අනූනවයෙන් බේරුණි. මෙම තත්ත්වය යටතේ විසිට් එක මුළුමනින්ම නතර කෙරුන අතර සිරගෙදර බතේ රස බැලීමට අනතුරුව පද්මේටද සිදු විය.

පුරා දස වසරකට අධික කාලයක් තිස්සේ මුළු කොළඹ රටම හෙල්ලූ තමාට ඊයේ පෙරේද කරදඹු උස් මහත් වූ

හීනටිකුඹුරේ කල්ලිය හමුවේ කොන්ද නමන්ට සිදුවීම පිළිබඳව කුම්මුල්ලේ පද්මේ තුළ වූයේ පුපුරා හැලෙන කෝපයකි.

සිය කිරිඳුගේ සොහොයුරා ඝාතනය කිරීම පද්මේට ශෝක-කයට වඩා අභියෝගයක් විය. රිමාන්ඩ් බන්ධනාගාරයේ යකඩ කූරු අඹරමින් දත්කූරු කමින් ඔහු බලා සිටියේ ඊළඟ උසාවි දිනය උදාවන තුරුය. 'ඇප අරගෙන ගිය ගමන්ම දෙනව උන් රොත්තටම......' පද්මේ තමාට කියා ගත්තේය.

වෙනද තමාගේ දුක සැප, ඔනෑ එපාදේ සොයා බැලීමට නිතරම යන එන ගාඩ් මහත්තුරු දැන් නැත. 'විසිට්' එක නතර වෙද්දී ලැබුණු රජ සැලකිලි ද අහිමි විය. පද්මේ දැන් නිකම්ම නිකං රිමාන්ඩ් සිරකරුවෙකි. 'ඇති ද සිනි... නැති ද ගෝනි' පාතාල ලෝකයේ ප්‍රචලිත එම වැකිය තමා සම්බන්ධයෙන් මොන තරම් සර්ව සාධාරණ දැයි පද්මේට සිතුණි.

මේ අතර පද්මේ මරු තුරුලට යැවීමේ 'චරිතය' රඟපාන 'ගයී' නොමමර එකේ සල්ලිකාරයකු මෙන් වෙස් ගැන්වීමේ දෙවැනි පියවර මංදෙනේ පත්තිනි වාල්ස් ප්‍රමුඛ හීනටිකුඹුරේ විලි සහ සැම් විසින් ක්‍රියාත්මක කළහ. ඉන් නොනැවතුණු ඔවුහු නාරාහේන්පිට රම්බෝ සමාදනයේ සැතපීමට ගතයුතු ක්‍රියාමාර්ග කෙරෙහි ද විමසිලිමත් වූහ.

දිනක් දේශපාලකතුමාගෙන් පත්තිනි වාල්ස්ට දුරකථන ඇමතුමක් ලැබුණේය. 'අදම ගිහිල්ලා නාරාහේන්පිට 'පීටර්ව' මුණගැහෙනවා. මිනිහා කියයි කරන්න ඕනේ දේ.' ඇමතුමේ එසේ සඳහන් විය.

නාරාහේන්පිට පීටර් ක්ලබ් කාරයෙකි. තමන්ගේ පාඩුවේ අරක්කු ටිකක් විකුණාගෙන ජීවත් වූ පීටර් තමන්ට විරුද්ධව ආ එකකු ලේසියෙන් අත හැරියේ ද නැත. ක්ලබ් එකට බලපත්‍රය ලබා ගැනීම සඳහා දේශපාලකතුමාගෙන් නොමසුරු සහයෝගය ලද පීටර් ඡන්ද සටන වෙනුවෙන් අතදිග හැර වියදම් කළේය. තමන්ගේ ඥාතියා මරා දැමීමට රම්බෝ එකතු වූ බව දේශපාලකතුමා පීටර්ට දිනක් කීවේය. 'දෙමු සර් වැඩේ මොනාද කියන්නේ ඔලුව මෙතන... කඳ මාකර...' පීටර් සිය පක්ෂපාතිත්වය එසේ පළ කළේය.

මෙම කතා බහෙන් පසු පත්තිනි වාල්ස් ඇතුළු හිනටිකුඹුරේ කල්ලිය ගොස් පීටර් හමුවූහ. රම්බෝ මරා දැමීමට වැඩ පිළිවෙල සකස් කිරීමේ කුමන්ත්‍රණය නාරාහේන්පිට ක්‍රියාත්මක වෙද්දී තුම්මුල්ලේ පද්මේ විනාශ කිරීමේ කොන්ත්‍රාත්තුව රාජගිරියේ ඔබේසේකරපුර පැටීගේ නිවසේදී පැවැත්විණ.

එද උසාවි දිනයයි. රිමාන්ඩ් බන්ධනාගාරයේ සිරකරුවන් පැටවූ බස්රථය උසාවි සංකීර්ණය අසලට පේන්දු විය. අතින් අතට දැමූ මාංචු සහිතව සිරකරුවන් උසාවි සංකීර්ණය තුළට ගෙන ගොස් යාබදව පිහිටි කූඩුවේ ගාල් කෙරිණ.

මේ අතරේ තවත් දෙයක් සිදුවෙමින් තිබිණ. කිරිපාට ලාන්සර් වර්ගයේ අලුත්ම මෝටර් රථයක් උසාවි සංකීර්ණයට යාබදව පිහිටි 'රෙස්ටොරන්ට්' එක අසලදී විත් නතර කෙරිණ. ඒ තුළ දේශපාලකතුමාගේ පෞද්ගලික ලේකම් ඇතුළු තවත් ජදෙනෙක් වූහ. සියලු දෙනාම සුදු කලිසම් කමිසවලින් සැරසී සිටියහ. බැලූ බැල්මට ඔවුන් සියලු දෙනා මන්ත්‍රී හෝ ඇමති ආරක්ෂකවරුන් මෙන් දිස්වූහ. ආගන්තුකයන් තිදෙනා රථයෙන් බැස ගියාට පසු පෞද්ගලික ලේකම් ලාන්සරය හරවා ගෙන වටරවුමෙන් දකුණට කරකවා ඉගිලී ගියේය.

මන්ත්‍රී ආරක්ෂක වෙස් ගත් තිදෙනාගෙම ඉන අසලින් කමිසය මඳක් ඉස්සී තිබිණ. ඉන් ඔවුන් ළඟ ආයුධ ඇති බව කාටත් පෙනුණි. පොලිස් ආරක්ෂක සේවාව ද වැඩිදුර මොවුන් පිළිබඳව විපරම් නොකළේ ඔවුන් ඇත්ත වශයෙන්ම දේශපාලනඥයකුගේ හෝ වෙනත් ප්‍රභූවරයකුගේ ආරක්ෂකයන් යැයි සිතූ බැවින් විය හැකිය. බෝගස අසල රැඳුන තිදෙනා දුම්වැටි තුනක් දල්වා දුම්ගුලි හරිමින් උදරම අන්දමින් වටපිට පිරික්සා බලන්නට වූයේ තවත් සෙමෙහි තවදුරටත් කිසිවකු ළඟ හෝ සැකයක් වේ නම් එයද අතුරුදන් වන පරිදිය.

තුම්මුල්ලේ පද්මේගේ නඩුව තෝල්ක මුදලිතුමා විසින් අඩගසන ලදී. පෙරකදෝරු මහත්වරුන්ගේ තර්ක විතර්ක වලින් අනතුරුව පද්මේට ඇප නියම කෙරිණ. අනතුරුව තාවකාලික නිදහසක් ලද පද්මේ සිය හිතවතුන් කැටිව උසාවි සංකීර්ණයෙන් එළියට බැස්සා පමණි.

බෝගස අසල සිටි තිදෙනාම පිස්තෝල ඇදගෙන දිගට හරහට පද්මේ ඇතුලු පිරිස දෙසට වෙඩි තබන්නට වූහ. මෙවැනි අනතුරකට මුහුණ දීමට කල්තියාම සූදනම් වී සිටි පද්මේගේ හිතවතුන් ආගන්තුකයන් දෙසට අත් බෝම්බයකින් දමා ගැසූහ. දහස් ගණනක් පිරී සිටි වීදියේ දෙපිරිස අත්බෝම්බ වලින් හා පිස්තෝල වලින් යුද වදිද්දී සන්නද්ධ ආරක්ෂක සේවා සිදුවන්නේ කුමක්ද, කළ යුත්තේ කුමක් දැයි සිතාගත නොහැකිව අන්දමන්දව එහාට මෙහාට දිවයන්නට වූහ. තවත් සමහර ආරක්ෂක භටයෝ අහිංසක ජනතාවට අනතුරක් වේ යැයි බියෙන් වෙඩි නොතබා බලා සිටියහ.

සැනෙකින් වෙඩි වරුසා මැදින් ඉගිලී ආ ටැක්සියකට පැන්න පද්මේ ඇතුලු පිරිස එක් අතකට පියාඹා ගිය අතර දේශපාලනඥයාගේ ලාන්සර් රථයේ එල්ලුන ප්‍රතිවාදීහු ටැක්සියට වෙඩි තබමින් එය පසුපස හඹා ගියහ.

පාතාල ලෝකයේ පතාක යෝධයකු බඳු පද්මේගේ ජීවිතය එදිනත් දෙවැනි වරට අනූනමයෙන් බේරුණි.

දින කිපයක් ගෙවී ගියේය. දිනක් අලුයම හතරට පමණ නාරාහේන්පිට මහවත්ත දෙසට මෝටර් රථ කිපයක් ගමන් කරනු දක්නට ලැබිණ. ඒවායේ දහ දොළොස් දෙනෙක් පමණ වූහ. මහවත්ත ප්‍රජා ක්‍රීඩාංගනය අසළ නැවතූ රථ පෙලින් බැසගත් පිරිස අත තුවක්කු කිපයක් විය. ප්‍රජාශාලා ක්‍රීඩාංගනය වටා වළල්ලක් මෙන් සැදුන පිරිස එක එල්ලයකට එකපිටින් එක වෙඩි තබන්නට පටන් ගත්හ.

පොළොවට හිරු උද නොවූ අලුයම රතිඤ්ඤ පුපුරණ හඬින් අවදි වූ මහවත්තේ බාල තරුණ මහලු කොයි කවුරුත් ජනෙල් පියන් හැර සැනෙකින් වසා ගත්තේ මහා ගින්නක් ඇවිලී ඇති බව අහුරේ විනිවිද යන වෙඩි උණ්ඩ සාක්ෂි දරද්දී බැවිණි.

රම්බෝ ඇතුලු පිරිස ගෙවල් සමූහය අතර සිට තමන්ට හදිසි ප්‍රහාරයක් එල්ල කළ පිරිසට වෙඩි තබන්නට වූ අතර ප්‍රහාරකයෝ දිගින් දිගටම වෙඩි තබමින් ගෙවල් පේලි ආක්‍රමණය කරන්නට පටන් ගත්හ. වැඩ වැරදි එන ගෙන බව

දැනගත් රම්බෝ පැල්පතක් අතරින් දිවයද්දී එල්ලය බලා ආ රිපීටර් උණ්ඩයක් ඔහුගේ දකුණු කලව පසාකරගෙන ගියේය. මහවත්තේ වීරයා ඇද වැටුණේය. මහ පොළොවේ බඩ ගාමින් රැකවරණයක් වෙත ඇදෙන්නට උත්සාහ ගත්තේය. එය දුටු ඔහුගේ හිතවතුන් දෙදෙනකු රම්බෝව උස්සාගෙන වෙනත් මඟකින් මහපාරට පැමිණියේය. අනතුරුව ත්‍රීවිලරයකින් ඔහු රෝහලකට ගෙන ගියෝය.

රම්බෝ ඝාතනය කිරීමට සැලසුමක් ක්‍රියාත්මක වන බව දැනගත් ඔහුගේ සගයෝ වෙඩි වැදුන සිය හිතවතා කොළඹ රෝහලකට ඇතුළත් නොකර රාගම ප්‍රදේශයට ගෙන ගොස් එහි රෝහලකට ඇතුළත් කළහ. වෙනත් නමකින් රෝගියාව ඇතුළත් කොට ප්‍රතිකාර ගැනීමට සැලැස්වූ සගයෝ යළිත් නාරාහේන්පිට බලා පැමිණියහ.

වෙඩි වැදුන සිය සතුරා ගෙන ගියේ කොහාටදැයි සොයා බැලීම සඳහා නාරාහේන්පිට ක්ලබ් හිමිකරු වන පීටර් සිය සහචරයන් කීප දෙනකුම ඔත්තු සේවාවේ යොදවනු ලැබිණ. හරියටම එදින උදේ දහයට පමණ එක් ඔත්තුකරුවකු ආරංචියක් ගෙන ආවේය. තුවාල වුණ මිනිහෙක් එයාගේ ත්‍රීවීල් එකෙන් රාගම රෝහලට ගෙන ගියා යැයි රියැදුරකු කී බව එම ආරංචිය විය.

රාගම රෝහලේ එදින රෝගීන් බැලීම සඳහා වේලාවට පැමිණෙන තුරු දහස් ගණනක් ඉදිරිපස දොරටුව ළඟ රැස්කමින් සිටියහ. දොරටුව විවර කරත්ම රෝහල තුළට පැනගත් ඥාති මිත්‍රාදීහු කැවිලි පෙවිලි අතින් කටින් එල්ලාගෙන රෝහල් කොරිඩෝව ඔස්සේ ගිලන් වූ සිය ඥාතීන් සොයා ගියේ ලැබෙන පැයේදී වැඩි කාලයක් රෝගියා අසල ගත කිරීමේ අදහසිනි.

ඒ අවස්ථාවේ රම්බෝ අඩ නින්දේ පසුවිය. බර සපත්තු අඩි තබමින් කොරිඩෝව දිගේ පියවරින් පියවර සිය මරුවා තමා අසලට සමීප වන බවක් ඔහු සිහිනෙකින් වත් සිතුවේ නැත. ඒ තරම්වටම වැඩ සිදුවූයේ ඉතා රහසිගතව බව රම්බෝ දැන සිටියේය.

'ක්ලික්' හඬින් යමක් සිරවන හඬක් ඇසී රම්බෝ දෙනෙත් හැර බැලුවේය. ඔහුගේ උගුරකට වියලී සියොළඟ හිතියෙන් වෙව්ලා ගියේය. ජීවිතේටවත් දැක නැති වාගේ කඳක් වැනි මිනිසෙක් සිය හිසට පිස්තෝලයක් මානාගෙන සිටින අයුරු දුටු රම්බෝ උදව් ඉල්ලා කෑ ගැසීමට මුව විවර කළා පමණි. වෙඩි උණ්ඩ පහකින් ඔහුගේ හිස සුනුවිසුණු කර දැමීමට සාහසිකයාට ගත වූයේ තත්පර දෙක තුනකි.

කුඩුපට්ටම වී ගිය හිසක් සහිත රම්බෝගේ ප්‍රාණය නිරුද්ධ සිරුර රෝහල් ඇඳ මත වැටෙද්දී ඝාතකයා රෝහලේ පිටුපස දොරින් පාරට පැන එතැන නවතා තිබූ මොටෝරියක නැගී කොළඹ දෙසට පළා ගියේය.

එදින රාත්‍රියේ දේශපාලකතුමාගේ නිවසේ පුංචි සාදයකි. මරදනේ පත්තිනි වාල්ස්, හිනටිකුඹුරේ විලී, සැම සහ නාරාහේන්පිට පීටර් මේ පුංචි සාදය රසවත් කළ අමුත්තෝ වූහ.

ඉතා කෙටි කලක් තුළ පාතාල ලෝකයේ පතල වූ නාරාහේන්පිට රම්බෝගේ සිරුර දැකීම සඳහා තුම්මුල්ලේ පද්මේ මෝචරියට යාමට පවා බියවිය. තමාගේ තවත් සගයකු බිළිගත් කල්ලිය සමඟ මුහුණට මුහුණ සටන්කර ජය ලබනවාද නැතිනම් බල්ලෙක් වගේ මැරුම්කනවා දැයි යන ප්‍රශ්න හමුවෙ පද්මේ ස බැවින්ම නිරුත්තර විය. මන්ද ඒ වනවිට සිය දෙමිස්සියෝද මරු වැළඳ ගෙන සිටි බැවිණි.

මරණයේ බියකරු සෙවනැල්ලෙන් පද්මෙ තැති ගත්තේ ය. තමා සමඟ එවකට ජීවත්වන කවුරුන් තමා ඝාතනය කිරීමට කුමන්ත්‍රණය කරන බවක් ඔහු සිතුවේය. පාතාල ලෝකය තුළ සිතුවොත් කිසිවක් කිරීමට කිසිම බියක් පැකිලීමක් නොදක් වූ මෙම අයෝමය 'ගණන්කාරයා' මරණයේ රුදුරු සෙවනැල්ලෙන් කොතරම් බිය වූවාද කියතහොත් දිනක් ඔහු සිය පියාට ද නොසැහෙන්ට තැලුවේය.

ගමේ කිසියම් ගෙදරක කරදඹු උස්මහත් වූ සහෝදරයන් සිටි නම් ඔවුන් කැඳවන පද්මෙ අනතුරුව තමන් කරමන තබාගෙන මහපාරේ කන්ද නගින ලෙසට අණ කරන්නේය. පද්මෙ කරතබා ගෙන කන්ද නගින තරුණයන්ට ඔහු වේවැලකින් තැලුවේය.

මෙවැනි මානසික පීඩනයකින් කල්ගත කරමින් සිටි පද්මෙ හමුවීමට දිනක් ඉහුරුකඩේ හන්දියේ ගුණේ පැමිණියේය. ඒ වන විට ගුණේට ද මරණීය තර්ජන එල්ල වී තිබිණ. දේශපාලනඥයාගේ ඥතියා ඝාතනය කිරීමට හින් තුලෙන් ක්‍රියාත්මක වූ රම්බෝ මළවුන් අතරය. පද්මෙගේ දෙමසසිනෝ රිමාන්ඩ් බන්ධනාගාරය අසලදීම මැරුම් කෑහ. පද්මෙට උසාවිය අසල දී වෙඩි තබා මරා දැමීමට උත්සාහ කළහ. වෙඩි පහරකින් නැතිනම් බෝම්බ ප්‍රහාරයකින් ජීවිතය කෙලවර විය හැකි බව පද්මෙටත්, ඉහුරුකඩේ හන්දියේ ගුණේටත් සිතුණි.

"මේ විදිහට පණ ගැහි ගැහී ඉඳල වැඩක් නෑ පද්මෙ. මම පොඩි ප්ලෑන් එකක් දලයි තියෙන්නේ. හරිගියොත් දෙන්නම ෂේප්..." ගුණේ කීවේය.

මේ අතරේ හීනටිකුඹුරේ සැමීට බම්බලපිටියේ ඔස්කා නමැති ධනකුවේරයකු හඳුනා ගන්නට ලැබිණ. ඔස්කා කෝටිපතියෙකි. කැසිනෝ ව්‍යාපාරයෙන් ඔහු දිනකට රුපියල් ලක්ෂ ගණන් හම්බ කළේය. මුදල් ලැබෙන තරමට අනාගය දිගහැර විය පැහැදම් කළ ඔස්කා දේශපාලනඥයන් කීප දෙනකු භූතා කිට්ටුවෙන් ඇසුරු කළේය.

මෙම කෝටිපති ව්‍යාපාරිකයාගේ පෞද්ගලික ආරක්ෂකයා ලෙසයෙන් රාජකාරි කිරීම සැමීට භාරවිය. එපමණක්ද නොව, ඔහුගේ සමාජ ශාලාවල ආරක්ෂක කටයුතු සියල්ලම සැමීට පැවරිණ.

දිනක් ඔස්කා සැමීට කතා කළේය. "ලොකු වැඩක් තියෙනවා තමුසෙට භාර දෙන්න." ඔස්කා කීවේය.

"මොකක්ද සර්... ඕන එකක් කියන්න" සැම් කීවේය. "මැන්කෙනෙක්ව උස්සන තියෙනවා. හැබැයි මිනිහාගේ කෙස් ගහකටවත් අත තියන්න බෑ. මේක බොහොම ප්ලෑන් කරල කරන්ඩ ඕනේ වැඩක්. තනියම කරන්ඩත් බෑ. හැබැයි වැඩේට හවුල් කරගන්ඩ ඕනේ කටින් කෙළ පොදක් බිම හලන්නේ නැති කෙනෙක්ව, එහෙම හිතවත් කෙනෙක් ඉන්නවාද?" ඔස්කා ඇසුවේය. සැමීට එක වරම සිය අඹ යහළුවා වන විලී මතක් විය.

"ඉන්නව සර්... ඔරිජිනල් බඩුවක් ඉන්නවා..." සැම් කෑ ගැසුවේය ... "කවිද...කොහේද?' ඔස්කා ඇසුවේය. "මිනිහගේ නම විලී . ඉන්නේ හීනටිකුඹුරේ...මාත් එක්ක වැඩ දෙක තුනක්ම දුන්නා...රියල් බඩුවක් සර්..." සැම් පැහැසුවේය.

"හීනටිකුඹුර...කොහෙද ඔය ගම තියෙන්නේ."

ඔස්කාට නවත් යමක් සිහිපත් වූ බැවින් හීනටිකුඹුර පිළිබඳව විස්තර විමසීය.

"වැඩිදුර නෙමෙයි සර්... තලංගම තිබුටාන පැත්තෙන්, අංගොඩ පැත්තෙන්, අග්ගෝන පැත්තෙන්...ඔය ඕන පැත්තකින් හීනටිකුඹුරට එන්ඩ පුලුවනි." සැම් ගම පිළිබඳව කෙටි හැඳින්වීමක් කළේය. ඔස්කා මදක් කල්පනා කළේය.

''තමුසෙට පුලුවන්ද ඔය පැත්තෙන්ම පාලු ගෙයක් මාසෙකට විතර හොයා ගන්ඩ. කුලිය කීයක් වුණත් කමක් නෑ'' ඔස්කා කීවේය.

''පාලු ගෙයක්...ඒ මොකටද සර්...'' සැම් ඇසුවේය.

''ඒක මං තමුසෙට පස්සේ කියන්නම්...කියනවා පුලුවන්ද පාලුගෙයක් හොයා ගන්ඩ...'' ඔස්කා යළිත් ඇසුවේය. ''එකට දූසිමක් දෙන්නම් සර්...'' සැම් පොරොන්දු විය. ''හොඳයි එහෙම නම් හෙට උදේ දහයට අපේ ගෙදරට එනවා. මතක ඇතිව තමුසෙගේ යාලුවත් එක්කගෙන එනවා.'' ඔස්කා කීවේය.

මේ අතර දිනක් ඉඟුරුකඩේ හන්දියේ ගුණේ පද්මේ සොයා ගෙන කඩිමුඩියේම ආවේය. ''මස්සිනා වැඩේ හරි. අන්න අපි දෙන්නටම ලොක්කා එන්ඩ කිව්වා. හැබැයි තනියම නෙමෙයි මිනිහා කිව්වා විරුද්ධ පක්ෂයෙන් ඉල්ලා අස්වෙන්ඩ කැමැති දහ පහලොස් දෙනකුත් එක්ක එන්ඩයි කියලා.'' ගුණේ කීවේය.

ගුණේ සහ පද්මේ ඒ වන විට විරුද්ධ දේශපාලන පක්ෂයක ක්‍රියාකාරී සාමාජිකයන් වූ අතර මෙමගින් විරුද්ධ පක්ෂයකට තුම්මුල්ලේ පවතින බලය බිඳ දමා සිය ශක්තිය නායකතුමා හමුවේ ප්‍රදර්ශනය කිරීම දේශපාලනඥයාගේ අරමුණ විය.

''යකෝ... මෙක අතහැරලා ඒකට යන්ඩ පුළුවන්ද කලිසම්කුත් ඇඳගෙන'' පද්මේ ගිගුරුවේය.

''ලොක්කා කලිසම නෙමෙයි ජීවිතෙත් නැතුව යධි මේ විදිහට ගියොත්...'' ගුණේ පැහැදිලි කළේය.

කෙසේ වෙතත් තමන්ගේ බහට පද්මේ අවනත කර ගන්නට ගුණේට හැකි විය. ඒ අනුව දිනක් පෙරවරුවේ පද්මේ සහ ගුණේ සිය හිතවතුන් රැසක් ද සමඟ එක්තරා ආයතනයක දී දේශපාලනඥයා හමුවූහ. පිරිස දුටු දේශපාලනඥයාගේ මුව සිනහ රැල්ලෙන් උතුරා ගියේය. තුම්මුල්ලේ පද්මේ සහ ඉඟුරුකඩේ හන්දියේ ගුණේ තමාගේ පිළට බා ගැනීමට හැකි

විම දේශපාලනඥයාට අතුරු මැතිවරණයක් දිනුවා හා සමාන විය. මෙපමණ කාලයක් පාතාල ලෝකය සෙලවූ තමාගේ ඥාතියා පරලෝකප්‍රාප්ත කර වූ මිනිමරුවන් රොත්ත අද තමාගේ දෙපා අසල බළල් පැටවුන් මෙන් දුවටෙන අන්දම දුටු දේශපාලනඥයා හදවතින් සිනහසුණේය.

අනතුරුව දේශපාලනඥයා පුවත්පත් කීපයක කතුවරුන්ට දුරකථනයෙන් කතා කළේය. 'විරුද්ධ පක්ෂ කඩාගෙන ලොකු ගාණක් අපේ පැත්තට ඇවිල්ලා ඉන්නවා...ඒ ගැන පොඩි විස්තරයකුත් එක්ක පිංතූරයක් දමාගන්ඩ කවුරුහරි වාර්තාකාර මහත්මයෙක් එවන්ඩ.'' දේශපාලනඥයා ඉල්ලීමක් කළේය.

එම අවදියේ දී විරුද්ධ පක්ෂයෙන් පිරිසක් කඩාගෙන යාම අද මෙන්ම පුදුමයට කාරණයක් ද නොවිය. එය එතරම් වැදගත් ප්‍රවෘත්තියක් ද නොවේ. නමුත් දේශපාලනඥයා හා ඔහුගේ නායකයා අතර පවතින සම්බන්ධතා, දේශපාලනඥයා දරන තනතුර හා ඔහු කළ ඉල්ලීම සලකා බැලූ විට එම අවස්ථාවට සහභාගි නොවී සිටීමට හැකියාවක් කාහටවත් නොවිය. ඒ අනුව සුලු මොහොතකින් පුවත්පත් කලාවේදීන්, ඡායාරූප ශිල්පීන්, රූපවාහිනී සහ ගුවන් විදුලි ශිල්පීන්ගෙන් විශාල කාමරය පිරී ගියේය.

පසුදින පද්මේ ඉහුරුකඩේ හන්දියේ ගුණේ ඇතුළු පිරිසගේ ඡායාරූප සහ විස්තර සියලුම පුවත්පත්වල පළ වී තිබිණ. ඔවුන් කෙරෙහි දේශපාලනඥයා තුළ පැවැති ක්‍රෝධය ඔහු අමතක කර දැමීය. ඉදිරි දේශපාලන කටයුතුවලදී පද්මේ සහ ගුණේ සමීප කරගෙන විරුද්ධ පක්ෂයට කොකා පෙන්වන්නට ඔහු තීරණය කළේය.

එපමණක් ද නොව, ඉතා සුළු කාලයකින් පද්මේට ග්‍රාමෝදය මණ්ඩල සභාපති තනතුරක් සහ මුළු දිවයිනටම බලපාන පරිදි සමාදාන විනිශ්චයකාර පදවියක් පිරිනැමීමට තරම් දේශපාලනඥයා ඔවුන් කෙරෙහි හිතවත් විය.

සමාදාන විනිශ්චයකාර, ග්‍රාමෝදය සභාපති පද්මේ අනතුරුව සමාදානයේ කසිප්පු පෙරමින් මුළු කොළඹටම ඒවා බෙදහරිමින් කොන්ත්‍රාත්කාරයකු බවට පත්වන්නට වැඩි දවසක්

ක්‍රියේ නැත. ග්‍රාමෝදය මණ්ඩලය මගින් පළාතේ සිදු කළ මාර්ග අලුත් වැඩියා සහ සුලු ඉදිකිරීම සියල්ලක්ම පද්මෙගෙ ගෝලබාලයන් අතින් ඉටු විය. එයින් කොමිස් මුදලක් පද්මේගෙ සාක්කුවට ද නොවැටුණා නොවේ.

දේශපාලන හදයා කළ මෙම ක්‍රියාවෙන් හීනටිකුඹුරේ විලීගේ සහ සැමීගේ සිත් බිඳී ගියේය. "යකෝ තමුන්ගේ එකා දැරල දුන්න එකාට සමාදන විනිශ්චයකාරකමක් දුන්න නම් උගේ හකුරෙක්ව මරල අපට නඩුකාරකම් දෙන්ඩ එපායැ." විලී සැමීට කීවේය. "කරන්ඩ දෙයක් නෑ. පටන්ගත්ත දේම එක ඉවරයක් කරලම පස්ස බලමු." සැමී කීවේය.

ග්‍රාමෝදය සභාපති තනතුර ලද පද්මේ අනතුරුව හීනටි-කුඹුරේ විලී, සැමී දෙදෙනා පිළිබඳව සොයා බලන්නටත් අමතක නොකළේය. දේශපාලන හදයාගේ කෝන්තරය නිමා වුවත් කොයි මොහොතක හෝ හීනටිකුඹුරෙන් ප්‍රහාරයක් එල්ල වේ තැයි පද්මේ නිතරම සිතූ අතර දෙනදුවත් වඩා විමසිල්ලෙන් කාලය ගත කළේය.

මේ අතර මරුණෝ පත්තිනි වාල්ස් හමුවූ විලී සහ සැමී පද්මේ පිළිබඳ අලුත් විස්තර හෙළි කළේය. "කමක් නෑ... ලොක්කා මීහ හමේ පැත්ත ගන්නට ඕකා ගැන මගේ හිතේ තියෙන තරහා අඩුවෙන්නේ නෑ. මගේ මල්ලිටත් ඕකා වෙඩි තිබ්බා. ළඟදීම පද්මයව ඉවරයක් කරමු. පත්තිනි වාල්ස් කීවේය.

පද්මේ ඝාතනය කිරීම සඳහා යොදවන ගයි මේ වනවිට එම කටයුත්ත සඳහා හොඳ පුහුණුවක් ලබා සිටියේය.

සවස් වරුවේ පාර්ලිමේන්තුවට එපිටින් පිහිටි පාලු පෙදෙසකට යන ගයි අලුත් බුවුනින් පිස්තෝලයෙන් ඉලක්ක-යට වෙඩි තබන්නට තව තවත් පුහුණු විය.

එය අඟහරුවාද දවසකි. සවස 5 ට පමණ පද්මේ සිය ආලින්දයේ සැප පුටුවකට බර වී අලුත්ම බුරුවා කුට්ටමක කොළ ගනිමින් සිටියේය. හිටිහැටියේම අඩි ශබ්දයක් ඇසුන බැවින් පද්මේ ක්ෂණයකින් නැගිට යාබද කාමරයට පැන්නේය. කාමරයේ ඇඳ මෙට්ටය යට තබා තිබුණ රිපීටර් තුවක්කුව

අතට ගත් පද්මේ දෙර රෙද්ද මඳක් මැත් කරමින් හොර බළලකු මෙන් සාලය දෙස බැලුවේය. නිල ඇඳුමින් සැරසුන පොලිස් භටයකු ඉදිරි දොර අසල සිටින බව පද්මේ දුටුවේය. මීට පෙර ද පොලිස් වෙසින් පැමිණ තමාගේ අතට ද වෙඩි තබා පැනගිය 'හොර පොලිස්' කණ්ඩායම පිළිබඳව සැනෙකින් පද්මෙට මතක් විය. 'පොලිස් භටයා' දෙරට කිහිප වරක්ම තට්ටු කළේය.

ශබ්දය ඇසී පද්මේගේ බිරිඳ සාලයට ආවාය. 'ඇයි සර්' ඈ ඇසුවාය. 'පද්මේ ඉන්නවද?' ගොරෝසු හඬට සවන් දෙමින් පද්මේ රිපිටර් තුවක්කුව සිය බඳට තව නවත් තදකර ගත්තේය. 'දූන් හිටියා...පාර පැත්තට යන්න ඇති' පද්මේගේ බිරිඳ කීවාය. 'හෙට උදේ එකොළහට ඇවිත් ඕ. අයි. සී. මහත්තයාව හම්බවෙන්ඩ කියනවා.!' පොලිස් භටයා අණ කළේය. අනතුරුව ඔහුගේ බර අඩි වැලි පොළව මත ඇතින් ගමන් කරන හඬට කන්දුන් පද්මේ තුවක්කුව තිබූ තැනම සඟවා සාලයට ආවේය. පද්මේ දෙස කුතුහලය මුසු බැල්මක් හෙලූ ඔහුගේ බිරිඳ මුළුතැන්ගේ දෙසට ගියාය.

'මොකටද පොලිසියට එන්නයි කිවේ.' පද්මේ තනිවම කල්පනා කරන්නට පටන් ගත්තේය සැනෙකින් ඔහුට යමක් සිහිපත් විය. 'එද උසාවියේ ඇප දීලා කිව්වේ සුමාන දෙක කට සැරයක් පොලිසියට ගිහින් පොතේ අත්සන් කරන්ට කියල නේ. මේ වැඩ අස්සේ ඒකත් අමතක වුණා ' පොලිසියට පැමිණෙන ලෙසට කළ නියෝගයට හේතුව මෙසෙහි වීමෙන් අනතුරුව ඒ පිළිබඳව තිබූ කුකුස ඔහු කෙරෙන් පහවිය.

මේ අතර බම්බලපිටියේ ඔස්කා නැමැති ධනපතියාගේ නියෝගය පරිදි සැම් විලිව ද කැට්ව පසුදින ගොස් ඔහුව හමු වූහ. ඉන් අනතුරුව තිදෙනාම රහස් කාමරයකට එකතු වූහ. 'මෙතන තියෙනවා රුපියල් ලක්ෂ දෙකක්' කොන්ත්‍රාත්තුවේ කතාව ආරම්භ කරමින් ඔස්කා අලුත්ම රුපියල් දහේ නෝට්ටු මිටි කිපයක් දවැන්ත කැටයම් මේසය මත තබමින් කීවේය.

''පරණ ගෙයක් හොයා ගන්ඩ ඕනේ. අපි උස්සන මිනිහව පැය හතරක් ඒ ගෙදර හිර කරගෙන ඉන්ඩ ඕනේ;

මෙ තියෙන්නේ මිනිහා ඉන්න තැන ඇඩ්‍රස් එක.'' ඔස්කා එම පුද්ගලයාට අයත් 'විසිටින් කාඩ්' පතක් මෙසය මතට විසිකරමින් කීවේය. ''අද ඉඳලා දවස් තුනක් යනතුරු ඒ මිනිහා යන එනතැන් හොඳට සොයා බලන්න ඕනේ. හරියට හතරවැනි දවසේ කරන්ඩ ඕනේ වැඩේ එද උදේට මම තමුසෙලට කියනවා. වියදම් කරන්ඩ සල්ලි මෙතන තියෙනවා. රාධිට දුන්ම දැඩෙ පටන් ගන්නවා.'' ඔස්කා කතාව අවසන් කරමින් කාමරයෙන් පිට වී ගියේය. රුපියල් ලක්ෂ දෙක දෙමිතුරෝ සමව බෙදු ගත්හ.

මේ අතර තුම්මුල්ලේ පොලිසිය තුළට පැමිණි ආගන්තුක යෙකි. යුරෝපීය ඇඳුම් කට්ටලයකින් මනාව සැරසී සිටි අමුත්තා පැළඳ සිටියේ ඉතා වටිනා පාවහන් යුවළකි. කරේ රත්තරන් දම්වැලකි.

කලුපාට උපැස් යුවළ ඔහුගේ මුහුණ තවත් ප්‍රතාපවත් කළේය. ඔහු වටපිට බැලුවේය. පොලිස් භටයෙක් ඔහු අසලට පැමිණ කාරණය විමසුවේය.

''මට ඕ. අයි. සී. මහත්තයා හමුබ වෙන්ඩ පුලුවනිද?'' අමුත්තා කාරුණිකව ප්‍රශ්න කළේය.

''ඔව්! ටිකක් වාඩිවෙන්ඩ.'' පොලිස් භටයා කීවේය. ''බොහොම ස්තුතියි.'' එසේ කී අමුත්තා සාක්කුවට අත දමා විදේශීය සිගරට් පැකට්ටුවක් ගෙන එකක් දල්වා ගත්තේය. ''මම ටිකක් හිටගෙන ඉන්නම්...'' කී ආගන්තුකයා දුම් වළලු පිඹිමින් පොලිසියට පැමිණෙන පුද්ගලයන් දෙස විමසිල්ලෙන් බලන්නට විය. පොලිස් භටයා වෙනත් රාජකාරියකට එතැනින් පිටවී ගියේය.

මේ අතර තුම්මුල්ලේ පද්මේ පොලිසියේ ලොකු මහත්තයා හමුවීමෙ අරමුණ ඇතිව පොලිසියට ඇතුලු විය. ''ආ... පද්මේ මොකද මෙ පැත්තේ.. ?'' පද්මෙ දන්න හඳුනන සාජන්වරයෙක් ඔහුගෙන් ප්‍රශ්න කළේය ''ඕ. අයි. සී මහත්තයා එන්ඩ කියලා මට පණිවිඩයක් එවල තියෙනවා. ආවේ ඒකයි.'' පද්මෙ කීවේය. ''එහෙම නම් අපිත් දන්නවනේ... පොඩ්ඩක් ඉන්ඩ...ඔඩර් එකක් ගහලද බලන්ඩ...'' එසේ කී

සාජන්වරයා නුදුරින් තිබූ මේසය මත ඇති පොත් කීපයක් පරීක්ෂා කරන්නට පටන් ගත්තේය.

ආගන්තුකයා පද්මේ අසලට ආවේය. ''ඔයාද පද්මේ කියන්නේ...'' ඔහු ඇසුවේය. අමුත්තා දෙස තීක්ෂණව බැලූ පද්මේ සැක කටයුතු කිසිම සළකුණක් නොවූයෙන් ''ඔව්... මං තමයි පද්මේ...ඇයි?''කියා ප්‍රශ්න කළේය. ''ඔයාට දෙන්ඩ බඩුවක් ගෙනාවා'' කියමින් අමුත්තා කලිසම් සාක්කුවට අත දැම්මේය.

ඊළඟ තත්පරයේ දී අමුත්තාගේ අත සාක්කුවෙන් එළියට විදුලියක් මෙන් ඇදුණේ බුවුනින් පිස්තෝලයක් සමඟය. ඒ වනවිටත් එහි ලිවරය ඔහුගේ දබරැඟිල්ලට සිරවී තිබිණ. ඉහළට ගත් හුස්ම හෙලන්නටවත් පද්මෙට අවසරයක් නොතිබිණ. හරියටම නළලටම පිස්තෝලය එල්ල කළ අමුත්තා දෙවරක් පිස්තෝලය පත්තු කළේය. ''බුදු අම්මෝ...මාව මැරුවෝ...'' කියමින් තුම්මුල්ලේ පද්මේ පොලිසියේ සීතල සිමෙන්ති පොළව මත කපා හෙලූ කෙසෙල් ගසක් මෙන් ඇද වැටුණේය.

මිනීමරුවා අල්ලා ගැනීමට පොලිස් භටයෙක් ඉදිරියට පැන්නේය. ඔහු වැරෙන් පසෙකට තල්ලු කර දැමූ ඝාතකයා කඩිනමින් පොලිසියෙන් පිටවී මහපාර අද්දර නවතා තිබූ වරෙල් වර්ගයේ බයිසිකලයක නැගී පවනට බඳු වේගයෙන් ඉගිලී ගියේය.

පාතාල ලෝකයේ අධිපතියා ගණන්කාරයකුවූ තුම්මුල්ලේ පද්මේ මහ දවාලේ පොලිසියක් තුළ දී මැරුම් කෑ පුවත කා තුළත් ඇති කළේ භීතියකි. එමෙන්ම දැඩි කුතුහලයකි.

**මහාචාර්යවරයෙක් පැහැරගෙන යාමේ දේශපාලන කොන්තරාත්තුවක්.**

දේශපාලන සූදුවේ දම් ඉත්තකු බඳු තුම්මුල්ලේ පද්මෙට සිය ජීවිතයෙන් පවා වන්දි ගෙවන්නට සිදු වූයේ ඉතා කණගාටු දායක අන්දමිනි. පොලිසියක් තුළ දී රුදුරු වෙඩි පහරකින් සිය හිස සුනු විසුනු වේ යැයි ඔහු සිහිනෙන්වත් නොසිතන්නට ඇත. එහෙත් කළකම් එළ දුන්නේය. තුම්මුල්ලේ පද්මේ නැමැති පාතාල ලොව හෙල්ලූ අයෝමය සොල්දාදුවා සදහටම මෙලොවින් සමු ගත්තේය.

ඔහුගේ ජීවිතයේ මා දුටු තවත් පැත්තක් ද විය. පාතාල ලෝකයේ විවිධ තරාතිරම්වල සොල්දාදුවන් හමු වී කතාබහ කර අත්දැකීම් ඇත්තකුට තුම්මුල්ලේ පද්මේ ගෙකරෙන් කිසියම් විශේෂත්වයක් දැකිය හැක. තුම්මුල්ලේ පද්මේ සිය ජීවිතයේ කිසිම අවස්ථාවක ස්ත්‍රී දූෂණවලට සම්බන්ධ නොවිය. එමෙන් ම තරුණ ගැහැණුන් පැහැර ගෙන යාමේ කොන්ත්‍රාත් ඔහු භාර ගත්තේ ද නැත. හෙරොයින් වැනි විනාශකාරී මත්ද්‍රව්‍ය අලෙවි කර කෙටි කලකින් කෝටිපතියකුවීමට ඔහුට හැකියාව තිබිණ. එහෙත් එහි ආදීනව ඇස් පනාපිට දකින්නට ලැබුණ බැවින් පද්මේ හෙරොයින් ජාවාරම හෙළා දුටුවා පමණක් නොව, ඒවා අලෙවි කර අසු වූ අයට සහ පාවිච්චි කළ අයට දැඩි දඬුවම් පැමිණවිය.

ගෙවල් බිඳුම්, මං පැහැරීම් ඔහු පිළිකුල් කළේය. ජීවත්වීම සඳහා කළේ එකම නීති විරෝධී ව්‍යාපාරයකි. එනම් කසිප්පු ජාවාරමයි. දිනකට වඩ් හතළිහ බැගින් කසිප්පු පෙරූ පද්මේ පාතාල ලෝකයේ කසිප්පු ජාවාරම්කාරයන්ගේ නම් ලැයිස්තුවේ ඉහළම තැනක් හිමි කරගත් සොල්දාදුවකු විය.

වෙඩි පහර කා මිය යාමට ආසන්න කාලයේ ඔහු තුළ එක්තරා සිහිනයක් විය. එනම් දේශපාලනඥයකු වීමයි. ඊට

අවශ්‍ය ඇතැම් සුදුසුකම් ද ඔහුට තිබිණි. මැරවර බලය, සමාදාන විනිශ්චයකාර පදවිය සහ ග්‍රාමෝදය තනතුරක් ද ඒ වන විටත් ඔහුට තිබිණ. එහෙත් ඒ සියල්ලම ඔහුට සිහින-යක්ම විය. තාන්න මාන්න ගරු සැලකිලි සියල්ලක්ම, මල් මාලාවක් මෙන් ඔහුට පළඳවා අනතුරුව පද්මේගේ ජීවිතය නැසීමට වැය කළේ රුපියල් දහයක් පමණ වටිනා 9 mm ගෑඩ් උණ්ඩයක් පමණි. ඒ තරම් අඩු ලන්සුවකට පාතාල ලොව සෙලවූ පද්මෙට ජීවිතයෙන් සමුගන්නට සිදු විය.

දේශපාලන සූදුවේ තරම එයින් මැනගත හැක. පද්මේගේ මරණයත් සමඟ ඔහුගේ සගයෝ සිය ජීවිත පිළිබඳව ඉතිරිව තිබූ ආශාව අතහැර දැමූහ. කොයි මොහොතක හෝ හීනටි කුඹුරෙන් පවත් මාරාන්තික ප්‍රහාරයක් එල්ල වෙතැයි බියෙන් ඔවුහු සලිතව සිටියහ. සිදුවූ දේවල් සහ ඉදිරියට සිදුවෙතැයි සිතිය හැකි අනතුරු කෙරෙහි ඉව කරමින් සිටි පද්මෙගේ මස්සිනා කෙනකුවන රනිල් 'ඩබල් ගේමක්' පටන් ගත්තේය. සිය ජීවිතය පිළිබඳ ආශාවෙන් ඔහු හීනටිකුඹුරේ විලීට සහ සැමිට තුම්මුල්ලේ සිදුවන සියලු දේවල් ගැන ඔත්තු සපයන්නට පටන් ගත්තේය.

කෙසේ වෙතත් මෙම වකවානුවේදීම මියගිය පද්මෙගේ සොහොයුරකු වන සෝමේ ඩුබායි සිට මෙහි පැමිණියේය. සිය සොයුරා අමු අමුවේ මරා දැමූ පුවත දැනගත් මොහොතේම ඔහු ගොස් දේශපාලනඥයා හමුවිය, 'මගේ අයියව මැරුවා... ඔකුන් එකෙක් නැර නැති කරනවා සර්...' ඔහු දේශපාලනඥ-යාට කීවේය.

දේශපාලනඥයාට එය තවත් හොඳ තුරුම්පුවක් විය. මිය ගිය පද්මෙ මඟින් ඉටු කරවා ගැනීමට තිබුණු වැඩ කටයුතු රාශියක් හීනටිකුඹුරේ විලී සහ සැමිගේ ඉක්මන්කම නිසා වැළකී ගිය බව දන්නා දේශපාලනඥයා බළලුන් ලවා කොස් ඇට බාවන්නට හොඳම වේලාව මෙම අවස්ථාව යැයි තීරණය කළේය.

''කලබල වෙලා බැහැ ළමයා මේවා කරන්න'' දේශ-පාලනඥයා සාන්ත දන්තව උපදෙස් පත්‍රිකාව දිගහරින්නට පටන් ගත්තේය.

''ළමයා ගිහින් හම්බවෙනවා... දේශපාලකතුමාව. මම එයාට ටෙලිෆෝන් කරලා කියන්නම්. හෙට අනිද්ද ඉලෙක්-ෂන් වැඩ ගොඩක් තියෙනව කරගන්ඩ. කිසි දේකට බය වෙන්ඩ එපා. ඔය ගොල්ලො කරන හැම වැඩක්ම ජේ. වී. පී. එක පිටින් යන්නත් බැරිනෑ. එහෙමත් නැතිනම් බල්ලෝ බළල්ලු පිටින්. ඒවා පිටින් දලා තමුනුත් වැඩක් කරගෙන අපිටත් සපෝට් එක දෙන්ඩයි තියෙන්නේ'' දේශපාලකතුමා ඇහට පතට නොදුනී කිවේය.

දින කීපයක් ගත විය. මියගිය පද්මෙගේ අඩුවට පැමිණි සෝමෙ ගැන පළාතේ කොයි කවුරුත් කතා කරන්නට පටන් ගත්තේය. සෝමේ පද්මෙ වැනි අයකු නොවේ. ඔහු පළාතේ කඩවලින් කප්පම් එකතු කරන්නට පටන් ගත්තේය. මෙය කොයි කාගේත් අප්‍රසාදයට හේතුවක් විය.

තුම්මුල්ලේ ගැමුණු මාවතේ පදිංචි පවුලකි. ඔවුන් වීසූ නිවසේ ඉදිරිපස කුඩා කඩයකි. මේ කඩය කරගෙන යමින් අඹු සැමි දෙපොළ සහ කුඩා පිරිමි දරුවන් තිදෙනා සතුටින් කාලය ගත කළහ.

දිනක් සෝමෙගේ ගෝලයකු කඩයට පැමිණියේය.''අන්න සෝමෙ අයියා රුපියල් පන්දහක් ඉල්ලුවා.'' ඔහු කඩ හිමියාට කිවේය. ''රුපියල් පන්දහක්, රුපියල් පන්සීයක්වත් බිස්නස් නැති කඩේකින් පන්දහක් ඉල්ලන එක හරි නැහැනේ. කමක් නෑ.. සල්ලි ඕනෙ නම් සෝමෙට එන්ඩ කියන්න.'' කඩහිමියා පැවසීය. ගෝලයා මෙම කතාව ලුණු ඇඹුල් දමා සෝමෙට කීවේය.

''අඩෝව් මම කවදද කප්පම් ගන්ඩ ගම වටේ ගියේ. පලයන් ගිහින් කියපන් පන්දහක් නෙමෙයි දහදහක් අරගෙන දැම්මම එන්ඩ කියලා.'' සෝමෙ ගිගිරුවේය.

එහෙත් කඩ හිමියා පැමිණියේ නැත. එදින රාත්‍රියේ කඩේ දොර ලෑලි අසලට පැට්‍රල් ස්වල්පයක් හැලූ දමරිකයෙක් එතැනට ගිනි තැබුහ. ඒ කඩ හිමියා ඇතුළු පවුල බිය ගැන්වීමටය.

පසුදින දහවල් කඩහිමියා පුරුදු පරිදි බඩුගෙන ඒමට පිටකොටුවට යන අවස්ථාව බලා සිට පැමිණි සෝමෙගේ ගෝලයකු දුම්මා ගොස් සෝමෙව හමුවන ලෙසට ඔහුගේ බිරිඳට කීවේය. නොගියොත් ඒ මොහොතේම කඩයට ගිනි තබා පවුලම මරා දමන බවට බිය ගැන්වීය.

කුමකින් කුමක් සිදුවේදෝයි බියෙන් ගැහෙමින් ඈ සෝමෙ නැවතී සිටි තැනට ගියාය. එය කුඩා නිවසකි. එහි ඇතුළු වූ ඈ මුලින්ම දුටුවේ ඉදිරිපස මේසය මත තබා තිබූ රිපීටර් තුවක්කු තොගයකි. එතැන අඩුම තරමේ රිපීටර් තුවක්කු විසිපහක් පමණ තිබෙන්නට ඇතැයි ඇයට හැඟුණි. ග්‍රෙනේඩ් අත් බෝම්බ, ඩප්පි, මාමයිට් බෝම්බ, රම්බෝ පිහි තුවක්කු තොගය වටා තිබුණේ ප්‍රදර්ශනයකට මෙනි. කාමරය තුළ හැඩි දැඩි පිරිමි දහ දෙනකු පමණ වූහ.

වාඩි වී සිටි පුටුවෙන් නැගිට ගෙතුළට ගිය සෝමෙ මොහොතකින් යළි ආවේ තවත් තුවක්කුවක් අතැතිවය.

'මෙතන විතරක් නෙමෙයි... ඇතුළෙත් තව බඩු තියෙනවා' යැයි නොකියා කීම ඔහුගේ හැඟීම විය.

සෝමෙ කාන්තාවගේ කට ළඟටම තුවක්කුව එල්ල කළේය. ''තොට වෙඩි තියලා මරන්ඩ ඕනේ නැ යකෝ'' කියමින් ඔහු කාමරයේ තැනින් තැන ලැග සිටි දුෂ්ටයන් දෙස බැලුවේය. අනතුරුව කොක් හඬලා සිනාසුණේය. දුෂ්ටයෝ පිරිපුන් ගොදුරක් දුටු ව්‍යාඝ්‍රයන් මෙන් ගැහැණිය දෙස බලන්නට වූහ. ගැහැණියගේ දෑසින් කඳුළු කඩා හැලෙන්නට ඔවුනගේ ඒ බැල්ම ප්‍රමාණවත් විය. එපමණක් නොව, ඇය කෙතරම් බියට පත් වූවාද කිවහොත් මර බියෙන් වෙව්ලා දෙපා අඩපණ වී බිම ඇද වැටුණාය.

''තොපි මේ දැන්ම මේ ගමෙන් යන්ඩ ඕනේ. නොගියොත් ...'' කියමින් සෝමෙ යළිත් ව්‍යාඝ්‍රයන් දෙස බලා උස් හඬින් සිනාසුණේය.

මෙම තුවක්කු තොග්ය සෝමෙට ලබා දෙන ලද්දේ ඉහළ පෙළේ දේශපාලනඥයකු විසිනි. මැතිවරණ උණුසුමත් සමඟ දල්වන ගිණුණයේ ගිනිදැල් තව තවත් අවුළුවා සතුරන් මරා

මිතුරන්ට ජයපැන් බීමට අවස්ථාව උදාකර ගැනීම අරමුණු කොට මෙම රිපිටර් තුවක්කු තොගය සපයා තිබිණ.

මේ අතර පද්මෙගේ සහ තමාගේ මස්සිනා වන රනිල් හීනටිකුඹුරත් සමඟ රහසේ පවත්වාගෙන යන ඇසුර සෝමෙට දැන ගන්නට ලැබිණ. මෙම ආරංචිය ඔහුට ලැබෙන විට දහවල් එකට පමණ ඇත. ''මගේ අයියව මරපු උන්ට ඔත්තු දෙන... අද මම තියන්නෙ නෑ'' සෝමෙ ගිගුරුවේය. අසල තිබූ රම්බෝ පිහියක් අතට ගත් සෝමෙ පිස්සකු මෙන් රනිල් සොයා ගියේය.

ඒ අවස්ථාවේ රනිල් සිය මිදුලේ අඹගස් සෙවණේ බුරුඇඳක වැතිර මඳ පවනේ මිහිර විඳිමින් සිටියේය. අඹකොළ සර...සරගා සෙලවෙද්දී විහිදුන අඹ සුවඳ මුසු මඳ සුළඟේ සනීපයට රනිල්ගේ දෑස් සෙමෙන් පියවුණේය. ඒ සමගම ඔහුගේ ගෙළ මත සියුම් සීතලක් තැවරෙනු දැනිණ. එහෙත් පියවී තිබුණ දෑස් විවරකිරීමට තරම් අවකාශයක් රනිල්ට නොලැබුණි. තියුණු රම්බෝ පිහිතලය උගුරු දණ්ඩ වෙන් කරමින් කොඳු ඇට පෙළ දක්වා තත්පරයෙන් කිඳා බැස්සේය.

උඩට විදද ලේ දහරාවෙන් සෝමෙගේ මුහුණ තෙමී ගියේය. රම්බෝ පිහිය ඉහළට එසවූ සෝමෙ එහි දෙපැත්තේ තැවරී තිබුණු ලේ දිව ගෑවේය. යළිත් පිහියේ ලේ තැවරවේය. එය නැවතත් දිව ගෑවේය. මෙසේ කීප වතාවක් සිය සතුරාගේ අමු ලේ දිව ගා සිත පුරවා ගත් සෝමෙ අනතුරුව සිය කාමරයට පැමිණ දොර වසා දමා කිසිවක් නොවූ පරිද්දෙන් ඇඳ මත වැටී නිදා ගත්තේය.

මෙ අතර මහාචාර්යවරයෙක් පැහැර ගෙන යාමේ කොන්ත්‍රාත්තුව භාරගත් හීනටිකුඹුරේ විලී, සැමී දෙපොළ සිය ඔත්තු සේවාවේ අවසන් දිනයද සාර්ථක අන්දමින් නිමකර පැමිණ බම්බලපිටියේ ඔස්කා හමු වූහ.

''හෙට හැන්දෑවේ පහට මහාචාර්යතුමා දේශනයක් පවත්වනවා එක තැනක.'' කෝටිපති ඔස්කා නිහඬතාව බින්දේය. ''මේ දේශනයට යන්ඩ මිනිහා ගෙදරින් පිටත් වෙන්නේ

හැන්දෑවේ 4.30 ට. හරියටම හැන්දෑවේ 4.45 ට මිනිහා මේ පාළම පනු කරනවා.'' කියමින් ඔස්කා නම්, ගම් සහිත රූප රාමුවක් විලි සහ සැම් ඉදිරියේ තැබුවේය.

''අන්න එතකොට ඔයගොල්ලෝ වාහනය නතර කරලා මිනිහා තමුන්ගේ වාහනයට දගන්ඩ ඕනේ. කෙලින්ම හිනටී කුඹුරට ගිහින් පැය හතරක් හිර කර. ගෙන ඉන්න ඕනේ. හැබැයි එකක් මතක තියාගන්න ඕනේ. මිනිහගේ කෙස් ගහ කටවත් අනතුරක් කරන්න බෑ. තමුසෙලට තේරුණාද?'' ඔස්කා නියෝග කළේය.

පසුදින සැන්දෑවේ දේශන ශාලාව අතුරු සිදුරු නැතිව පිරී තිබිණ. විපක්ෂයේ නායකයෝ සියලු දෙනාම ඒ වනවිටත් පැමිණ සිටියහ. එකල පැවැති දේශපාලන තත්ත්වය හා නැඟිගිය දේශපාලනඥයකු පිළිබඳ ප්‍රධාන දේශනය පැවැත්වීමට නියමිත මහාචාර්යතුමා පැමිණිය යුතු වේලාව පසු වී පැය කාලක් පමණ ඒ වන විටත් ඉක්ම ගොස් තිබිණ.

ශාලාව ටිකෙන් ටික නොසන්සුන් වන්නට පටන් ගත්තේය. හදිසියේම එතැන සිටි විපක්ෂයේ ඉහළම අයකුට දුරකතන ඇමතුමක් ලැබිණ. අනතුරුව සභාව සන්සුන් කරමින් කතා කළ හේ මහාචාර්යතුමා නාඳුනන පිරිසක් විසින් මීට මොහොතකට පෙර පැහැර ගෙන ගොස් ඇති බව දැනුම දුන්නේය. 'ජේ වී. පී. කාරයන්ගේ වැඩක් ද?' තැනින් තැන කසු කුසු පැතිරෙන්නට පටන් ගත්තේය.

එදින රූපවාහිනී ගුවන් විදුලි ප්‍රවෘත්ති හා පසුදින පුවත්පත් මගින් මෙම ප්‍රවෘත්තිය මුළු රටටම පතුරුවා හැරියේය. එපමණක් ද නොව විදෙස් ප්‍රවෘත්ති මගින් ද මෙම පැහැර ගෙන යාම මුළු ලෝකයටම හෙළි කළේය. ශ්‍රී ලංකාවේ රජයට විවිධ අයුරින් තර්ජන එල්ල කරන ජනතා විමුක්ති පෙරමුණේ සන්නද්ධ අංශය විසින් මෙම 'බිහිසුණු ක්‍රියාව සිදු කළ බව ඉන් ප්‍රකාශ විය.

ජනතා විමුක්ති පෙරමුණේ සුළඟක්වත් නොගැවුණු මෙම සිද්ධිය දේශපාලනඥයන් කිප දෙනකුගේ ඕනෑකමක් මත සිදු කෙරුණ පැහැර ගැනීමක් බව කිසිවකු හෝ අනුමාන කළේ නැත.

හීනටිකුඹුරේ පාලු නිවසක කාමරයක සිර කළ මහාචාර්යතුමාට පානය කිරීම සඳහා සීත කළ බීම බෝතල

කීපයක් ගෙනැවිත් තැබූ විලී සහ සැම් අනතුරුව මෙම අරුම පුදුම පුද්ගලයා සමඟ දන්න ඉංග්‍රීසියෙන් කතා කරන්නට පටන් ගත්හ. ඔස්කා මහත්තයාගේ 'ඕඩර්' එකක් උඩ මෙම පුද්ගලයා පැහැර ගෙන ආවා මිස ඉන් එහාට කිසිම තොරතුරක් මොහු සම්බන්ධව විලී හෝ සැම් දැන සිටියේ නැත. මහාචාර්යතුමා ව්‍යක්ත ඉංග්‍රීසියෙන් කළ කතාවේ අකුරක්වත් තේරුම් ගැනීමට ඔවුනට හැකි වූයේ ද නැත. ඒ අතරම සගයෙක් දිව ආවේය.

"විලී අයියා දන්නවද මේ මහත්තයා කවුද කියලා." ඔහු ඇසුවේය.

"ඒක දැන ගන්ඩ තමයි බං මේ වලිකන්නේ" විලී කීවේය.

"එහෙනම් ඉක්මනට ගිහින් ප්‍රවෘත්ති අහන්න." ඔහු පැවසීය. ආරංචිය ගෙනා අය මහාචාර්යතුමාගේ ආරක්ෂාවට නැවතූ විලී හා සැම් යාබද නිවසකට දිව ගියහ.

මහාචාර්යතුමා වටේ වරක් දෙවරක් කැරකුන ආරක්ෂකයා මේසය මත තිබුණු පිස්තෝලය අතට ගත්තේය. පුටුවකට තබා අත පය වෙළා සිටි මහාචාර්යතුමා ළඟට පැමිණි ඔහු මීයකුට කුරුමානම් අල්ලන බළලකු මෙන් මහාචාර්ය තුමා වටා තවත් රවුමක් ගියේය. මෙවැනි 'චාන්ස්' එකක් මීට පෙර ඔහුට ලැබී නැත. ලැබුණු වාරයෙන් ප්‍රයෝජනයක් ගැනීමට ඔහු සිතුවේය.

"ඇරපිය නාකියා කට" ආරක්ෂකයා පිස්තෝලය මහාචාර්යතුමාගේ කටට එබුවේය. අනතුරුව ඔහුගේ හිසකෙස්වලින් ඇද්දේය. කෙනිත්තුවේය. මහපටැඟිලි පෑගුවේය.

මේ අතරේ කාමරයට කඩා වැදුන විලී හා සැම්ට මෙම සම්භාවනීය අමුත්තාට කරන වධහිංසා දකින්නට ලැබිණ. ඉන් ඔවුහු කෙතරම් කෝප වූවාද කිවහොත් මහාචාර්යවරයා ඉදිරිපිටම දෙදෙනාම එකතු වී සිය සගයාට හොඳ හැටි තැලූහ.

"දනගහලා ඉල්ලපිය සමාව..." සැම් ගිගුරුවේය. ඒ වනවිට අත්පාවලින් හා පොලුවලින් හොඳහැටි පහරකා

අඩපණව සිටි සගයා මහාචාර්යතුමාගේ දෙපා ළඟ වැඳ වැටී සමාව ගත්තේය.

අනතුරුව අත්පාවල බැමි ගලවා නිදහස් කොට මහාචාර්යතුමාගේ දෑස් යළිත් ගැටගසා ගෙන ගොස් පැහැරගෙන ආ තැනට නොදුරින් බස්සවා විලී සහ සැමී ඔස්කා මිහත්තයා හමුවීමට බම්බලපිටියට ගියහ.

කෙසේ වෙතත් මෙම සිද්ධිය ජ. වි. පෙ. මත පැටවීමට සමහරු දැරූ උත්සාහය සාර්ථක නොවන තැනට කරුණු සැලසුණි. විපක්ෂය ජාත්‍යන්තර මට්ටමින් පරීක්ෂණයක් ඉල්ලීම මීට ප්‍රධාන හේතුව විය. විපක්ෂයේ පුවත්පත්වලින් මෙම සිද්ධිය සම්බන්ධයෙන් තොරතුරු ලුහුබැඳ යන්නට පටන් ගැනීම නිසා දේශපාලනඥයන් කීප දෙනකුගේ ඉහමොළ රත්වන්නටද විය.

පසු දිනෙක එක්තරා පුවත්පතක තිබූ ප්‍රවෘත්තිය දුටු ඔස්කාගේ සිත ගැස්සී ගියේය. මහාචාර්යතුමා පැහැර ගෙන යාම සම්බන්ධයෙන් එක්තරා කෝටිපති ව්‍යාපාරිකයකු පසුපස රහස් පොලිසිය පන්නන බව එම ප්‍රවෘත්තියෙන් කියැවිණ. ඔස්කා බියට පත්විය. සිය කිව්වූ ඥති විරියකට පමණක් මෙම රහස හෙළි කළ ඔස්කා කොන්ත්‍රාත්තුව භාරදුන් දේශපාලනඥයා මුණ ගැසීමට ගියේය.

''තමුන්නාන්සේලා සිද්ධිය යට ගහනවා කිව්වට දූන් මතුවෙනව වැඩියිනේ'' ඔහු කීවේය.

''හරි... හරි ලොක්කා සේරම බලා ගනී...'' දේශපාලනඥයා ඔස්කාගේ සිත සනසන්නට පටන් ගත්තේය.

''එහෙම කියලා බෑ. බැරිවෙලා හරි මාව කස්ටඩි එකට (අත් අඩංගුවට) ගත්තොත් අල ගිය මුලගිය තැන් ඔක්කොම එළියට දානවා.'' ඔස්කා තර්ජනාත්මක ස්වරයෙන් දේශපාලඥනයාට කීවේය.

එනපොට හොඳ නැති බව තේරුම් ගත් දේශපාලකතුමා, තවත් කුරුම්පුවක් ඇදීමට දේශපාලන කුට්ටම අතාන්ට පටන් ගත්තේය.

ඒ වනාහි මෙරට දේශපාලන ඉතිහාසයේ බිහිසුණු අවදියකි. බිහිසුණුම ජනාධිපතිවරණය පැවැත් වූ සමය වශයෙන් නම් කළාට ද වරදක් නැත. දර ගොඩවල් මෙන් පිළිස්සෙන මළ සිරුරු දිවයිනේ සෑම ගම් දනව්වකම පාහේ දකින්නට ලැබිණ.

හදිහබ කරගත් යොවවමින් අඹු දරුවන් සමග බත්-වේලක් කා නින්දට වැටුණ සිය ගණනකට පසුදින අලුයම යළි නැගිටින්නට මෙම කාලකන්නි යුගයේ දී වාසනාවක් නො තිබිණි. හිටිහැටියේම රෑ දෙගොඩහරි ජාමයේ දොරවල් කඩා ඇතුළු වන සන්නද්ධ කල්ලි පවුල් පිටින් පැහැර ගෙන ගොස් වෙඩි තබා හෝ අමු අමුවේ ටයර් දමා පුළුස්සා හෝ මරා දැමූහ.

නැතිනම් මුළු ගෙදරටම ගිනි තබා ඒ ගින්න මුළු පවුලටම චිතකයක් කළේය.

දයාවේ, අනුකම්පාවේ තෙතමනය කෲර පළිගැනීමේ චේතනාවෙන් වියලා හැර දහම් දිවයින ලේ විලක් බවට පත් කළ මෙම අමානුෂික යුගයේදී ජනතා විමුක්ති පෙරමුණ නමින් කළ බොහෝ අපරාධ දේශපාලන කෝන්තර පිරිමසාලීමට බල්ලෝ බළල්ලු හෝ ඒවාට සම්බන්ධ වෙනත් සන්නද්ධ කල්ලි විසින් සිදු කරන ලද බව පාතාල ලෝකයේ අද ජීවතුන් අතර සිටින අය නො දන්නවා නොවේ.

ජනතා විමුක්ති පෙරමුණ මගින් (එහි සන්නද්ධ අංශය මගින්) කිසිම අපරාධයක් සිදු නොකළ බව තහවුරු කිරීම මෙහි අරමුණ නොවේ. ඇතැම් අවස්ථාවලදී සම්භාවනීය හෝ රාජ්‍ය තන්ත්‍රයේ පුද්ගලයන් මරා දමන ලද්දේ ජනතා විමුක්ති පෙරමුණ විසින් යැමදින ආකාරයටය. ඊට හොඳම සාක්ෂිය වූයේ කවුරුන් මැරුවත් කවුරු මළත් මළ සිරුර අසල "දේශද්‍රෝහීන්ට දඬුවම මරණය" -දේශප්‍රේමී ජනතා ව්‍යාපාරය. යනුවෙන් සඳහන් පත්‍රිකාවක් දමා යාමය. පසුකාලයේදී එම ඝාතන මෙම ව්‍යාපාරය මගින් සිදු නොකෙරුණ බවට සාක්ෂි ලැබිණ.

රජයේ ඉහළම තන්ත්‍රයේ අයකුගේ ඥාතියකු මේ වන විටත් මහාචාර්යවරයා පැහැරගෙන යාම පිළිබඳ පරීක්ෂණ කටයුතු සියතට ගෙන සිටියේය. ඔහු කලබල කාරයකු නොවේ. නමුත් මන්දගාමී අයකුද නොවේ. කඳු මුදුනක සිට මිටියාවතේ සිදුවන සියලුම දේ දුර දක්නයකින් බලන්නාසේ ඔහු රජයේ ඉහළම පුටුවක සිට පහත මාලයේ වන සෑම ක්‍රියාදාමයක්ම අධ්‍යයනය කළේය.

ඔහුට තිබුණේ සියුම් ඉවකි. තමන් යටතේ සේවය කළ නිලධාරීන් රැගෙන එන ඇල්පෙනෙත්තේ තුඩ පවා මැනවින් පරීක්ෂා කළේය. කෙසඟ සිරුරකින් හෙබි මොහුට මෙතරම් දැවැන්ත වැඩ කළ හැකි යැයි කිසිවකු හෝ විශ්වාස නොකරන්ට ඇත. එය නවත් අතෙකින් ඔහුට අත් වූ වාසියකි.

මේ අතර ඔස්කාට සිය නිවසේ ගත කරන කාලය අනතුරුදායක බව දැනෙන්නට පටන් ගත්තේය. තමා දේශපාලකතුමාට කතා කළ අන්දම සැර වැඩි යැයි ඔහු සිතුවේය. තමාගේ කතාවෙන් දේශපාලකතුමා අමනාප වී නම් තවදුරටත් මෙලොව ජීවත්වීමට තිබෙන ආශාව අත්හැර දැමිය යුතු යැයි ඔහුට හැඟුණි.

එවකට දේශපාලන බලයේ ඉහළම තැනක සිටි එතුමා සමඟ තමාගේ නෝට්ටුවලට හැපෙන්නට බැරි බව හේ තේරුම් ගත්තේය. ''නිකම්ම නිකං බල්ලෙක් වගේ මැරුම් කන්නේ මොකට ද? යන යකා කොරහත් බිඳගෙන පලයන් කියලා ඔක්කොම එළියට දාන්න ඕනේ...?'' ඔස්කා අන්තිමට තීරණය කළේය.

හෙතෙම සෙල්ටලය අතට ගත්තේය. නොම්මර කීපයක් ඔබා ඇමතුවේය. එහා කෙළවරේ සිටියේ අප මුලින් සඳහන්

කළ පුද්ගලයාය. "මට සර්ව හම්බ වෙන්ඩ ඕනේ.. " ඔස්කා කීවේය. "මොකක්ද වුවමනාව? " අනෙක් කෙළවරින් ඇසුවේය.

"සර්ට දෙන්න හොඳ ආරංචියක් තියෙනවා. මගේ ජීවිතෙත් කොයි වෙලාවේද කියලා නෑ. මැරෙන්ඩ ඉස්සෙල්ල ..." ඔහුට කියන්න ලැබුණේ එපමණකි. ඔස්කාගේ ඥතියකු එක්තරා අමුත්තෙක් කැඳවා ගෙන පැමිණියේය. "මම තව ටිකකින් කතා කරන්නම්" කියා සෙල්ටලය පැත්තකින් තැබූ ඔස්කා අමුත්තා පිළිගත්තේය.

ඔස්කා වැනි ධන කුවේරයකු හමුවට ආවට ගියාට අමුත්තන්ට පැමිණිය හැකිදැයි ඔබට සැකයක් උපදින්නටද බැරි නැත. මෙ පැමිණි අමුත්තා මුළු රටම දන්න හඳුනන අයෙකි. ඔහු ජනප්‍රිය නළුවෙකි. දේශපාලන ක්ෂේත්‍රය සමඟ ඉතා සමීප සබඳකම් ඇත්තෙකි. ඔස්කා වැනි ධනවතුන් ඔහුගේ කුළුපග මිතුරෝ වෙති.

"ඉතින් ලාල් කොහොමද? මොකද මේ හදිස්සියේම" ඔස්කා මිතුරාට හිඳ ගැනීමට ආරාධනා කරමින් ඇසුවේය. "ආවේ නම් ආරාධනයක් කරන්ඩ. බෑ කියන්නේ නැතුව එන්න ඕනේ." මිතුරා කීවේය.

මෙ අවස්ථාව ආරාධනා පිළිගැනීමට තරම හොඳ කාලයක් නොවේ. ඔස්කාට එසේ සිතුණ නමුත් කලෙකින් හමු වූ මිතුරාගේ ඉල්ලීම ප්‍රතික්ෂේප කරන්නටද ඔහුට අමාරුය. "මට පොඩ්ඩක් සනීප මදි ලාල්. අද හැන්දෑවට මම... හොස්පිටල් එකට ඇඩ්මිට් වෙන්නයි හිතාගෙන ඉන්නේ. ටික දවසක් එහෙ ඉන්න වේවි." ඔස්කා කීවේය.

"කමක් නෑ. මම ආවේ මගේ ෂෝ එකේ ප්‍රධාන අමුත්තා හැටියට ඔස්කාට ආරාධනා කරන්න සනීප තිබුණොත් එදාට නොවරදවාම එන්න." මිත්‍රයා කීවේය.

එදින සවස ඔස්කා අගනුවර එක්තරා සුඛෝපභෝගී රෝහලකට ඇතුළු විය. ඔහුට කිසිම අසනීපයක් නොතිබුණ. නමුත් මරණ බිය ඔහුගේ මුළු සිරුර පුරා පිළිකාවක් මෙන්

දුවගොස් තිබිණ. කිසිම පුද්ගලයකුට කාමරයට ඒමට ඉඩ නොදෙන ලෙසට ඔස්කා රෝහලේ පරිපාලන අංශයට දැනුම දුන්නේය.

කෙසේ වෙතත් ඔස්කා හදිසියේම රෝහල්ගත වීම ගැන ගැන ඉපදුනු දේශපාලනඥයා වචින් පිටින් ඒ පිළිබඳව විපරම් කර බැලුවේය. ඔහු හමුවීමට කිසිවකුට හෝ ඉඩ නොදෙන ලෙසට දී ඇති නියෝගය දැනගත් මොහොතේ දේශපාලනඥයා තුළ ඔස්කා කෙරෙහි තිබූ සැකය තවත් තීව්‍ර විය. එපමණටම දේශපාලනඥයා බියට පත් විය.

මහාචාර්යවරයා පැහැර ගෙන යාමේ සිද්ධිය හෙළි කරන්නට කළ සැලසුමක එක්තරා ප්‍රයෝගකාරී පියවරක් වශයෙන් ඔස්කා රෝහල්ගත වන්නට ඇතැයි දේශපාලනඥයා නිගමනය කළේය. වහාම සිය ආරක්ෂක නිලධාරීන් කැඳවූ දේශපාලනඥයා ඔත්තුකරුවන් ලවා ඔස්කා මුණ ගැසීමට පැමිණෙන යන එන පුද්ගලයන් පිළිබඳව තොරතුරු දැනුම් දෙන ලෙසට නියෝග කළේය.

දින හතරකට පමණ පසු දේශපාලනඥයාට ඔත්තුවක් ලැබුණේය. ඔස්කා සමග දුරකථනයෙන් කතා කළ පුද්ගලයා ඔහුට ලැබුණ තවත් පණිවිඩයක් අනුව ඔස්කා හමුවන්නට රෝහලට ගියේය. මෙය දැනගත් දේශපාලනඥයාට නින්දකිය දමන්නට විය.

ඔස්කා හමුවන්නට ගිය නමුත් මෙම පුද්ගලයාට එදින ඔස්කාගෙන් වචනයක් ගැනීමට බැරි විය. කුමක් හෝ හේතුවක් මත මහාචාර්යවරයා පැහැරගෙන යාමේ සිද්ධිය ඔහු හෙළි නොකළේය. එසේ හෙළි කළේ නම් වටිනා ජීවිත රැසක් අකාලයේ මරු තුරුලට නොයනු ඇත.

තමාට වැදගත් ආරංචියක් කීමට ඇති බැවින් පසුදා රාත්‍රී දහයට පමණ පැමිණ හමුවන බව පමණක් ඔස්කා කීවේය. එපමණකි.

පසුදා ඔස්කා රෝහලෙන් පිටව යාපාගෙන ගෙදර ගියේය. යන්නට වෙන තැනක් තිබිණි නම් ඔහු යන්නේ

එතැනටය. නමුත් වෙන කරන්නට දෙයක් නැති නිසා ගෙදරම ගියේය.

දහවල් දෙකට පමණ ඔස්කාට දුරකතන ඇමතුමක් ලැබිණ. ඒ ඔහුගේ නළු මිත්‍රයාගෙනි. "එහෙම නම් හැන්දෑවට එනවා නේද?" ඔහු ඇසුවේය. ගැලවෙන්නට හැරීම නැත ඔස්කා ආරාධනාව පිළිගත්තේය.

එදින සවස ඔස්කා සිය පෙම්වතිය සමග ගමනට සූදානම් විය. සම්පූර්ණ යුරෝපීය ඇඳුම් කට්ටලයකින් සැරසුන ඔස්කා සිය අලුත්ම මෝටර් රථයෙන් රංග ශාලාව වෙත ගියේය. සියලු දෙනාම නැගිට උණුසුම් අත්පොළසන් නාදයක් පිරිනමා ඔස්කා සහ ඔහුගේ පෙම්වතිය පිළිගත්හ. චාරිත්‍රානුකූලව පොල්තෙල් පහන ඔස්කා අතින් දැල්වීමෙන් අනතුරුව රංගනය ඇරඹිණ.

සිය නළු මිතුරාගේ හාස්‍යජනක රංගනය ඔස්කාගේ සිත හදින් ඇද බැඳ ගත්තේය. බියෙන් තැතිගෙන තිබූ ඔහුගේ සිතට එම රංගනය ඉමහත් ආශ්වාදයක් ගෙන දුන්නේය.

රංගනය නිමා වීමෙන් පසු ඔස්කා සිය පෙම්වතියද කැටිව පැමිණ රථයට ගොඩ විණ. ඒ අසලම තිබූ දැවැන්ත ගසකට මුවා වී සිටි පුද්ගලයෙක් හෙමින් සීරුවේ රථය පිටුපසින් ඔස්කා අසලට ආවේය.

ඔස්කා යතුර කරකවා මෝටර් රථය පණ ගැන්නුවේය. ආගන්තුකයා සිය කබාය තුළට අත දමා සැණෙකින් එය එළියට ඇද්දේය. ඔහුගේ අතට කවදත් නොවරදින බ්‍රවුනින් වර්ගයේ පිස්තෝලය ඒ වනවිටත් සිර වී තිබිණ. පිස්තෝලයේ මුව ඔස්කාගේ දකුණු කනට සිරකළ ආගන්තුකයා දෙවරක් එහි ලිවරය ගැස්සුවේය. යාබද අසුනේ ගැහැණියගේ මර–ලතෝනිය වෙඩිහඬ පරදවා නිහඬ පරිසරය පුරා දෝංකාර දෙන්නට විය. සිය රාජකාරිය අවසන් කළ ඝාතකයා පවනට බඳු වේගයෙන් දිවගොස් යාබදව නවතා තිබූ ටරේල් බයිසිකලයක නැගී කැලි කැපිය හැකි අඳුරේ නොපෙනී ගියේය.

ඉකුත් ජනාධිපතිවරණය පැවැති වකවානුවේ අප කවුරුත් රැය පහන් කළ ආකාරය පිළිබඳව අමුතුවෙන් මතක් කර දිය යුතු නොවේ. ඒ කාලයේ දී පමණක් නොව ගිනි දවාලේ පවා ජනයාගේ හදවත් බියෙන් සැලුණි. පුංචි කුඩු කැල්ලකට මුළු පළාතම, ඇතැම් විට මුළු රටම කඩ සාප්පු වැසී ගියේය. 'නියෝග කඩ කරන්නාට දඬුවම මරණයයි......' මැයෙන් මංසන්ධිවල බිත්ති කඩ සාප්පුවල ගස් ගල්වල පෝස්ටර් ඇලවිණ. අවියට උණ්ඩයට බියෙන් මුළු රටම නිහඬ විය.

අවි අත නැති උන් බියෙන් මුළු ගැන්වෙද්දී අවි අත දරූ උන් රෑ දවල් වෙනසක් නැතිව මිනිසුන් පැහැර ගෙන ගියහ. දෙතිස් වද දී මරා දැමූහ. මේ සියලු බේදවාචකයන්ට අන්තිම ඉලක්කය වූයේ ජනාධිපතිවරණයෙන් සිය පක්ෂයට ජය ලබා දීමයි. බල්ලන් බළලුන්ට වඩා මිනිසුන් ඒ වෙනුවෙන් දිවි පිදූහ.

ගිනි දවල් මිනිසුන් පැහැරගෙන යාම සහ රෑ තිස්සේ පෙජරෝ වැනි වාහනවලින් ගොස් කරන සියලුම අපරාධ ජනතා විමුක්ති පෙරමුණ මත පැටවීම නිසා අනෙකුත් පක්ෂ නියෝජනය කළ පාතාල ලෝකයේ 'කොන්ත්‍රාත්කාරයින්ට' මෙය කාලෙකින් ලැබූ ලොතරැයි දිනුමක් විය. එම 'ජිම්කානා ලොතරැයියේ' අලුත්ම දිනුම හිමිකර දීම සඳහා ප්‍රබල දේශපාලනඥයා විසින් ගිනටිකුඹුරේ විලි සහ සැමිව සැඳවනු ලැබිණ.

මේ වන විට මහාචාර්යතුමා බලහත්කාරයෙන් පැහැරගෙන ගිය සිද්ධියට වසරක් පිරෙමින් තිබිණ. පොලිස් නිලධාරීන් විසින් කෝටිපති ඛස්කාගේ මරණය සහ මහාචාර්යවරයා පැහැරගෙන යාමේ සිද්ධියේ ඇති සම්බන්ධකම් හීන්

නුලෙන් පරීක්ෂාවට භාජනය කරමින් තිබූ අවධියයි. ඒ කෙසේ වෙතත් මහාචාර්යවරයා පැහැරගෙන යාමේ සිද්ධිය ඇතුළෙම වැඩක් බව දත් දේශපාලකතුමා පොලිසියේ උකුසු ඇස් විලි සහ සැමී දෙසට යොමුවී තිබෙන බව හීන් නූලෙන්ම දැන ගත්තේය. 'බළලා මල්ලෙන් එළියට පනින්නට පෙර' විලිගෙන් සහ සැමීගෙන් වැඩ දෙකක් ඉටුකරවා ගන්නට මෙහෙතෙම තිරණය කළේය.

විලිව සහ සැමීව කැඳවූ දේශපාලකතුමා පළමුවෙන්ම කළේ මහාචාර්යවරයා පැහැර ගෙන යාමේ සිද්ධිය එළියට ඇදීමයි. විලිට සහ සැමීට කට උත්තර නැති විය. මුළු රටටම හොරෙන් කළ මෙම අපරාධය දේශපාලක තුමාගේ කණට වැටුණේ කොතැනකින් දැයි ඔවුනට සිතා ගැනීමටවත් බැරි විය. මාරක තොණ්ඩුව ටිකෙන් ටික සිය ගෙළට සමීප වන බවක් ඔවුනට හැඟුණි. එහෙත් දේශපාලකතුමා කළ කතාවෙන් පසු දෙදෙනා තුළ ඉමහත් අස්වැසිල්ලක් විණි.

''කොහොම වුණත් තමුසෙලා ගමේ ඉන්න එපා, මෙහේ නතර වෙනවා. සේරම දේවල් මං බලා ගන්නම්. අයිසේ තමුසෙලා අපට සපෝට් එකක්නේ දුන්නේ. පොලිසියට පුළුවන් ද අපේ සපෝටර්ලාට පාට් දන්න.' දේශපාලකතුමා කපටි ඥානය මනාව හසුරුවමින් සැමීව සහ විලිව සන්සුන් කෙළේය.

''තමුසෙල දන්නවානේ... දැන් අපේ දේශපාලකතුමාට තමුසෙලාගෙ සපෝට් එක ඕනෑ කරන වෙලාව. මේ වෙලාවේ දි තමුසෙලා එයාට සපෝට් එකක් දුන්නොත් ඔය මහාචාර්ය වරයා ගැන පැවැත්වෙන පරීක්ෂණත් එක ටෙලිෆෝන් කෝල් එකකින් පුළුවනි නතර කරවන්ඩ. මොකද කියන්නේ'' දේශපාලක තුමා දෙදෙනාගෙන් ප්‍රශ්න කෙළේය.

තමන් වැටී ඇත්තේ දරුණු අගාධයක බව විලිට හා සැමීට තේරුම ගන්නට අපහසු වූයේ නැත. එහෙත් වැළලී ගිය අතීතය හෝ උදාවන අනාගතය ගැන අමුතුවෙන් කල්පනා කරන්නට තරම් විවේක සිතක් දෙඅදනා තුළම නොතිබිණ. වැටුණු වලෙන් ගොඩ එන්නට එක වැඩක් නොව වැඩ සියයක් හෝ ඉටුකරවා දීමට ඔවුහු නො පැකිළුණහ.

''කියන්න සර්... ඕන දෙයක් කියන්න. දෙන්නම තිකට'' විලි කීවේය. දේශපාලනඥයා ගේ මුව ග මත ඇඳුනේ සිහින් සිනහවකි. ''මේක අයියේ මිනියක් දෙකක් මරණවා වගේ ලේසි වැඩක් නෙමෙයි. ඊට වඩා ටිකක් බරපතල වැඩක්.'' දේශපාලකතුමා ඇඟට පතට නොදැනී කීවේය.

''මරන්ඩ, උස්සන්ඩ, පෙරලන්ඩ, අදින්ඩ...ඔනෑ එකකට අපි රෙඩි සර්...'' සැම් දේශපාලකයාට ගැළපෙන උත්තරයක් දුන්නේය. ''එහෙමද? මම තමුසෙලව විශ්වාස කරනවා. හැබැයි රජේ... පණ පිටින් හම ගැහුවත්... වචනයක්වත් හොල්ලන්ඩ නහනම්...'' දේශපාලකයා අනතුරු ඇඟවීමක් ද එක් කෙළේය.

''තමුසෙලට තියෙන්නෙ ජේ. වි. පි. එක දෙන විදිහට වැඩක් දෙන්ඩ.'' දේශපාලකයා රහස එළියට දැම්මේය. විලීගේ සහ සැම්ගේ සිත ගැස්සුණේය. ''ජේ. වී. පී. එක ගාවන්නේ මොකටද සර්... අපි දෙන්නම වැඩේ...'' විලි මෝඩ උත්තරයක් දුන්නේය. ''හරි තමුසෙල වැඩේ දෙනවා. ඉතුරු හරිය අපි බලා ගන්නම්...'' දේශපාලනඥයා කීවේය.

එදින සවස දේශපාලක තුමා විලී සහ සැම් ද කැටිව ගොස් තවත් ප්‍රබල දේශපාලනඥයකු හමුවිය. දකුණු පළාතේ ජනතා විමුක්ති පෙරමුණ ප්‍රබලව ක්‍රියාත්මක වෙද්දී එහි භක්තය බස්නාහිර පළාත පුරා පැතිර වීමේ සංක්‍රාන්තිව භාර වී තිබුණේ මෙම දේශපාලන බලවතාටය. මොහු මොන තරම් සූක්ෂම පුද්ගලයකු ද කියනවා නම් ජනතා විමුක්ති පෙරමුණ මගින් එකල දී ගනු ලබන හදිසි තීරණ, නියෝග පවා ඉතා රහසේ ම ලබා ගැනීමට තරම් අති දක්ෂයකු විය.

මෙම දේශපාලනඥයාට හිස නවන පුද්ගලයකු ජනතා විමුක්ති පෙරමුණේ දේශපාලන බල මණ්ඩලය තුළ සිටීම මොහුගේ ඔත්තු සේවාව තවත් ශක්තිමත් වීමට ප්‍රබල හේතුවක් විය. ඔහුගේ ද උදව් ඇතිව මෙම දේශපාලනඥයා සිය හිතවත් දේශපාලක තුමා ද සහභාගි කරවා ගනිමින් එදින සැඳෑ ඉවේ විලීට සහ සැම්ට කළ යුතු රාජකාරිය අකුරක් නෑර විස්තර කර දුන්නේය. කතාව අවසානයේ දී විලීට සහ සැම්ට තරු පෙනුණි.

රාසමුණ කන්දේ පොලිසිය දෙමහල් ගොඩනැගිල්ලකි. ආරක්ෂක තත්ත්වය අතින් ද එය සවිමත් ය. සාමාන්‍යයෙන් පොලිසියක් වටා පවතින ආගන්තුක බියක් මෙම පොලිසිය අවට නොතිබිණ. ඉදිරිපස තුරු වැල් මලින් බරින් පිරී පැවතිණ. කෙසේ වෙතත් ජනතා විමුක්ති පෙරමුණ මගින් ඒ වන විට දිවයින පුරා සිය අණසක පතුරවන්නට ක්‍රියාත්මක වෙමින් තිබූ බැවින් විසි හතර පැය පුරාම මෙම පොලිසිය ඇතුළු දිවයිනේ සියලුම පොලිසි සිරුවෙන් තබා තිබුණි.

ජූලි 16 වැනිද අලුයම දෙකට ආසන්න වෙමින් තිබියදී පැමිණි වාහන කිපයක් පොලිසියෙන් එල්ල කළ විදුලිධාරා නොවදින අඳුරු තැන් බලා නතර කෙරිණ. ටී 56 තුවක්කු අතැතිව ඉන් ඉවතට ආ කීපදෙනෙක් යාබද පඳුරු වලට මුවා වෙමින් පොලිසිය දෙසට ගමන් කළහ. මේ අවස්ථාවේ දී පොලිසියේ කීප දෙනෙක් ඉදිරිපස මුරකපොල්ල අසල රාජ-කාරියේ යෙදී සිටි අතර ඉතිරි පිරිස පොලිසිය උඩුමහලේ සුව නින්දේ පසුවූහ.

සියලුම මැෂින් තුවක්කුවල සේෆ්ටි කැච් අංගය සිර කළ පිරිස ඒවා ස්වයංක්‍රීය තත්ත්වයට පත් කර පඳුරු අතරින් බඩ ගාමින් පොලිසිය වට කළහ. ඊළඟ මොහොතේ ලැබුණ සංඥාවක් අනුව ටී. 56 තුවක්කු පත්තු වන්නට පටන් ගත්තේ රතිඤ්ඤා ගබඩාවක් පුපුරන්නා මෙනි.

මුරකපොල්ලේ සිටි පොලිස් භටයින් කීප දෙනා වෙඩි කාගෙන බිම ඇද වැටීමට තත්පර කිපයකට වඩා ගියේ නැත. අනතුරුව අවි රැගත් නාඳුනන පිරිස පොලිසිය ඇතුළට කඩා පැන්නාහ. පොලිසිය ඇතුළේ දී වෙඩි කිපයක් තබා එහි සිටි නිලධාරීන් යටත් කර ගත් පිරිස අනතුරුව මරලතෝනි දෙමින් පොලිස් සිරමැදිරියේ සිටි සිරකරුවන් ඉන් පිටතට ගනු ලැබූහ.

සිරකරුවන් පිටතට ගෙන යද්දී තවත් කීප දෙනෙක් පොලිසිය සතුව තිබූ අවි ආයුධ උණ්ඩ කොල්ල කෑහ. සියල්-ලක්ම සිදුවීමට මිනිත්තු දහයකට වඩා ගත නොවිණ. පොලිසි-යෙන් පිටතට එන අතරතුරදී එක් අයෙක් තවකෙකුට ඉඟියක්

කළේය. එය වටහාගත් සාහසිකයා පෙරට යමින් සිටි සිර-කරුවන් කීප දෙනාට වෙඩි තබා මරා දැමීය. අනතුරුව තමන් අත තිබූ අවි කීපයක් එම මළ සිරුරු අසලට විසිකළ පිරිස පොලිසියෙන් පැහැරගත් අවි තොගයද ගෙන වාහනවල නැගී පලා ගියහ.

ජනතා විමුක්ති පෙරමුණ මගින් රාසමූණ කන්ද පොලිසියට හදිසි ප්‍රහාරයක් එල්ලකර පොලිස් භටයින් කීප දෙනකු මරා අවි පැහැරගෙන ගිය බව පසුද වන විට රට පුරාම පැතිරී ගොස් තිබිණ. එමෙන්ම පොලිසිය එල්ල කළ ප්‍රතිප්‍රහාර වලින් සන්නද්ධ තරුණයන් කීප දෙනකු මරුමුවට පත් වී ඇති බවද පැතිරී ගියේය.

මැරුම් කෑවේ සිරකරුවන් මිස සන්නද්ධ තරුණයන් නොවේ. සන්නද්ධ පිරිස පාතාල ලෝකයෙන් පැමිණි 'රජබඩු' කීපයක් මිස ජනතා විමුක්ති පෙරමුණේ තරුණයන් ද නොවේ. භීෂණයේ ගිනිදැල් අවුළුවාලීමට දේශපාලනඥයන්ගේ උවමනාව මත මෙය සිදු කෙරුණා මිස පාතාල ලෝකයට එහි වැරැද්ද පැවරිය හැකි නොවේ. එහෙත් පැවතුන තත්ත්වය අනුව 'ඔක්කොම කණපිට' පෙරළී ගියේය.

රාසමූණ කන්ද පොලිසියට ප්‍රහාර එල්ල වීමත් සමඟම ඒ වටා පිහිටි පළාත් රැසක ඇඳිරි නීතිය පැනවිණ. ප්‍රවෘත්ති පාලනයක් ද ආරම්භ කෙරුණි. ඒ සඳහා බලධාරියෙක් ද පත් කෙරුණ අතර රටේ සිදුවන සියලුම කඩාකප්පල්කාරී ක්‍රියාවල සැබෑ තත්ත්වය හෙළි කෙරෙන ප්‍රවෘත්ති කුණුමාලු මෙන් ඉවතට විසි කරන ලදී.

ඇඳිරි නීතිය පනවන ලද්දේ පැහැර ගත් අවි සහ කඩා-කප්පල්කාරීන් අල්ලා ගැනීමට යැයි නිවේදන නිකුත් කෙරුණ ද පසුද වන විට සියලුම අවි දේශපාලනඥයා අතට පත්වී තිබුණි. මැරවරයන්ට සම්පූර්ණ රැකවරණ ද සලසා තිබිණ.

පොලිසිය අසල මැරී සිටි සිරකරුවන් කීප දෙනා තවත් පිරිසක් විසින් පැහැරගෙන ගොස් පුළුස්සා දමන ලදී. සියලු රහසක්ම වැළලී ගියේ ඒ අයුරිනි.

මේ අතර මෙම දේශපාලනඥයා සමඟ කිටවුවෙන් සිටි තවත් 'ප්‍රධාන පෙළේ' පුද්ගලයකු විය. ඒ ගෝනවල රංජිය. මොහු ජනාධිපතිවරණ සමයේදී මිනිසුන් පැහැරගෙන යාමට, මරා දැමීමට, බිය ගැන්වීමට ක්‍රියා කොට එගි වගකීම ජනතා විමුක්ති පෙරමුණ පිටින් ලිස්සා හැරිය අයෙකි. නොම්මර එකේ දරුණු අපරාධකරුවෙකි. ඔහුගේ නම ඇසූ පමණින් ඒ පළාතම බියෙන් ඇලලී යයි. ඔහුටම හරියන සහචරයන් පිරිසක් ඔහු වටා වූහ.

https://www.facebook.com/KiyawannaPdf

"උසි"කී පමණින් දිව ගොස් යමක් ඩැහැගෙන ස්වාමියා ළඟට එන කිකරු බල්ලන් මෙන් සිය අණසකට යටත් කරවා ගෙන වැඩ ගැනීමට රංජිට මොවුන්ගෙන් හැකිවිය. මේ නිසා සමහර දෙමව්පියෝ ඇහැට කණට පෙනෙන දියණියක් හදිසියකටවත් කඩයකට යැවීමට බියවූහ.

දේශපාලන බලය සහ මැර බලය නොඅඩුව තිබුණ රංජි දිනක් සිය ස්වාමියා වූ දේශපාලකතුමා හමුවීමට ගියේය. "සර්......තව දවස් දෙකකින් ජේ. වී. පි. මිටිමක් තියන්න යනවා හන්දියේ...."ඔහු කීවේය. "මගෙන් අහන්නේ මොන–වාද රංජි......කරන්ඩ ඕනෙ දේ තමුසේ දන්නවානේ......" දේශපාලකයා කීවේය.

ලබමම සිද්ධිය කෙසේ නමුත් ජනතා විමුක්ති පෙරමුණේ තරුණයන්ගේ කණටද ඇතුළු විය. රැළිය පවත්වන දින රංජි ඇතුළු ඔහුගේ පිරිස විසින් දරුණු ප්‍රහාරයක් රැළියට එල්ල කරන්නට සැලසුම් කර ඇති බව වැඩිදුරටත් ආරංචි විය.

නියමිත දින තරුණයෝ රැළිය පවත්වන්නට කටයුතු පිළියෙල කළහ. තවත් ස්වල්ප මොහොතකින් රෝහණ විජේවීර සහ උපතිස්ස ගමනායක යන සහෝදරවරුන් පැමිණෙන බවට නිවේදනයක් ද කෙරිණ. පොලිසියේ සහකාර අධිකාරිවරුන් ඇතුළු හටයින් විශාල පිරිසක් සාමය රැකීම සඳහා යොදවා තිබිණ. හිටි හැටියේම පැජරෝ ජීපයක් ආවේය. ඉන් එළියට බැස්සේ රංජි සහ ඔහුගේ සහචරයන්ය. රංජි කෙළින්ම ගොස් එක්තරා සහකාර පොලිස් අධිකාරිවරයෙකුට කතා කළේය. "මෙතන ඉඳලා අපි රාජකාරි බාර ගන්නවා. ඔය–ගොල්ලො නොහිටියට කමක් නෑ......" රංජි පොලිසියේ රාජකාරිය හැල්ලුවට දමමින් කීවේය.

රංජීට ඇති දේශපාලන ශක්තිය හඳුනන පොලීසිය ඔහුට පොලීසියේ රාජකාරිය පවරා ටිකක් ඈතට ගියේය. රංජී පැමිණි බව දුටු ජනතා විමුක්ති පෙරමුණේ තරුණයෝ ඔහු වටා රැකවල් යෙදූහ. ඒ බවක් රංජී දැන සිටියේ නැත. රෝහණ විජේවීර රැළිය අමතන අවස්ථාවේ දී රංජීගේ ඉඟියක් ලද අයෙක් ගඩොලක් වේදිකාවට එල්ල කළේය. ඔවුනට එල්ල කරන්නට පුළුවන් වූයේ ද එපමණකි. රංජී සහ ඔහුගේ මැරවරයන් වට-කරගෙන සිටි තරුණයෝ සහවා ගෙන තිබුණ ආම්පන්න එළියට ඇද රංජීටත් ඔහුගේ සහචරයන්ටත් දුවන තුරු පහර දුන්හ. ඔවුන් පැමිණි වාහනය කුඩු පට්ටම් කළේය.

දේශපාලන බලයෙන් සහ ධන බලයෙන් ගෝනවල යටපත් කරගෙන සිටි රංජී 1987 වසර වෙද්දී පාතාල ලෝකයේ කිරුළු පැළඳි සෙන්පතියන්ගෙන් එක් අයෙකු විය. ඔහු එවැනි තත්ත්වයකට අවතීර්ණ වූයේ සැලසුම් සහගතවය. අත්පුඩියක් ගැසූ පමණින් පනහක් හැටක් ළං කරගත හැක්කේ කාටද? පොලීසියේ ලොක්කන්ට ''අයියේ ඔයි'' කියා කතා කළ හැක්කේ කාටද? දේශපාලකයන් වෙනුවට අත්සන් කර රස්සා දිය හැක්කේ කාටද? රටම කැළඹූ වූ මංකොල්ල සිදුකොට කිරි දරුවන් වගේ පෙනී සිටිය හැක්කේ කාටද? මේ සියල්ලම පමණක් නොව, තව නවත් පුදුම සහගත දේවල් රංජී අතින් සිදුවිය. එහෙත් නීතියේ රැහැන්පටට කිසි දිනෙක ඔහුගේ ගෙළ වැරෙන් සිරකළ නොහැකි විය.

1987 වසර වෙද්දී තුම්මුල්ලේ පද්මේ හා කරට කර සිටි රංජී එවැනි තත්ත්වයක් හිමි කරගත් අන්දම තවත් අපූර්ව කතාවකි. පාතාල ලෝකයේ නිදා සිටිමින් කිසිදාක නාමක් හිමි කරගත නොහැක. මේ බව රංජී හොඳින් අවබෝධ කර ගත්තේය. ඔහු නිරතුරුව වෙනස්වන පරිසරය දෙස ඇස් ගසාගෙන සිටියේය.

ටික දිනක් යද්දී අනට මිටට කායිය බාගය නැතිව කිසිම දෙයක් කළ නොහැකි බව රංජී තේරුම ගත්තේය. ඔහු වැල්ලවත්තට ගියේය.

මේ දිනවල වැල්ලවත්ත හොරබඩු ජාවාරම්කාරයන්ගේ පාරාදීසයකි. ඈත මුහුදේ නැවතූ නැව්වලින් එළියට ඇද දමන

බඩු මුවවූ අඩංගු පෙට්ටි තෙප්පම මගින් ඊ එළිවෙනතුරු ගොඩ බිමට අදින ජාවාරම්කාරයන්ගෙන් වැල්ලවත්ත මුදු වෙරළ පිරී තිබිණ. මෙම පෙට්ටිවල මනිපූරි සාරි, ඉන්දියන් සරොම් සහ විදුලි භාණ්ඩ උපකරණ අසුරා තිබුණ අතර ඒ රාත්‍රියේ දීම මෙම හොර බඩු අවශ්‍ය තැන්වලට ප්‍රවාහනය කෙරිණ.

රංජි මෙ පිරිසට එකතු විය. මුහුදු ගොස් තෙප්පම්වලින් හොරබඩු ගොඩ බිමට ඇද්දේය. වරෙක එම හොර බඩු රහසිගත තැන්වලට ප්‍රවාහනය කෙරුවේය. මෙසේ කාලය ගතවිය. දෙවසරක් පමණ ගත වෙද්දී රංජි මෙම හොරබඩු ජාවාරම්කාරයන්ගේ නායකයකු බවට පත්විය. රුපියල් දස දහස් ගණන් නෝට්ටු දිනපතා ඔහු අතට ගලා එන්නට පටන් ගත්තේය.

ඔහු සතු ධනය ඉහළ යද්දී බලය දිනා ගැනීම කෙරෙහි අවධානය යොමු විය. ඔහු අවට පරිසරය දෙස සුපරීක්ෂාකාරීව බැලුවේය. නමක් ගන්න වැඩක් දිය යුත්තේ කාටදැයි ඔහු ඉව කළේය.

මේ කාලයේ කැළණිය ප්‍රදේශය පුරා සිය අණසක පතුරුවා ගෙන සිටියේ රොබට්ගේ නායකත්වයෙන් යුක්ත කල්ලියකි. රොබට් එවකට බලයේ සිටි ශ්‍රීලනිපයේ ඕනෑ එපාකම් ඉටු කළේය. ඔහුට තිබූ දේශපාලන බල හැකියාව අනුව පළාතේ අහිංසකයන්ට ද අත්පය විසි කළ නිසා මෙමකල්ලිය කෙරෙහි ගමේ කා තුළත් වූයේ දැඩි පිළිකුලකි. හැන්දෑවේ හයෙන් පස්සේ තරුණියක් කඩ පිලකට්වත් නොගියාය. ඒ තරමට මෙම කල්ලියේ සල්ලාලකම් ඉහවහ ගොස් තිබිණ.

මේ අතර සමගි රජය පෙරලුණි. එ.ජා.ප.යේ ජය තහවුරු කර ගැනීම පිණිස අතපය දිගහැර සල්ලි විසි කළ රංජි නමක් දිනා ගැනීමට වැඩක් දිය යුත්තේ රොබට් ඇතුළු මැරවරයන්ට යැයි තීරණය කළේය. එහෙත් එක්වරම අතදමා පසුබසින්නට සිදු වුවහොත් යන සැකය මත ඔහු තවදුරටත් මෙම මැරයන්ට ප්‍රහාරයක් එල්ල කළ හැකි මගක් සොයා බැලුවේය.

රාත්‍රියේදී ට්‍රොපිකානා, ක්‍රොස්ෂෝඩ්, සැනොරාමා වැනි සමාජ ශාලා කරා ගිය රංජි සිය හිතමිතුරන් වෙනුවෙන් රුපියල් දහස් ගණන් වියදම් කරමින් කැළණියට ප්‍රහාරයක් " එල්ල කළ යුතු අන්දම පිළිබඳව සැලසුම් කළේය. එකල ඉහළ පෙළේ මිනීමැරුම්, මංකොල්ල කෑම් සිදු කිරීමට ඕනෑ කරන සැලසුම් පිළියෙල කිරීම සඳහා පාතාල ලෝකයේ බලවතුන් සහ දේශපාලන බලවතුන් හමුවූයේ මෙවැනි සමාජ ශාලාවන්හිදීය. එවැනි එක් අවස්ථාවකදී රංජිට ආමර්විදියේ අමරේ හඳුනා ගැනීමට හැකිවිය.

ද්‍රවිඩ චිත්‍රපට ශිවාජි ගනේෂන් වැනි රූපයකින් හෙබි ඕත්ගන්නා සුලු කතාවන්, සිනහවෙන් පිරි රංජිට ආමර්විදියේ අමරෙගේ සිත දිනා ගැනීමට වැඩි වෙලාවක් ගියේ නැත. එමෙන්ම රංජි හා අමරෙ අතරේ මිත්‍රත්වය දලුලා යාමට වැඩි දවසක් ගියේද නැත.

ආමර්විදියේ අමරෙට අලුත්කඩේ උසාවිය ළඟ කළ නොහැකි වැඩක් නොතිබිණ. මේ නිසා දිවයිනේ සියලුම මැරවරයන් අමරෙ කෙරෙහි කිසියම් බියක් දැක්වූහ. පාතාල ලෝකයේ කොතරම් හයිරම්කාරයකු වුවත් නඩුහබ ආදියට උසාවි පැමිණිය යුතු බැවින් අමරෙට විරුද්ධව වචනයක් හෝ කතා කිරීම සියතින් ගෙළ සිඳ ගැනීමක් බඳු විය. ඔවුහු අතරේ ඇතිවූ මිත්‍රත්වය පිළිබඳව කණ වැකුණ ඇසිල්ලකින් කැළණියේ රොබට් නැති ගත්තේය.

මේ අතර එ.ජා.ප නව රජය කැළණි පුරවරය පූජා නගරයක් බවට පත් කළේය. නගරය පූජා නගරයක් වුවත් එහි සිදුවූයේ නොහොබිනා දේවල්මය. රොබට් ඇතුළු කල්ලියේ ක්‍රියාදම පූජා නගරය පුරා ඇති කළේ භීෂණ තත්ත්වයකි.

මෙම අවස්ථාවෙන් ප්‍රයෝජන ගත් රංජි කැළණිය පූජා නගරය මෙම කල්ලියෙන් මුදවා ගැනීම සඳහා ආමර්විදියේ අමරෙගේ උදව් පැතුවේය. ඒ වන විට රංජි එ.ජා.ප.යේ ප්‍රබල දේශපාලකයකුගේ ආරක්ෂක නිලධාරියකු වශයෙන් ක්‍රියා කළ බැවින් ඔහුට උදව් කිරීමට අමරෙ තීරණය කළේය.

දින කීපයකට පසු උදා වූ හිමිදිරියේ කැළණිය පුජා නගරය පුරා පැතිරී ගියේ ලොමු දැහැගන්වන පුවතකි. රොබට් ගේ සහචරයන් තිදෙනකු කැලි කැලිවලට කපා මරා දමා තිබිණ. මෙම සිද්ධියත් සමඟ රොබට් තුළ පැවැති බල-පුළුවන්කාරකම එක්වරම බිඳී ගියේය.

කෙමෙන්, කෙමෙන් රංජිගේ බලය කැළණි පුරවරය පුරා පැතිරෙන්නට විය. ධනය සහ බලය පමණක් නොව තමා වැන්නකුට මොන පැත්තකින් හෝ කීර්තියක් අවශ්‍ය බව රංජිට තේරුම් යන්නට වැඩි කලක් ගත වූයේ නැත. දිවයිනේ කොයි මුල්ලකට ගියත් ''රංජි '' යයි ඇසූ පමණින් මේ අසවලා බවට හඳුනා ගත යුතු යයි ඔහු සිතුවේය. කීර්තිය ලබා ගන්නේ කෙසේදැයි කල්පනා කරමින් සිටි ඔහුට නොදැනුවත්වම ඒ අවස්ථාවද උදාවිය.

දිනක් රාත්‍රී ආනන්ද කුමාරස්වාමි මාවත අසල තිබූ ''ට්‍රොපිකානා'' සමාජ ශාලාවේ පැවැති ආලිංගන නැටුමකට රංජි සහභාගි විය. මෙම ගමන රංජි ගියේ ඔහුගේ සමීප මිත්‍රයකු ද සමඟින්ය. ආලිංගන නැටුම ඇරඹී ටික වේලාවකට පසු එහි පැමිණි රූමත් තරුණියක් කෙරෙහි රංජිගේ සිත ඇදී ගියේය. අඩි පහමාරක් පමණ උසැති මෙම තරුණිය දහසක් විදුලි බුබුළු මැද දිව්‍යාංගනාවක් මෙන් දිස්විය. කාගේත් දැස් දිව ගියේ ඇගේ පිරිපුන් සිරුරටය. විස්කි වීදුරුවක් තොලගාමින් පසෙකට වී ආලිංගන නැටුම දෙස බලාගෙන සිටි මෙම රූමතිය වෙත ගිය රංජි ඇයට තමා හා නැටුමට සහභාගි වන ලෙසට කාරුණිකව ආරාධනා කළේය.

මෙවැනි සුවිශේෂ සමාජ කෙරෙහි දැඩි ඇල්මක් දැක්වූ තරුණිය මෙම ආරාධනාව කළ රූමත් තරුණයාගේ ඉල්ලීම එක්වරම පිළිගත්තාය. දෙදෙනා එකිනෙකාට තුරුළු වී පැය ගණනක් නැටූහ. නැටුම අවසාන වනවිට රෑ මැදියමද පසු වී තිබිණ.

අනතුරුව සියලු දෙනාම විසිරී ගියහ. සිය සිත ඇදී ගිය තරුණිය පැමිණෙන තුරු පාර අද්දරට වී කල්මරමින් සිටි රංජි සහ ඔහුගේ මිතුරා සමාජ ශාලාවෙන් එළියට පැමිණි ඇය

බලහත්කාරයෙන් අල්ලා මෝටර් රථයට අ තුළු කර ගත්හ. අ තුරුව රථය දවනට බඳු වේගයෙන් ඉගිලී ගියේය.

රථය නැවතුනේ ගෝනවල එක්තරා තැනකය. මෙම ස්ථානය රංජිට හුරු පුරුදු තැනකි. අනතුරුව එම රිය මුළුල්ලේම රංජි සහ ඔහුගේ මිතුරා විසින් මෙම රුමත් තරුණියට අනවර කළහ.

පැය කිපයක් තුළ සිදුවූ මෙම අපරාධය දින දෙකකට පසු පුවත්පත්වල මුහලින්ම පළ කරනු ලැබිණ. අනවරයට පත් වූ තරුණියද නැති බැරි තැනක කෙල්ලක් නොවිණ. ඇය එවකට දිවයින තුළ සිටි ප්‍රධාන පෙළේ වෛද්‍යවරයකුගේ දියණියක් වූවාය. මේ නිසා රංජි මොන තරම් බලවන්තයකු වූවත් ඔහු පසුපස නීතිය ලුහුබැඳ එන්නට පටන් ගත්තේය.

දින කිපයකට පසු රංජිටත් ඔහුගේ මිතුරාටත් විරුද්ධ නඩු පැවරිණ. අනවරයට පත්වූ තරුණිය තමන් මුහුණදුන් සිද්ධිය අකුරක් නෑර විස්තර කළාය. මූලික සාක්ෂි විභාගය අවසන් කළ මහේස්ත්‍රාත්තුමා නඩුව විභාගය පිණිස මහාධිකරණයට යොමු කළේය.

නඩුවට අවශ්‍ය සාක්ෂි මැනවින් සකස් කර තිබූ බැවින් රජි මහාධිකරණ නඩු විභාගය අවසානයේ වැරදි කරුවිය. ඔහුට විසිවසරකට සිර දඬුවම නියම කෙරිණ. ඉන් නොසැලුන රංජි තීන්දුවට විරුද්ධව අභියාචනයක් ඉදිරිපත් කළේය. එහෙත් අභියාචනාධිකරණයේ තීන්දුවත් එයම විය. රංජිට සිපිරි ගෙදර බතේ රස බලන්නට සිදු විය.

එහෙත් රංජි වැනි පුද්ගලයකු යකඩ කූරු අතරේ සිරකර තැබිය යුතු අයෙක් නොවන බව දේශපාලකයන්ගේ මතය විය. රංජි හා කුලුපඟව ඇසුරු කළ දේශපාලකතුමා මේ බව ඉහළ දේශපාලන අංශ වලට දැනුම් දුන්නේය. ළඟ ළඟ එන ජනාධිපතිවරණයේදී රංජිගෙන් විශාල වැඩ කොටසක් සිය ආසනය තුළ ඉටුකරවා ගැනීමට ඇති බව හෙතෙම පැහැදිලි කර දුන්නේය.

මේ අනුව කාම අපරාධ සඳහා නොදෙන නිර්දේශයක් මත රංජිට විශේෂ සමාවක් ලැබිණ. මෙම සමාව එක එල්ලේ

රංජි වෙනුවෙන් ප්‍රධානය කෙරුණ එකක් නොවන බව ඇඟවීමට ඒ හා සමාන චෝදනා ලබා සිටි තවත් සිරකරුවන් කිප දෙනකුට ද සමාව හිමිවිය. එහෙත් එම නිර්දේශය සම්ප්‍රදායක් නොවේ. එමෙන්ම එවැනි නීතියක්ද නොවිණ. රට කැළඹූ දූෂණ නඩුවේ විත්තිකරුට එවැනි නිර්දේශයක් සමඟ සමාව හිමි වීමත් සමඟම රංජි අපේක්ෂා කළ "කීර්තියද" ඔහු නරා නිතැතින්ම හිමිවිය. "ශෝන්නවල රංජි සමාව" නමින් එය රටපුරා ප්‍රකට විය.

අනතුරුව වැඩි දවසක් යන්නට මත්තෙන් රංජි නවත් වරදකට අසුවිය. එයද සුළුපටු වරදක් නොවේ. රජයට ලක්ෂ ගණනින් වංචා කළ වරදක් විය. එහෙත් දේශපාලන අනුහසින් ඔදවැඩී සිටි රංජිට මේවා පොඩි වැඩ විය. දේශපාලකතුමා ඒ සියලුම තැන්හිදී රංජි ගලවා ගත්තේය. වැරදි කරන පොඩි එකකුව ආදරයෙන් පිළිගන්නා 'දයාබර පියෙකු' තුළ ඇතිවන හැඟීමක් ඔහු තුළ තිබෙන්නට ඇත.

රංජිගේ නම පාතාල ලෝකය පුරා පැතිරෙන්නට පටන් ගත්තේ ඉන් අනතුරුවය. ඔහු සාමාන්‍ය මිනිසුන්ට පමණක් නොව, ඇතැම් පොලිස් නිලධාරීන්ට පවා නව පත්වීම් ලබා දුන්නේය. උසස් වීම් ලබා දුන්නේය. මාරුවීම් කළේය.

රංජිගේ නිර්දේශය සහිත ලිපි රැගත් පළාත්වාසීන්ගෙන් දේශපාලක තුමාගේ නිවස පිරී ගියේය.

මේ අතර වාමාංශික දේශපාලන ක්ෂේත්‍රයේ කැපී පෙනුණ නායිකාවක් ශ්‍රේෂ්ඨාධිකරණයට ඉදිරිපත් කර තිබූ මූලික අයිතිවාසිකම් උල්ලංඝනය කිරීම පිළිබඳ නඩුවක් පැමිණිලිකාරි එම නායිකාවට පක්ෂව තීන්දු කරනු ලැබිණ. එම තීන්දුව දුන් විනිශ්චයකාර වරුන්ගේ නිවාස ඉදිරිපිට හූ කියා ශෝෂා කිරීමේ කොන්ත්‍රාත්තුවේ එක් පාර්ශ්වයක් වූයේ රංජිය මෙම සිද්ධිය ශ්‍රේෂ්ඨාධිකරණයේ ස්වාධීනත්වයට හා එහි නිර්මලත්වයට එල්ල කළ අකුල් පහරක් විය. රංජි ඇතුළු කණ්ඩායම විනිශ්චය කාරවරුන්ගේ නිවාස ඉදිරිපිට රැස්වී එතුමන්ලාට හූ කියා සමච්චල් කළහ. එක් අතෙකින් මෙහිදී රංජි වැනි උදවියට දොසක් පැවරිය හැකි නොවේ. ඡන්ද බලලෝභයෙන් මත්වූ දූෂිත දේශපාලනය විසින් නීතිය හා සදාචාරය මුලිනුපුටා දැමීමට රංජි වැනි උදවිය අතකොලු බවට පත්කරගෙන තිබූ බැවිනි.

භීෂණය මැද්දේ මුළු රට පුරා තැනින් තැන කොළ, නිල්, රතු කොඩි ලෙල දෙන්නට විය. දේශපාලකයන් පිළිගනිද්දී පත්තු කළ රතිඤ්ඤා වලට වඩා රෑ කාලේ වෙඩි උණ්ඩ පිට වන්නට විය. ඉවක් බවක් නැතිව තරුණ සංහාරය රට පුරාම දියත් විය. ජාති, ආගම්, කුල මල, පක්ෂ භේදයකින් තොරව විරුද්ධවාදියා මරා දැමීම ය.

මේ අවදියේ දී බ්‍රිතාන්‍ය ත්‍රස්තවාදී සංවිධාන පිළිබඳ විශේෂඥයකු වන මහාචාර්ය සර් රිචඩ් ක්ලටබර්ග් මෙහි පැමිණියේ ය. දිවයිනේ සතර අත ගිය ඔහු ඒ ගමන් බිමන් වලදී තමාට දකින්නට ලැබුණ මළ මිනී ප්‍රමාණයෙන් තැති ගත්තේ ය. මහ දවාලේ තරුණයන් වාහන වලින් පැහැර ගෙන යන බව ඇසූ හේ මවිතයට පත් විය. ඇසූ දුටු දේ වලින් අන්දමන්ද වූ මේ විශේෂඥයා වගකිව යුත්තන්ට වාර්තාවක් ඉදිරිපත් කෙළේ ය.

තරුණයන් වාහනවලට දමා ගෙන ගොස් වෙඩි තබා මරා දැමීම වහාම නතර කරන ලෙසට හේ එම වාර්තාවෙන් ඉල්ලීමක් කර තිබිණ. මෙම සැකකට යුතු තරුණයන් වහාම අධිකරණය හමුවට ඉදිරිපත් කරන ලෙසට බ්‍රිතාන්‍ය විශේෂඥයා වැඩිදුරටත් උපදෙස් දුන්නේ ය. අධිකරණය හමුවෙහි ඔවුහු ත්‍රස්තවාදීන් ලෙස ඔප්පු වුවහොත් වෙඩි තැබීම, බල ඇණියක් පිහිටුවා ඔවුනට මරණ දඬුවම දෙන ලෙසත්, එය නීත්‍යානුකූල බවත් ඔහුගේ නිගමනය විය.

නිලය සහ බලය ඇත්තවුන් තරුණ තරුණියන් අමු අමුවේ මරා දමද්දී අවි අතට ගත් තරුණයෝ ද ලෙයට ලෙයින් පළි ගන්නට පටන් ගත්හ. මෙහිදී ඔවුන් විශේෂ උනන්දුවක් දක්වූයේ රජයට හා ත්‍රිවිධ හමුදාවට සම්බන්ධ පක්ෂපාතී උසස් පුද්ගලයන් ඝාතනය කිරීමට ය.

මෙම අවදියේ දී රාජගිරියේ පැටී වැලිකඩ බන්ධනාගාරයෙන් බදුල්ල බන්ධනාගාරය වෙත මාරු කර යවා තිබිණ. හොර බඩු සිද්ධියක් සම්බන්ධයෙන් පැටීට මෙම සිර දඬුවම හිමි විය

වැලිකඩ බන්ධනාගාරය මෙන් ම බදුල්ල බන්ධනාගාරය ද මේ වන විට සිරකරුවන්ගෙන් පිරී ඉතිරී ගොස් තිබිණ. පැටී සිටි "වාට්ටුවේ" වැඩිපුරම සිටියේ ජනතා විමුක්ති පෙරමුණට සම්බන්ධ තරුණයන් ය. පැටී ද හතරමුල්ල පැනපු එකෙකු නිසා වැඩි දවසක් යාමට මත්තෙන් ඔහුට මෙම තරුණයන්ගේ සිත් දිනා ගැනීමට හැකි විය. පැටීට ජනතා විමුක්ති පෙරමුණ ගැන හැඟීමක් නොවීය. කොටින්ම ඔහුට පෙරමුණු වලින් වැඩක් තිබුණේ ද නැත. ඔහුට තිබුණේ එකම බලාපොරොත්තුවකි. එනම් මුළු ලංකාවම පාලනය කරවන පාතාල ලෝකයේ අග රජු බවට පත් වීමේ දැඩි ආශාව ය.

බන්ධනාගාරයේ "ඩයට්" එක ගන්න තැටිය රැගෙන ජනතා විමුක්ති පෙරමුණේ සිරකරුවන් සමඟ පොලිමේ යද්දී පවා පැටී කල්පනා කළේ මේ සඳහා කළ යුත්තේ කුමක්ද? උදව් ලබා ගත යුත්තේ කාගෙන්ද? යන්න ය.

මෙම සිරකරුවන් අතර සමරවීර නම් තරුණයෙක් ද විය. ඔහු ජනතා විමුක්ති පෙරමුණේ ක්‍රියාකාරී සාමාජිකයෙකි. දවසේ දෛනික වැඩ කටයුතුවල දී සමරවීර පැටී අසලින් ම ගැවසුන නිසා දෙදෙනා අතර කිට්ටු ඇසුරක් හට ගත්තේ ය.

පැටීගේ ජීවිත කතාව හා ඔහු කෙරෙන් පිළිබිඹු වන ඕනෑ එපාකම් උපක්‍රමශීලිව අධ්‍යයනය කළ සමරවීරට වැඩි දවසක් යන්නට පෙර පැටී ගේ ඉලක්කය කුමක් දැයි තේරුම් ගන්නට හැකි විය.

දිනක් රාත්‍රියේ වාට්ටුවේ කෙළවරක ඇලවී සිටි පැටීට මෙම රහස සිය හිතවතාට හෙළි කිරීමට දැඩි ඕනෑකමක් ඇති විය. ඒ ඕනෑකම සමරවීර විසින් තම සිත තුළ ඇති කළ එකක් බව වටහා ගැනීමට තරම් බුද්ධියක් පස්වැනි ශ්‍රේණිය සමත්ව සිටි පැටී තුළ නොවී ය.

''එවං… උඹට පුළුවන්ද මට 'සපෝට්' කරන්ඩ වැඩක් දුන්න නම් අරුට මට තමයි 'ප්‍රමෝෂන්' එක.'' පැටී කීවේය. සමරවීර පැනල දෙන ජාතියේ එකෙක් නොවී ය. ඔහු කල්පනා කෙළේ ය. එක ගලකින් කුරුල්ලෝ හතර පස් දෙනෙක් ම බිම හෙළීමට අවස්ථාව උදා වන තුරු පැටී ට උදව් නොකිරීමට හොඳතම තීරණය කෙළේ ය. එහෙත් ඔහු ඒ බවක් ඇඟවූයේ නැත. ''හරි මං උදව් කරන්නම්. තව සුමානෙකින් දෙන්නම නිදහස්. ඊට පස්සෙ ජලැන් කරලා නිතට වැඩේ දෙමු.'' සමරවීර යෝජනා කෙළේ ය. පැටී ගේ හිනෙස් මල් දහසක් පිපුණි.

මේ අතර රෝහණ විජේවීරගේ රැළියට බෝම්බ ගසන්නට පැමිණ අමතක නොවන පාඩමක් ඉගෙන ගෙන පසු බැස ගිය ගෝනවල රංජිත් තවත් එවැනි ම රැළියකට ප්‍රහාරයක් එල්ල කිරීමට සූදානම් විය.

සිය ආදරණීය දේශපාලකතුමාගේ රැස්වීමක් මිස වෙනත් කිසිම රැළියක් පැලියගොඩ පොලිස් බල ප්‍රදේශය තුළ පවත් වන්නට ඉඩක් නොදෙන බවට රංජි පාරම් බෑවේ ය. ඔහුගේ පුරාජේරුව සුලුකොට තැකිය හැක්කක් ද නොවී ය. රංජිට තිබුණ දේශපාලන සහ පිරිස් බලය හේතු කොට ගෙන කවුරුත් ඔහු කෙරෙහි දැක්වූයේ දැඩි බියකි.

කෙසේ වෙතත් දවසින් දවස රංජිට විරුද්ධව දේශපාලක තුමා වෙත ගලා එන චෝදනා වැඩි වන්නට විය සිය ජ්‍යෙෂ්ඨ නිලධාරීන් සහ පොලිස් ආරක්ෂක සේවයේ නිලධාරීන් තුට්ටුවකටවත් ගණන් නොගන්නා බව ඔහුට විරුද්ධව එල්ල වුණ බලගතු ම චෝදනාව විය.

පළාතේ නායකයා කවුදැයි දේශපාලන සාමාජිකයෝ ප්‍රශ්න කරන්නට පටන් ගත්හ. දේශපාලකතුමාට වඩා ඉහළ බලයක් රංජි ප්‍රදර්ශනය කරන්නේ නම් පළාතේ නායකයා රංජි මිසක් වෙන කවුරුන්දැයි ප්‍රසිද්ධියේ පවසන්නට වීම දේශපාලකතුමාට ද ඉවසුම් නො දෙන්නක් විය. ඔහුගේ කෝපය ඉහවහා ගියේ ය. එහෙත් ඒ බවක් ප්‍රසිද්ධියේ පළ කිරීමට දේශපාලකතුමා පවා බිය විය.

මේ අතර ප්‍රදේශයේ රැලියක් පවත්වන්නට තීරණය කළ ප්‍රතිවිරුද්ධ පිලේ ජනප්‍රිය නායකයකු ප්‍රථමයෙන් ම රංජී හමු විය. රැස්වීම දින ඔහුගේ සහාය පැතුවේ ය. "තරහ ගන්ඩ එපා ලොක්කා. අරයගේ මීටින් එකක් හැරෙන්න වෙනින් කිසිම කෙනෙක් ගේ මීටින් එකක් තියන්න මෙහේ ඉඩ දෙන්ඩ බෑ." රංජී කීවේ ය.

කරබාගෙන පිටවී ගිය දේශපාලක තුමා සිය හිතවතුන් කැඳවා ඉතා ඉහළින් මෙම රැලිය පවත්වන්නට කටයුතු යොදන ලෙසට උපදෙස් දුන්නේ ය. ජන ප්‍රිය දේශපාලකතුමා වටා බත්තරමුල්ලේ සුදු, අලුත්කඩේ පියා, කැළණියේ දඹලේලි, කඩුවෙල ජයන්ත ආදී ප්‍රධාන පෙළේ පාතාල ලොව මැරවර කණ්ඩායමක් වූහ. මේ නිසා රැස්වීම ද දෙවරක් සිතා බලන්නට රංජීට සිදුවිය. විජේවීරගේ රැලියට ගහන්නට ගොස් පාඩමක් ඉගෙන ගත් රංජී ජනප්‍රිය දේශපාලකතුමාගේ රැලියට පහර දීමට කළ සැලසුම අත්හලේ ය. එය දැනගත් රංජීගේ පිලේ දේශපාලකතුමා ප්‍රථම වරට එදින රංජීට පල නොකියා පළා බැදුවේ ය.

මේ අතර පැටී බදුල්ල සිර ගෙදරින් සමු ගත්තේ ය. ඔහු රාජගිරියට සැණෙකින් ඉගිලී ආවේ අලුතින් තටු ලද පක්ෂියකු මෙනි. සිරගෙදර "ඩයට්" එකෙන් සහ එහිදී ලද අත්දැකීම් වලින් පීඩනයට පත් වී සිටි පැටීට අතේ පිච්චියක්වත් නොමැතිවීම අසහනය දෙගුණ තෙගුණ කරවන්නක් විය.

මෙම අවදියේ දී මුළු දිවයින පුරා එක් එක් මාදිලියේ සොරකම් ජයට සිදුවෙමින් තිබිණ. අවිගත් පිරිස් බැංකු කොල්ල කන්නට වූහ. හමුද ඇඳුමෙන් සැරසුන තවත් අය නිවාස, දේපොල, කොල්ල කන්නට වූහ. මුළු රට ම අරාජික තත්ත්වය පැවතින. මෙවැනි පසුබිමක් යටතේ පැටීට රුපියල් ලක්ෂයක් දෙකක් සොයා ගැනීම අපහසු කාර්යයක් නො විය.

පැටීගේ සහයට කොට්ටාවත්තෙන් සහ රාජගිරියෙන් කීප දෙනෙක් ද එකතු වූහ. පැටී සිරගෙදරින් නිදහස් වී පැමිණි බව දැනගත් මියගිය තුම්මුල්ලේ පද්මේ ගේ අනෙක් සොයුරා වන

නිහාල් පැටිව මරා දැම්මට හිත් නූවලත් වැඩ පටන් ගත්තේ ය. සිය වැඩිමහල් සොහොයුරා වන පද්මේ පොලිසියක් අතුළේ ඝාතනය කිරීමට කුමන්ත්‍රණය කළ උන්ගෙන් එකකු වන පැටිට කිසිම සමාවක් නොදීමට නිහාල් තීරණය කොට තිබුණි.

පාතාල ලොව අග රජුවීමට පෙරුම් පුරමින් සිටි පැටිට නිහාල්ගේ 'දූහලිල්ල' මහ කැදෙරයක් විය. පළමුවෙන් ම නිහාල්ව මෙලොවින් තුරන් කළ යුතු යැයි පැටි තීරණය කෙළේ ය.

පාතාල ලෝකයේ ස්වභාවය එයයි. මරාගෙන, මරාගෙන, මරාගෙන ගොස් ඉතිරි වෙන්නේ මොකාද? ඔහුට පාතාල ලොව අගරජ කම හිමිවෙයි. මේ සඳහා ඕනෑවට වඩා දහලන, අතපය විසි කරන උන් පමණක් නොව ඒ වටා සිටින අහිංසකයන්ට ද නිරපරාදේ මැරුම් කන්නට සිදු වෙයි.

පද්මේ ගේ මල්ලි නිහාල් පැටිව මරා දමන්නටත්, පැටි නිහාල්ව මරා දමන්නටත් කුමන්ත්‍රණය කරන්නට ද පටන් ගත්හ.

දිනක් හදිසි කටයුත්තක් සඳහා අලුත්කඩේ උසාවිය ළඟට ටැක්සියකින් ආ පැටි ඇතුළු කණ්ඩායමට නිහාල්ගේ හිතවතකු වන ජයලත් හමුවුණේය. මිය ගිය පද්මේගේ සහ නිහාල්ගේ ළඟම මිතුරකු වූ ජයලත්ට ගැස්පහ හන්දියේ, පිටකොටුවේ සහ බාබර් වීදියේ තිබුණේ පුදුමාකාර සැලකිල්ලකි. ඔහු හොඳට හොඳය.

නිහාල්ව මරා දැමීමට සහාය දෙන ලෙසට පැටි නොපැකිලව ඉල්ලීමක් කෙළේ ය. ඉහළම ගිය කෝපය පිට නොකළ ජයලත් වැඩිදුර කතා කිරීමට එදින සවස පැටිව හමුවන බවට පොරොන්දු වී ලිස්සා ගියේය. එදින සවස කෙලින් ම ගොස් නිහාල්ව හමු වූ ජයලත් මෙම සිද්ධිය අනාවරණය කෙළේ ය.

"අඩියක්වත් පස්සට තියන්ඩ එපා. පස්සට ගියොත් උඹට අහිමි වෙන්නේ ගවුම." ජයලත් කීවේ ය.

මේ අතර දිනක් සවස පැටිව සොයා ගෙන අමුත්තෙක් රාජගිරියට ආවේ ය. අමුත්තාව දුටු පැටි පුදුමයටත්, දෙවනුව සතුටටත් පත් විය. ඔහු සිය හිතවතා වූ සමරවීර වැළඳ ගත්තේ ය.

''මොකද මචං... හදිසියෙම.'' පැටි ඇසුවේ ය.

''හදිස්සියක් නෑ... නිකං බලල කියල යන්ඩ ආවා.'' සමරවීර කීවේ ය.

සමරවීර පැමිණ සිටියේ අති විශේෂ කටයුත්තක් සඳහාය. එහෙත් ඒ බවක් ඉඟියකින්වත් පළ නො කිරීමට සමරවීර වග බලා ගත්තේ ය. සමරවීරගේ පැමිණීම පැටිගේ අමන්දානන්දයට හේතුවක් විය. ඒ තමාගේ ඉලක්කය සමරවීර ලවා ඉටු කරවා ගත හැකි බව දන්නා බැවිනි. ''හදිසියක් නැත්තං යන්ඩ. දවස් හතරක් පහක් ඉඳු'' පැටි යෝජනා කෙළේ ය. එම යෝජනාව සමරවීරට විශාල අස්වැසිල්ලක් විය. සිය වැඩ පිළිවෙල ක්‍රියාත්මක කිරීමට කොළඹ පැමිණියත් නැවතීමට තැනක් නැතිව යාවි යයි යන සැකය සමරවීර තුළ තදින් ම පැවතිනි. මෙ නිසා පැටි කළ යෝජනාව සමරවීරගේ කාර්යයට විශාල අත් වැලක් විය.

මෙසේ දවසක් දෙකක් ගත විය. උදේ පාන්දර ම අවදිවන සමරවීර කවුරුන් හෝ හමුවීමට යන බවක් කියා පිටවී යන අතර යළිත් පැටිගේනවා තැනට පැමිණෙන්නේ පොළොවට කළුවර කඩා වැටුණාටත් පසුව ය. සමරවීර අත යහමින් මුදල් හදල් ගැවසුන බැවිනුත්, කෑමට හා බීමට අත දිගහැර වියදම් කළ හෙයිනුත් ඔහු වෙනුවෙන් අමුතුවෙන් වෙහෙසීමට පැටි ට ඉඩක් නොවී ය.

දිනක් උදයේ සුපුරුදු පරිදි නවාතැනින් පිට වී යාමට සැරසුන සමරවීර නැවතූ පැටි තමාගේ බලාපොරොත්තුව ඉෂ්ට කර ගැනීමට උදව් වන ලෙසට යළිත් වරක් ඉල්ලීමක් කෙළේ ය. සමරවීර කල්පනා කෙළේ ය. පැටිගේ සිත කළකිරවීම තමන් ගේ ගමනට විශාල බාධාවක් බව ඔහු තේරුම් ගත්තේ ය. ''හරි මං උදව් කරන්නම්... හැබැයි මේක අපේ හිතවත්කම උඩ සිද්ධ වෙන දෙයක් විතරයි.'' සමරවීර කීවේය.

එදිනම සමරවීර බදුල්ල මූලස්ථානයට පණිවිඩයක් පිටත් කළේ ය. තමන් පැමිණි කටයුත්ත සාර්ථක කර ගැනීමට නම් පැවී නැමැති හිතවතාට උදව් කළ යුතු බව ඉන් සිය පණිවිඩය මගින් දන්වා යැව්වේ ය.

බදුල්ල මූලස්ථානය මෙ ගැන දැඩි උනන්දුවක් දැක්වූයේය. රජයේ බලකනු පෙරළා දැමීමට කර තිබූ සැලසුම නූලටම ක්‍රියාත්මක කිරීමට නම් සමරවීර නවාතැන් ගෙන සිටි ස්ථානයේ හිමිකරුට උදව් කළ යුතු බවට බදුල්ල මූලස්ථානය තීරණය කෙළේ ය. එහෙත් මෙය මූලස්ථානයේ පරමාර්ථයක් ඉෂ්ට කර ගැනීමට කෙරෙන පෞද්ගලික උදව්වක ස්වරූපයක් ගැනුණි. බදුල්ලෙන් කොළඹට ටී 56 තුවක්කුවක් එවනු ලැබිණ.

මෙ අතර දිවයින පුරා ත්‍රස්තවාදී ක්‍රියා දවසින් දවස ඉහළ යන්නට පටන් ගෙන තිබුණි ජනතා විමුක්ති පෙරමුණේ සන්නද්ධ අංශය පමණක් නොව ඒම සන්නද්ධ තරුණයන් හා ඔවුන්ට සහාය දෙන සියලු දෙනාම ඝාතනය කිරීමට නිල නොවන ඝාතන කල්ලි රට පුරා ක්‍රියාත්මක වෙමින් තිබිණ. ඊට අමතරව රජය මගින් පිහිටුවන ලද ත්‍රස්තවාදී මර්දන ඒකකය මගින් පක්ෂ, පාට, බේදයකින් තොරව මැරවරයන් මර්දනය කරන්නට වූහ. මෙවැනි පසුබිමක් යටතේ ගේනවල රංජි පවා ජීවත් වූයේ ජීවිතය පිළිබඳව අනියත බියකිනි.

කොළඹට පැමිණි ටී 56 තුවක්කුව සමරවීර අතට පත් විය. පාතාල ලොව අග රජු වීමට දහසක් සිහින මවමින් සිටින පැටිට ටී. 56 වැනි අවියක් තමාගේ කටයුත්ත සඳහා ගෙන්වා දුන් සමරවීර දෙවියකු බඳු විය. අනතුරුව දෙදෙනාම එකතු වී රංජි මරා දැමීමේ සැලසුම ක්‍රමානුකූලව සකස් කරන්නට පටන් ගත්හ.

බත්තරමුල්ලේ තෙරළු උයන පන්නිපිටිය පාරේ ඉතා සන්සුන් බිම කඩක පිහිටි පරිසරයකි. මහා මාර්ගයේ සිට වමතට ඇදී ගිය කුඩා ගුරු පාර වසර ගණනාවක සිට පළාත්වාසීන් විසින් හඳුන්වනු ලැබුවේ එම නාමයෙනි. එම මාර්ගය දෙපස පිහිටියේ මෙරට ප්‍රභූවරුන්ගේ නිවාස කීපයක් පමණි. තෙරළු උයනට හැරෙන පන්නිපිටිය පාර අසල සියදෝරිස් අයියගේ සිල්ලර බඩු කඩය පිහිටි අතර එතැනම තලවතුගොඩ දක්වා දිවෙන බස් රථය නවතන නැවතුම් පොළක් ද විය.

උදේ කාලයට එතැන මහ ජරමරයකි. පාසල් ශිෂ්‍යයන්, රැකියා සඳහා යන්නන් පමණක් නොව, සියදෝරිස් අයියගේ කඩයට පැමිණ උණු ආප්පයක් කා කහට තේ වීදුරුවක් බොන්නට එන අයගෙන් ද තෙරළු උයනට හැරෙන තැන පිරී යයි. පන්නිපිටිය පාර එද එතරම් පුළුල් නැති බැවින් ඇතැම් විටෙක එපිට සිට දක්කාගෙන එන මී හරක් රංචුව නිසා මේ ජරමරය තව තවත් දඩිබිඩි මුහුණුවරක් ගත්තේය.

මෙ කලබලය දෙස දින ගණනාවක සිට තරුණයෙක් සිය තීක්ෂණ ඇස යොමු කරගෙන සිටියේය. තෙරළු උයනේ සිට පැමිණෙන වාහනයකට කිසිම විටෙක ඒ කලබලයට අසු නොවී පැනගත නොහැකි බව ඔහු තේරුම් ගත්තේය. වාහනයේ එන පුද්ගලයාට මොන තරම් ආරක්ෂාව සපයා තිබුණත් ඒ ආරක්ෂාව තුට්ටුවකට වත් ගණන් නොගෙන ඔහුව මරා දැමීමට හොඳ වාතාවරණයක් මෙම කලබලය තුළ නිරාය සයෙන් ඇති වී තිබෙන බව ඔහු හොඳ හැටි දුටුවේය.

එහෙත් කිසිම විටෙක මෙම අමුත්තා කෙරෙහි කිසිවකුගේ හෝ අවධානයක් යොමු නොවිණ. සුදු කොට කලිසමකින් සහ එවැනිම වී ෂර්ට් එකකින් සැරසී සිටි ඔහුගේ එක් උරයක

තරමක් විශාල බෑගයකි. එහි එක් කෙළවරකින් මතු වූ හොකී පිත්තේ මිට දකින කා තුළත් ඇති වන්නේ මොහු හොකී ක්‍රීඩාව පුහුණුවීම සඳහා යාමට සූදනමින් සිටින බවකි.

උදේ 8.30 වෙද්දී ගෙවත්ත ඉයනෙන් කෙළවරක සිට පැද්දී පැද්දී එන අලුත්ම හුණ්ඩායි මෝටර් රථය නලාව හඬවමින් මහා මාර්ගයට පිවිසෙන මුව අසලම නවතයි. පාර අද්දර රැස් කන ශිෂ්‍යයින් ඇතුළු පිරිස එහාට මෙහාට වීමට තත්පර පහළොවක් පමණ ගතවෙයි. දහසය හෝ විසිවැනි තත්පරයේදී දකුණ තට සංඥා දමමින් මහා මාර්ගයට පිවිසෙන රථය අනතුරුව අසුරු සැණින් බත්තරමුල්ල දෙසට ඉගිලී යයි. එහි ගමන් කරන්නේ අන් කිසිවකු නොව ත්‍රස්තවාදී මර්දන ඒකකයේ ප්‍රධානියා වන වික්‍රම ගුණතිලකයි.

මේ සෑම සිදුවීමක් දෙසම ඇසිපිය නොහෙළා බලා සිටිමින් තත්පරයට සිය ඝාතන සැලසුම සකස් කළේ බද්දල්ලේ සිට පැමිණි සමරවීරයි.

ඝාතන සැලසුම් සකස් කළ සමරවීරට තවත් ගැටලුවක් මතුවිය. මෙම ඝාතනය සිදු කිරීමෙන් අනතුරුව පළා යාමට මෝටර් සයිකලයක් අවශ්‍යයි. මෝටර් සයිකලයක් ලබා ගැනීම එතරම් අමාරු කටයුත්තක් නොවුණ ද එය පැදයාමට හිත හයිය, පළපුරුදු අයකු සොයා ගැනීම සමරවීරට මතුවූ ගැටලුව විය මේ සඳහා රාජගිරියේ පැටී යොදවා ගැනීමට සමරවීර තීරණය කළ නමුත් මෙම රහස හෙළි කිරීමෙන් පසු ඔහු කුමන පියවරක් ගනීදැයි යන සැකය සමරවීරගේ සිත ගොලු කිරීමට සමත් විය.

පාතාල ලෝකයේ උන් උන් ඇණ කොටා ගෙන පළපුරුදු පැටී, තුම්මුල්ලේ පද්මේ ඔහුගේ මස්සිනාලා වන නිකාඩෝ ගුණසිරි යන අය මරා දැමීමට හවුල් බව සමරවීර දැන සිටියේය. එහෙත් දේශපාලන කුමන්ත්‍රණයක ප්‍රතිඵලයක් වශයෙන් සිදු-කිරීමට යන මෙම ඝාතනයට හවුල් වීමට තරම් හිතේ හයියක් පැටී තුළ තිබේදැයි සමරවීරගේ සිත තුළ රහ දුන් ප්‍රශ්නය විය.

කෙසේ වෙතත් පැටීගේ දක්ෂතා උරගා බැලීමට සමරවීර තීරණය කළේය. ඒ ගෝනවල රංජී මරා දැමීමේ සැලැස්ම තුළිනි.

මේ වනවිට ගෝනවල රංජී මෙලොවින් සදහටම තුරන් කළ යුතු පුද්ගලයකු බවට දේශපාලකතුමා තුළද වැඩෙන්නට පටන් ගෙන තිබූ අදහසකි. රංජී නිසා සිය පක්ෂයේ කීර්ති නාමය පමණක් නොව තමාගේ සායම ද සේදෙන්නට පටන් ගෙන තිබෙන බව ඔහු තේරුම් ගත්තේය.

මේ යකා කිසිම කෙනෙක්ව කෙයාර් කරන්නේ නෑ!නේ... මගේ සිකියුරිටි ඔෆිසර්ලට බල්ලන්ට වගේලු කතා කරන්නේ. ඒ යකෝ ගෝනවල රංජී කියන්නේ අයි. ආර්. සී. කාරයෙක්. ඒ යකා පොලිසියේ එස් පීලට අයිසේ, ඔයි කියන කොට ඒ මිනිසුන්ට වුනත් දරා ගන්ඩ බෑ... නේ... මෙකේ මොකක් හරි කෙළවරක් දකින්ඩ ඕනේ...දේශපාලකතුමා අවසානයේදී තීරණය කළේය.

ඒ වනවිට සිය ආරක්ෂාව යටතේ පසුවූ විලී සහ සැමී කැඳවූ දේශපාලකතුමා රංජීගෙන් තමාට නිදහස් විය යුතු බව ඔවුනට දැනුම් දුන්නේය. දේශපාලන ක්ෂේත්‍රයේ දහසකුත් එකක් නීති විරෝධී ක්‍රියා රංජී ලවා ඉටු කරවා ගත් ඔහුගේ පියා වැනි දේශපාලකතුමා ඝාතන නියෝගය දුන්නේ එලෙසිනි. මහාචාර්යතුමා පැහැර ගෙන යාමේ තවත් දේශපාලන සුදුවක ප්‍රධාන ඉත්තන් වූ විලී සහ සැමී තව තවත් එම මඩ ගොහොරුවේම එරුණේය.

ගෝනවල රංජී මරා දැමීමට මෙලෙස දෙපසකින්ම කුමන්ත්‍රණ දියත් වෙමින් තිබිණ. මේ අතර බදුල්ලේ සිට කොළඹට පැමිණි ටී 56 ටත් සමරවීරටත්, රාජගිරියේ පැටීගෙන් ඉහළ සැළකිලි ගරු බුහුමන් ලැබෙන්නට පටන් ගත්තේය. මර්දන ඒකකයේ අධිකාරීතුමා මරා දැමීම හිතේ සිරකරගෙන සමරවීර පැටීව උනන්දු කරවන්නට පටන් ගත්තේය. ඒ ගෝනවල රංජී මරා දැමීමෙන් පසු හිමිවන පාතාල ලොව කිරුළ ගැන සිහිපත් කරවමිනි.

රංජි ඝාතනය සිදු කිරීම සඳහා අලුත්ම වෞර්ල් බයිසිකල-යක් රාජගිරියේ ගරාජයකින් පැටි ලබා ගත්තේය. ඒ කුලියටය. එහි නොම්මර තහඩු වෙනස් කරන ලදී. එදිනම සවස පැටී සහ සමරවීර ගෝනවල බලා ගියහ. රංජි පදිංචි නිවසට කිලෝ මීටරයක් පමණ එපිටින් පැටීගේ ඥතියකු පදිංචිව සිටී. එහි ගිය දෙදෙනා කිසිවකුට නොදැනෙන පරිදි රංජි පිළිබඳව තොරතුරු පිරික්සූහ. දිනපතා උදේ 7.30 සිට 9 දක්වා රංජි හමුවීමට ගම්මුන් පැමිණෙන බව මෙහිදී ඔවුනට දැන ගන්නට ලැබුණි. මෙම කාල වේලාව තුළදී රංජිට වෙඩි තබා මරා දැමීමට සමරවීර තීරණය කරන ලදී.

මෙසේ තවත් දවසක් දෙකක් ගතවිය. පාතාල ලොව අයෝමය කීර්තියකින් හෙබි රංජි මළවුන් අතරට යැවීමේ දිනයට පෙරදින සවස පැටී, සමරවීර, ගොතටුවේ දයා, බත්තරමුල්ලේ රාජු යන අය පැටීගේ ඥාතියා පදිංචි නිවසට පැමිණියහ. පසුදින පාන්දරම තමන් ඇතුළු පිරිස කතරගම යන බවත් රාජගිරියේ නිවස ඉඩ මදිකම නිසා නවාතැන් ගැනීමට පැමිණි බවත් පැටි විසින් සිය ඥතියාට පවසන ලදී. එදින රාත්‍රියේ අරක්කු බෝතල තුන හතරක් හිස් කළ පිරිස මැදියම වන තුරු ත් ගී ගයමින් නටමින් ප්‍රීති වූහ.

පසුදිනට පහන් විය, අවදි වූ විගස පුවත්පත් බැලීම රංජිගේ සිරිතක් විය. ඔහු සාලයට පැමිණ දිනපතා පුවත්පත අතට ගෙන එහි මුල් පිටුවේ පළවූ භීෂණයේ විස්තර කියවමින් සිටිද්දී අමුත්තෙක් ඇතුළු විය. ඒ සිවිල් ඇඳුමින් සැරසුන පොලිස් නිලධාරියෙකි. මෙම පොලිස් නිලධාරියාට සිය ගම් පළාතට ස්ථාන මාරුවක් ලබා ගැනීමට අවශ්‍ය වී තිබිණි. මෙ සඳහා රංජිගේ උදව් ලබා ගැනීම ඔහුගේ අරමුණ විය. පොලිස් නිලධාරියා සමග මෙ පිළිබඳ විස්තර කතා කරමින් සිටියදී තවත් පුද්ගලයෙක් දොර උළුවස්ස ළඟට පැමිණියේය. රංජි ඔහුටද ආරාධනා කළේය. හේ ප්‍රදේශවාසියෙකි. සිය දියණියට පත්වීමක් ලබා ගැනීම සඳහා රංජිගේ උදව් උපකාර ඔහු බලාපොරොත්තු විය.

දෙදෙනාටම තේ ගෙන එන ලෙසට සිය බිරිඳට පැවසූ රංජි රටෙතාට ගැන වැඩිදුරටත් ඔවුන් සමග කථා කරන්නට

පටන් ගත්තේය. මොහොතකට පසු බන්දේසියක තබා තේ ගෙන ආ රංජිගේ බිරිඳ අමුත්තන්ට එය පිළිගන්වා, ඔවුන් සළවම වී මෙම සංවාදයට සවන් දෙන්නට වූවාය.

එවිටම චාර්ල් වර්ගයේ බයිසිකලයක් ගෙමිදුලට පැමිණ නතර කළේය. මුළුමනින්ම හිස වැසෙන පරිදි රතු පැහැති හෙල්මට් පැළඳ සිටි බැවින් පැමිණියේ කවුරුන්දැයි කිසිවකුට හෝ හඳුනා ගැනීමට බැරි විය. මෝටර් සයිකලය පැදගෙන ආ පුද්ගලයා හෙල්මටයේ මුහුණ ආවරණය කළ කලු පැහැති ප්ලාස්ටික් විදුරුව පහළට දමා ජැකිනය ඇතුළේ සඟවා ගෙන සිටි ෆයිල් කවරයක් පිටතට ගත්තේය. අනෙකා තම ඔඩොක්කුව මත තිබූ හම් බෑගය විවෘත කළේය.

ෆයිල් කවරය ගත් පුද්ගලයා නිවසේ උළුවස්ස ළඟට ආවේය. "මොකද මල්ලි" ඔහුව දුටු රංජි ඇසුවේය. රංජි සමගසිටි අමුත්තන් දෙදෙන ද මෙම තරුණයා දෙස බැලූහ.

"රංජි අයියා අපි දන්සැලක් දෙනවා... ආධාරයක් ලියා ගන්න කියලා ආවෙ..." තරුණයා කීවේය.

"මල්ලිලා කොහෙද.." රංජි ඇසුවේය

"අපි කාණුව හන්දියේ..." තරුණයා ක්ෂණිකව උත්තර දුන්නේය.

"අහළ පහළ වැඩකට උදව් නොකර බෑනේ .. දෙන්න මල්ලි දොත..." රංජි කීවේය.

ෆයිල් කවරය සහිත ආධාර පත්‍රය අතට ගත් රංජි එයට අවධානය යොමු කළේය. ඔහු සමඟ සිටි අමුත්තන් දෙදෙනා ද මෙම ආධාර පත්‍රය පිළිබඳව සැලකිල්ලක් දැක්වූහ. එහෙත් කාටත් නොදැනී ද වන විටත් ඔවුන් බිළිගැනීමට මරුවා දොර අසලටම පැමිණ සිටියේය. එය මුලින්ම දුටුවේ රංජිගේ බිරිඳය. එහෙත් ඇයට මුව විවර කිරීමටවත් ටී 56 වෙඩි උණ්ඩ ඉඩක් දුන්නේ නැත. වසදෙටම ස්වයංක්‍රීයව එල්ල වූ වෙඩි පහරවල් සිව් දෙනාගේම හිස් කටු දෙබෑ කරමින් වීදුරු ජනෙල් බිත්ති පසාරු කරමින් ඉගිල ගියේය. සිව් දෙනාම කපා හෙළූ කෙසෙල් කඳන් මෙන් උණු ලේ වගුරුවමින් සාලයේ තැනින් තැන ඇද වැටී අවසන් හුස්ම හෙළූහ. ඝාතනය සිදු කළ

සාහසිකයා ඒ. 56 බදින් නවා ගමන් මල්ලේ දමා ගත්තේය. අනෙකා තවත් නත්පරයක් දෙකක් රැඳී සිට දෙනාම මියගිය බව දන ආධාර පත්‍රයත් රැගෙන මිදුලට පැන්නේය. ඊළඟ මොහොතේ නාඳුනන සන්නද්ධ දෙදෙනා වරේල් බයිසිකලයේ නැගී පවනට බඳු වේගයෙන් පළා ගියහ.

වරේල් බයිසිකලය කෙලින්ම පැමිණියේ රාජගිරියට ය. දහවල් 12.45 පමණ වෙද්දී ගෝනවල රංජි ඔහුගේ බිරිඳ ඇතුළු සිව් දෙනකු නාඳුනන තුවක්කුකරුවන් විසින් මරා දමන ලද බව විවිධ මාධ්‍යය වලින් රට පුරා පැතිරී ගියේය. සමහරු මෙම ඝාතන ජනතා විමුක්ති පෙරමුණ මත පැටවූහ. මන්ද ඒ වනවිටත් රංජි ජනතා විමුක්ති පෙරමුණට එරෙහිව දැඩි පියවරක් අනුගමනය කර තිබූ බැවිනි. තවත් සමහරු මෙය රංජි හිතවත් දේශපාලකතුමා මත පැටවූහ. රංජිගේ කරදර වලින් බේරීමට ඔහු විසින් මෙම ඝාතනය සිදු කරන ලදැයි ඔවුහු සැක කළහ. එහෙත් රංජි ඝාතනය පාතාල ලෝකයෙන් ක්‍රියාත්මක වූ වැඩපිළිවෙළක් බව දන්නේ කිප දෙනකු පමණි.

අභ තුරුව පැටී අදහන දෙවියා සමරවීර බවට පත්විය. සමරවීරගේ ඕනෑම ඉල්ලීමක් නොපැකිලව ඉටුකර දෙන තත්ත්වයකට පැටී පත්විය. ඒ අනුව දෙවැනි ඝාතන සැලැස්ම ක්‍රියාත්මක කෙරිණ.

මේ අවදියේදී ත්‍රස්තවාදී මර්දන ඒකකයේ අධිපති වික්‍රම ගුණතිලක සිය රාජකාරිය අකුරටම ඉෂ්ට කරමින් සිටියේය. දිවයිනේ සතර අත සිදුවූයේ දරුණු මිනිමැරුම් ය. ජනතා විමුක්ති පෙරමුණ නමින් සමහරු මිනිමරද්දී තවත් වෙස්වළා-ගත් අනුග්‍රහය ඇති කල්ලි වෙනත් දේශපාලන අදහස් දැරූ පුද්ගලයන් සොය සොයා මරන්නට වූහ. වික්‍රම ගුණතිලක-ගෙන් මේ දෙපිරිසටම බුරුලක් නොවිය. කිසිදු පක්ෂ භේදයකින් තොරව ඔහු සිය රාජකාරිය අකුරටම ඉටු කිරීමට වගබලා ගත්තේය.

එදිනද උදේ වරුවේ සිය රාජකාරියට වාර්තා කිරීම සඳහා යාමට වික්‍රම ගුණතිලක මෝටර් රථයට ගොඩ වැදුනේය. සුපුරුදු පරිදි උණ්ඩායි රථය පැද්දී පැද්දී පැමිණ නෙරළු උයන

මුව ආසන්නයේ නතර කළේය. ඒ වන විට එතැන සෑහෙන පිරිසක් වූහ.

සියදෝරිස්ගේ කඩය තුළ සිටි තරුණයා සිය හොකී පිත්ත සහිත බෑගය විවෘත කළේය. එතුළින් ඔහු එළියට ඇද ගත්තේ ටී. 56 තුවක්කුවකි. සියදෝරිස් බිරන්තට්ටු විය. ඔහුට මේ දර්ශනය සිහිනයක් බඳුය. එළියට ගත් තුවක්කුවේ බඳ කෙටින් කළ තරුණයා සැණෙකින් පාරට පැන්නේය. මෝටර් රථය තිබුණේ ඔහුට අඩි හතරක් පහක් පමණ දුරිනි. තමන් දෙසට ටී. 56 අමෝරා ගෙන තරුණයකු පැමිණෙන බව වික්‍රම ගුණතිලක දකින්නට ඇත.

මෝටර් රථයේ ඉදිරිපස ලාච්චුවේ (කැබහෝල්) වික්‍රම ගුණතිලකට අයත් නිල රිවෝල්වරය ද තිබිණි.

එහෙත් ඔහුට ඒ සඳහා අත තැබීමටවත් ඉඩක් නොලැබිණි. මෝටර් රථයේ පැති වීදුරුව සුනු විසුනු කරමින් ඇදී ආ ටී. 56 උණ්ඩ වික්‍රම ගුණතිලකගේ හිස සහ බෙල්ල පසාරු කරමින් පිට විය.

රැස්ව සිටි ශිෂ්‍යයන් සහ අවනත් මගීහු මර හඬ දෙමින් සිසී කඩ දිව යන්නට වූහ. හිමිදිරි උදයේ සීතල වියැකෙන්නටත් පෙර දක්ෂ අවංක නිලධාරියකු වූ වික්‍රම ගුණතිලක උණු ලේ දහරාවක් මත අවසන් හුස්ම හෙළුවේය.

තත්පර හතරකට වඩා මේම ඝාතනයට ගත නොවිය. ඒ වන විටත් පණ ගැන්වී තිබුණු චෑර්ල් බයිසිකලයට ඝාතකයා පැන ගනිද්දී සුපුරුදු දක්ෂකම් පෙන්වමින් එය පදවන්නා බයිසිකලය බත්තරමුල්ල දෙසට ඇසිල්ලකින් පදවා ගෙන ගියේය.

බදුල්ල මූලස්ථානය මගින් නියම කරන ලද රාජකාරිය අකුරටම ඉටු කරමින් විශේෂ මර්දන ඒකකයේ නිලධාරියා මරා දැමූ සමරවීර එදිනම සවස බදුල්ල බලා පිටත්ව ගියේය.

තමන්ගේ සතුරා වූ ගෝනවල රංජි මෙතරම් ඉක්මනින් පරලෝකප්‍රාප්ත කරවීමට ලැබීම ගැන රාජගිරියේ පැටී තුළ ඇති වූයේ වචනවලින් විස්තර කළ නොහැකි සතුටකි.

ඔහු සමරවීරට මුළු හදවතින්ම ස්තුති කළේය. දේශපාලන ආවරණ, බලය, පිරිවර අතැතිව සිටි රංජි වැන්නකු බලු පැටියකු මෙන් මැරුම් කෑම පාතාල ලෝකයේ කාහටත් අදහාගත නොහැකි තරමේ ප්‍රවෘත්තියක් විය.

රංජිව මැරුවේ කවුරුන් විසින් කාගේ උවමනාවක් පිරි-මැසීමට දැයි දින දෙක තුනක් ඉක්ම යද්දී මිතුරු සතුරු පිල්වල කාහටත් දැනගත හැකි විය.

එහෙත් එය අළු යට සැඟවුණ ගිනි පුපුරු මෙන් විය. ජනමාධ්‍යවලින් මෙම මිනීමැරුම ජනතා විමුක්ති පෙරමුණ මත පැටවීම නිසා සත්‍ය හෙළිදරව් වූයේ නැත. නො එසේ නම් දේශපාලන හස්තය විසින් රංජි ඝාතනයේ සැබෑ තොරතුරු වසන් කළේය.

එය පතින පිලවුනට ඉනිමං බැඳිමක් මෙන් විය. රංජි වැන්නකු මරා දමා මෙතරම් පහසුවෙන් ගැලවී යා හැකි යැයි යන අදහසක් පැටී තුළ පවා නොතිබිණ. අනතුරුව පාතාල ලෝකයේ අගාධ බෑට පත්වීමේ බලාපොරොත්තු-වෙන් ඔහු අමු අළු ගෝසුකු බවට පත්විය.

1989 - 90 වකවානුවේ රාජගිරිය ප්‍රදේශයේ සිදුවූයේ අතිබිහිසුණු මිනීමැරුම්ය. ගෝනම්පුරයත්, ඔබේසේකරපුරයත් අතර ඇතිවුණ ගැටුම්වල ප්‍රතිඵලයක් වශයෙන් නාරාහේන්පිට

මහවත්ත, තොටළඟ, අළුත්කඩෙ යන ප්‍රදේශවල විසූ නොමමර එකක් වැඩකාරයෝ එක දිගට මළවුන් අතරට ගියහ. මහ දවාලේ පවා හිසට වෙඩි තබා මිනිසුන් ඝාතනය කළේ මුළු රටේම පාලනය පාතාල ලෝකයට පැවරූ ලෙසිනි.

මෙ සියලුම මිනිමැරුම් පිටුපස රාජගිරියේ පැටීගේ සෙවනැල්ලද විය. කන්න දෙයක් නැතිව හන්තන්නාරේ යන තරුණයන්ට පැටී කතා කළේය.

''මල්ලී මොකද ඇඹරෙන්නේ'' තමන්ගේ කාමරයට එන තරුණයන්ගෙන් පැටී ඇසුවේය. ''දන්නැද්ද අයියා . පාන් පෙත්තක් වගේ වේලෙනවා''...තරුණයන්ගේ පිළිතුර විය.

' මල්ලී...ඔය වයසට වේලෙන්ඩ හෙ ද නෑ. ඉස්සෙල්ලම නානගෙ කඩේට ගිහිල්ල බඩ පිරෙන්න බාබතුයි, පිටටුයි කාලා බාල්දි ළිඳෙන් නාගෙන එනවා... මෙන්න සල්ලි'' කියමින් පැටී එම තරුණයන් තම වසඟයට ගත්තේය.

යාන්තමින් දලි රැවුල ඇදන එම තරුණයන්ට පැටී අයියා දෙවියකු බඳු විය. පැටී විසින් ඔවුන් මෙහෙයවා රාජගිරිය, වැලිකඩ වැනි ප්‍රදේශවල කඩකැලි වලින් කප්පම් එකතු කළේය. ඒවායින් ගතමනාවක් තරුණයන් අතරද බෙදුණි.

අඳින්න ඇඳුමක්වත් නැතිව සිටි මොවුන්ට පැටී විසින් අලුත් කමිස, කලිසම්, ඔරලෝසු ගෙන දුන්නේය. මාස දෙක තුනක් තිස්සේ මෙසේ පෝෂණය කරනු ආධුනිකයන් අනතුරුව පැටී කියන ඕනෑම දෙයක් ඉටු කිරීමට සූදානමින් සිටියහ.

පැටීගේ මෙම අලුත් ගෝල බාලයන් පාතාල ලෝකයේ 'වැඩකාරයන්' හඳුනන්නේ නැත. තමන්ගේ මරණ ලැයිස්තුවේ ඊළඟට සිටින වැඩකාරයා කවුදැයි පැටී කල්පනා කර බැලුවේය. ඔරුගොඩවත්තේ තෙලා සුනිල් ඊළඟ මරණ වරෙන්තුකරුවා විය.

තෙලා සුනිල් විකෙන් ටික හිස එසවූ එකෙකි. උස මහත තෙලා සුනිල් මේ අන්දමට තවත් අවුරුද්දක් දෙකක් ජීවත්

වුවහොත් එය තමාට තර්ජනයක් බව පැටී තේරුම් ගත්තේය. මේ නිසා ඔහුව 'චුත' කිරීමට තීරණය කළ පැටී කන්ඩ බොන්ඩ දී හදන තමන්ගේ 'බිලි බෝයිලා' දෙදෙනකුට කතා කළේය.

"ඔරුගොඩවත්තේ තෙලාව නැති කරන්ඩ ඕනේ..." පැටී කීවේය. "මූ මේ විදිහට දහලන එක එච්චර අපහට ගුණ නෑ." ඔහු නැවැරටත් තේරුම් කළේය. අනතුරුව 9 එම්. එම්. වර්ගයේ පිස්තෝලයක් පැටී සිය සගයන් අතට පත් කළේය.

පාතාල ලෝකයේ වැඩ කාරයන් මෙවැනි අලුත් කල්ලි හඳුනන්නේ නැත. සියලුම මිනී මැරුම් පිටුපස තිබුණේ ඇඟින්දත් දූකපු නැති උන් දෙන්නෙක් ඇවිත් "මර්ඩර් එක දීලා ගියා..." යන පිළිතුර පමණි. තෙලා සුනිල් පවා පැටීගේ අලුත් බිලිබෝයිලා නොදන සිටියේය.

එදින සවස වැඩ කටයුතු අවසන් වීමෙන් අනතුරුව ඔරුගොඩවත්තේ සිනමා හලට යාබද හෝටලයට වී සැරට දූම් කිරිතේ එකක රස බලමින් තෙලා සුනිල් පසුවිය. කැෂියර් මේසය ළඟ ජැක්පොට් මැෂිමක් තිබිණ. කැන්ටිමේ තේ ගසන හඬත් ජැක්පොට් මැෂිමේ දඩබඩ හඬත් පරිසරය තුළ ඇති කළේ මහ කලබලයකි.

ජැක්පොට් මැෂිම වටා රැස්වූ හත්අට දෙනෙක් තරගයට මෙන් පිත්තල කාසි ඔබමින් වාසනාව උරගා බලමින් සිටියහ. වරින් වර 'සරාස්' හඬින් යට තැටිද්දුව වැසෙන කාසි සමහරුන් එකතු කළේ සරෝමටය.

කිරිතේ වීදුරුවේ අන්තිම උගුරත් මුවට හලාගත් තෙලා සුනිල් කැෂියර් ළඟට ආවේය. "සල්ලි එපා අයියා..." කැෂියර් කීවේය. 'කැලි දහයක් දපං...' කියමින් සුනිල් රුපියල් දහයක් මේසය උඩට විසි කළේය.

රුපියල් දහය මෙස ලාච්චුවට දැමූ කැෂියර් ජැක්පොට් කාසි දහයක් ගනිමින් මේසය මතට හැළුවේය. එම කැලිවලින් සුනිල්ට එකතු කිරීමට හැකි වූයේ කැලි හතරක් පමණි. වෙඩි ශබ්ද දෙකක් හෝටලය පුරා පැතිරී ගියේය. කවුරුත්

තුෂ්නිම්භූතව එදි පිට බැලූහ. කිසිම වෙනසක් නැත. එතැනම නවතා තිබූ ත්‍රීවිලයක් පණ ගන්වා ගත් තරුණයන් දෙදෙනකු බොරැල්ල දෙසට ඉගිලී යන අයුරු නම් කවුරුත් දුටහ.

කැෂියර් මේසය අසල සිටගෙන සිටි සුනිල් පැත්තකට ඇලවෙන බව කැෂියර් දුටුවේය. ඔහු සැනෙකින් සුනිල්ගේ අත අල්ලා ගත්තේය. එහෙත් ඒ වනවිටත් තෙලා සුනිල්ගේ අවසන් හුස්ම අවට වාතයට එක් වී තිබිණ.

තෙලා සුනිල්ට වෙඩි තැබුවේ කවුදැයි කාටත් ප්‍රශ්නයක් විය. එම මංකොල්ලය සිදුකොට පැමිණි බිලි බෝයිලගෙන් සියලුම විස්තර දැනගත් පැටී එදින සවස සුනිල්ට අවසන් බුහුමන් දැක්වීමට ද එහි ගියේය.

කිසිවකුට හෝ පැටී ගැන අවිශ්වාසයක් නොවිය. සුනිල්ගේ මරණය ගැන කතා කරමින්, දුක් වෙමින් එහි සිටි පිරිස අතරේ පැටී මුල්තැනක් ගත්තේය.

අනතුරුව සුනිල්ගේ මරණය සදාකාලික අභිරහසක් කළ යුත්තේ කෙසේදැයි පැටී කල්පනා කළේය. හිටිහැටියේම ඔහුට අගනා නුවණක් පහළ විය.

පැටී තමන්ගේ වෙනත් බිලිබෝයිලා දෙදෙනකු කැඳවිය. ඔවුනට රහසේම යම් උපදෙසක් දුන්නේය.

දින දෙකකට පසු තෙලා සුනිල්ගේ අවසන් කටයුතු සිදු කිරීමට නියමිත විය. එදින සවස තුනට පමණ පැටී ඔරුවගාඩ-වත්තේ තෙලා සුනිල්ගේ ගෙදර ගියේය. පැටීගේ උපදෙස් පරිදි තෙලා සුනිල්ට වෙඩි තබා මැරූ ඝාතකයන් දෙදෙනාද එහි ගියහ. එහෙත් ඔවුන් සමඟ වචනයක් හෝ කතා නොකිරීමට පැටී ප්‍රවේශම් විය. ඝාතකයන් පැමිණ මොහොතකට පසු පැටීගේ අනෙක් "බිලි බෝයිලා" දෙදෙනාද එහි පැමිණියහ.

මතක වස්ත්‍ර පූජා කොට පැන් වැඩීමෙන් අනතුරුව රැස්ව සිටි විශාල ජනතාව ඉදිරියෙන් තෙලා සුනිල්ගේ දේහය බහාලූ පෙට්ටිය ඔසවා ගෙන පිරිස බොරැල්ල කනත්ත බලා ගමන් කරන්නට වූහ.

අවමඟුල් පෙරහර සමන්තා සිනමා ශාලාව පසුකළා පමණි. පිට පිට ඇසුන වෙඩි හඬවල් නිසා පෙරහරේ සිටි පිරිස මරලතෝනි දෙමින් බොරැල්ල, මරදන ඔරුගොඩවත්ත දෙසට දිවයන්නට වූහ.

පාර මැද මිනිසුන් දෙදෙනෙක් මැරී වැටී සිටියහ. ඔවුන-ගේ ඔලුකටු වෙඩි පහර වලට කැඩී වෙන්වී තැනින් තැන විසිරී තිබුණි. අවට උනු ලේ දහරාවකි. මැරී වැටී සිටියේ තෙලා සුනිල් මැරූ පැටීගේ ගෝලයන් දෙදෙනාය.

සුනිල්ව මැරූ ඝාතකයන් සුනිල්ගේ යහළුවන් විසින් වෙඩිතබා මැරූ බවට සැනෙකින් පාතාල ලෝකය පුරා පැතිරී ගියේය. එහෙත් එය ප්‍රයෝගයක් බව දන සිටියේ පැටී පමණි. සුනිල් ඝාතනය සඳහා ලිහ අභිරහසක් සේ වැළලීමේ අරමුණින් පැටී තමන් විසින්ම කන්න. බොන්න දී ඇතිදූඩි කළ ඝාතක-යන් දෙදෙනා තවත් දෙදෙනකු ලවා මරා දමන ලදී.

මේ ආකාරයට 1989 – 90 වකවානුවේදී මෙරට පාතාල ලෝකයේ දුවැන්තයන් සමග ආධුනික බිලි බෝයිලා හතළිස් පස් දෙනෙකුට පමණ අකාලයේ සිය ජීවිතයෙන් වන්දි ගෙවන්නට සිදුවිය. කපටිකම සහ ප්‍රයෝගය නොමැති නම් පාතාල ලෝකයේ වැඩිකල් ජීවත් විය නොහැක. මේ බව පැටී හොඳින් දන සිටියේය.

පැටීගේ ඊළඟ ඉලක්කය වූයේ කොටියගොඩ නිහාල්ය. මෙරට නොම්මර එකේ ගණන්කාරයන්ගේ ලැයිස්තුවේ ඉහළින්ම සිටි තුම්මුල්ලේ පද්මෙගේ සොයුරා නිහාල් විය. සිය සොයුරාගේ අකාල මරණයත්, තමාට හතර වටින් එල්ල වී තිබෙන මරණ තර්ජනත් නිසා නිහාල් වෙඩි කෑ කොටියකු මෙන් කුපිත වී සිටියේය.

පැටීගේ ඊළඟ ඉලක්කය තමා බව නිහාල් නොදන සිටියා නොවේ. එහෙත් පැටීව ලෙහෙසියෙන් කොටු කර ගත නොහැකි බව නිහාල් දන සිටියේය. එමෙන්ම නිහාල්වද ලෙහෙසියෙන් මෙලොවින් තුරන් කළ නොහැකි බව පැටී තේරුම් ගත්තේය. ඒ, තුම්මුල්ලේ පද්මෙගේ මරණයෙන් පසු

ඔහු වටා සිටි ගෝල බාලයන් සියලු දෙනා නිහාල්ට එකතු වූ බව පැටී දන්නා හෙයිනි.

"ප්‍රමාදය දුකට හේතුවකි. ඉස්සර වුණ එකා දිනුම ..." පාතාල ලොව මෙවැනි කියමනක් වේ. ඒ අනුව නිහාල් පැටීවත් පැටී නිහාල්වත් මරා දැමීමට සිදුම් කුමන්ත්‍රණ දියත් කළහ. මේ සඳහා ජීවිතයෙන් වුවත් වන්දි ගෙවීමට දෙදෙක්ෂය-වම මිතුරෝ වූහ.

දිනක් පැටී හදිසි වැඩකට රත්නපුරයට ගියේය. ඒ ගියේ මෝටර් සයිකලයකිනි. වැඩ කටයුතු අවසන් කර යළි කොළඹ එන්නට බයිසිකලය පණ ගැන්වූ පැටීට සීතල යන්නට පොඩි අඩියක් ගසන්නට අවශ්‍ය විය. රත්නපුරයේ අවන්හලකට ගිය ඔහු පාණ අරක්කු බෝතල භාගයක් සමග මස් තැම්බූ කිපයක් හිස් කළේය.

රෑ අඳුරත් සීතලත් කපාගෙන කොළඹ බලා ගෙන් කළ පැටීගේ මෝටර් සයිකලය මඟදී පවත් වාහනයක් හා ගැටුණේය. උඩින් විසිවී ගිය පැටී පැත්තක කපා තිබුණ අගලකට ඇද වැටුණේය. ඔහුගේ දකුණු පාදය දණහිසට උඩින් කැඩී ගියේය.

මොහොතකට පසු සිහියුත්ව රත්නපුර රෝහලට ඇතුළත් කළ මෙම රෝගියාගේ තත්ත්වය බරපතල බැවින් කොළඹ මහ රෝහලට එම රාත්‍රියේම මාරු කර එවනු ලැබිණ.

මොහු කවුද? පදිංචිය කොහේද? යන්න කිසිවකු හෝ දැන සිටියේ නැත. පසුදින සිහිය ලැබූ පැටී බොරු නමක් සහ ගමක් රෝහලට ලබා දුන්නේය. පුළුවන් තරම් රහසිගතව සිටීම පැටීගේ අරමුණ විය. කිදිගිය කකුලට දමා තිබූ ඝන ප්ලාස්ටරය නිසා පැටීට සෙලවීමටවත් නොහැකි විය.

දින දෙකකට පමණ පසු යාබද ඇඳේ සිටි රෝගියා විකට් කපාගෙන යන්නට ගියේය. ඔහු කෙටින්ම ගියේ කොටියගොඩයි. එහිදී නිහාල් හමුවිය. බීමතින් බයිසිකලය-කින් යද්දී ඇද වැටී ඔහුගේ උරහිස පැන තිබිණ. ඒ සඳහා ප්‍රතිකාර ගැනීමට රෝහල්ගත වී සිටියේය.

"කොහොමද මල්ලි...සනීපද දැන්?" නිහාල් ඇසුවේය.

"සනීප වෙන්ඩ ඉස්සෙල්ලා බෑලන්ම ටිකට කපාගෙනයි ආවේ..." ලෙඩා කීවේය.

"කවුද මිනිහෝ උඹට බෙත් කරන්න මෙහෙ ඉන්නේ. කරදර කරන්නේ නැතුව දුම්මම පලයන් ඉස්පිරිතාලේ. දොස්තර මහත්තයට සමාවෙන්ඩ කියලා අදම 'ඇඩ්මිට්' වෙයන්" නිහාල් පැවසීය.

ලෙඩා මොහොතක් නිහාල් දෙස බලා සිටියේය. බහ තෝරන වියේ පටන් නිහාල් සමඟ පවත්වාගෙන ආ මිත්‍රත්වයේ සෙ දුරු තැන් සහ බිහිසුණු සිද්ධි එකින් එක ඔහුගේ මතකයට ගලා ආවේය. නිහාල්ට අනර්ථයක් වුවහොත් එය තමා අතින් ඔහුට සිදුවූ විශාල වරදක් බව ඔහු සිතුවේය. තමාගේ බිඳුණු අතට වඩා නිහාල්ගේ ජීවිතය සුරක්ෂිත කිරීම ඔහුගේ පරමාර්ථය විය.

"ඊගේ ලෙඩාට වැඩිය තවත් ලෙඩෙක් ගැන හොඳ "නිවුස්" එකක් දෙන්ඩයි ආවේ. යන්ඩ කියනවා නම් යන්නං" ලෙඩා බොරු අමනාපයක් මුහුණට නංවා ගනිමින් කීවේය.

"මොකක්ද මිනිහො උඹේ නිවුස් එක...මොකද දොස්තර මහත්තයත් එක්ක 'බාල්දියක්' පෙරලගත්තද?" නිහාල් සවුත්තුවට මෙන් ඇසුවේය.

"පැටී ගැන" ලෙඩා කීවේය. නිහාල්ගේ දෑස් විශ්මයෙන් පිරී ගියේය. පැටීගේ නම අසන්නට ලැබීම නොව රෝහල් ගතව සිටි ලෙඩෙක් ඒ පිළිබඳව සඳහන් කිරීම ඔහුගේ පුදුමය තවත් තීව්‍ර කෙළේය.

නිහාල් පැනපු ගමන් ලෙඩාගේ බෙල්ලෙන් අල්ලා ගත්තේය. "වාඩිවෙයන්......" ළඟ තිබූ පුටුවක් ඇද ලෙඩා

අසලින් තැබූ හේ ගිගුරුවේය. අනතුරුව එකින් එක විස්තර ලෙඩාගේ මුවින් එළියට පනින්නට පටන් ගත්තේය.

අනතුරුව හම් මඩුවට දිවගිය නිහාල් තම හිතවතකු වූ නෝබට සමඟ මෙම විස්තරය කීවේය. ''මොකද කරන්නේ'' නිහාල් ඇසුවේය. ''දෙමු 'ඔත්දස්පොට්' ඉස්පිරිතාලේ ඇද උඩම.'' නෝබට කීවේය. ''එපා .. ඊට වඩා හොඳට පැලැන් කරල මේ වැඩේ කරන්ඩ වෙන්නේ. කලබල වෙලා බෑ. ඔලුවෙන් හිතල බොක්කෙන් දෙන්ඩ ඕන වැඩක් මේක.'' නිහාල් කීවේය.

එතැනම තිබූ ටෙලිෆෝනයේ අංක කිපයක් කරකැවූ නිහාල් පිටකොටුවේ ජයලත්ට කතා කර ඔහුටද මෙම ආරංචිය දුන්නේය.

දිනක් අලුත්කඩේ උසාවිය අසලදී පැටි නිහාල් ඝාතනය කිරීමට තමාගේ උදව් පැතූ අත්දම සැනෙකින් ජයලත්ට සිහි පත් විය. සාහසිකයන් අතින් අකාලයේ මැරුම් කෑ තුම්මුල්ලේ පද්මෙගේ දකුණත වැනි ජයලත් පද්මෙගේ මරණයෙන් පසු නිහාල්ට බොහෝ සෙයින් ඇලුම් කෙළේය. තුම්මුල්ලේ පද්මෙ වැනි ඔහුගේ සොයුරු නිහාල් ද ඕනෑම නොමරු වටුවකට නොබියව මුහුණ දෙන පුද්ගලයකු බැවින් මේ අවස්ථාවේදී තමාගේ උදව් උපකාර ඔහුට අවශ්‍ය බව ජයලත් තේරුම් ගත්තේය.

අනතුරුව දෙදෙනා අතරේ මිනිත්තු පහළොවකට වැඩි කාලයක් දුරකතන සාකච්ඡාව පැවැත්විණ. නිහාල් තුළ වූයේ නෘප්තිමත් හැඟීමකි. රිසීවරය පසෙකින් තැබූ හේ නෝබට දෙස බැලුවේය. ''කාටද කතා කළේ... මොකද කියන්නේ'' නෝබට විමසුවේය.

නමුත් ඔහුට පිළිතුරක් දීමට උනන්දුවක් නොදැක්වූ නිහාල් රිසීවරයේ තවත් අංක කීපයක් කැරකැවීය.

''හලෝ... පොලිසියේ ඕ. අයි. සී. මහත්තයද? කවුද කතා කරන්නේ... කොහෙන්ද කතා කරන්නේ කියල අහන්ඩ එපා. වැඩක් නෑ. සර්ල හොයන මිනිමැරුම් පහළොවක් විතර දීපු

වැඩකාරයෙක් ඔන්න ඇඩ්මිට් වෙලා. ඉස්පිරිතාලේ 54 වාට්ටුවේ ඉන්නේ. ඇඩ්මිට් වෙන්ඩ දීලා තියෙන්නේ වෙනින් නමක්. මිනිහගේ ඇත්ත නම පැටී. සර්ල දන්නවනේ... මිනිහ ආඳා වගේ. දැම්ම ගියොත් කුරුල්ලා අල්ලලා කූඩුවේ දගන්ඩ පුළුවනි...'' කියමින් නිහාල් රිසීවරය තැබුවේය.

නෝබට දෙස බැලූ නිහාල් කොක් හඬලා සිනහසුණේය. ''ගෙනෙන් 'ස්ප්‍රිට්' බෝතලයක්'' කියමින් හේ ඉසෙක තිබූ බුරු ඇඳට වැටී මොහොතකට දෑස් වසාගත්තේ ඝාතන සැලැස්මෙ ඊළඟ අදියර ක්‍රියාත්මක කළ යුතු පිළිවෙල පිළිබඳව සැලසුම් කිරීමටය.

දුරකථනයෙන් පැටීගේ නම සවනත වැකුණ ඇසිල්ලේ ඕ. අයි. සී. මහත්තයා උඩ පැන්නේය. ඔත්තුව මොකා ගෙන් වුවත් ඒ පිළිබඳව වහාම සොයා බැලීමට ඔහු තීරණය කෙළේය. අභිරහස් මිනීමැරුම් වැළක අගමුල සොයාගත නොහැකිව පඹගාලක පැටලැවී සිටි ඕ. අයි. සී මහත්තයට පැටීගේ නම ඇසීම කනට මීපැණි වත්කළාටත් වඩා සනීපදායක විය.

ඊළඟ මොහොතේ දී පොලිස් භටයන් පුරවාගත් ජීප් රථය මහ රෝහලේ හදිසි අනතුරු අංශයට ආවේය. ලෙඩුන්ගේ නාමාවලිය පිරික්සීමෙ දී තමාට ලැබුණ ඔත්තුව කෙස්ගහට නිවැරදි බව ඕ. අයි. සී. මහත්තයට තේරුම් ගියේය.

වහාම වාට්ටුව වෙත දිව ගිය පොලිස් බලඇණිය පැටීව අත්අඩංගුවට ගත්තේය. තමන් පොලිස් අත්අඩංගුවට පත්වීම පැටීට සිහිනයක් මෙන් විය. අතටත් ඇඳටත් අල්වා දමූ මාංචු සහ දෙපස සන්නද්ධ පොලිස් භටයන් දැකීමෙන්, පැටීට තමන් ගෙ ගෙවී ගිය කාලකන්නි සිංගත ජීවිතය යළි යළිත් සිහිපත් වන්නට විය.

දින කීපයකට පසු පැටී බන්ධනාගාර රෝහලට පොලිසිය මගින් ඇතුළත් කරන ලදී. අනෙකුත් රෝගී සිරකරුවන් සමඟ ලෙඩ ඇඳට වැදුණු පැටී තමන්ට යළිත් ගොඩඒමට නෙ හැකි අන්දමින් පොලිසිය රපෝර්තු සකස් කරන බව වටහා ගත්තේය.

මේ තෙර පැටී ඝාතන සැලැස්මේ පළමු අදියර ක්‍රියාත්මක විය. එය ඉතා රහසිගතව සූක්ෂම අන්දමින් ආරම්භ කළ යුතු බව නිහාල් තේරුම් ගත්තේය.

මේ සඳහා බන්ධනාගාර රෝහලේ උදව් අත්‍යාවශ්‍ය විය. මෙහි වාට්ටු කිපයක් තිබිණ. එම වාට්ටුවලින් පැටී ඇතුළත් කර ඇති වාට්ටුව දැනගැනීම පළමුවැනි කාර්යය විය. දෙවැන්න පැටී ඝාතනය සිදුකරන පුද්ගලයාට බන්ධනාගාර රෝහළ තුළට අවහිරයකින් තොරව ඇතුළු වීමට අවස්ථාවක් ලබාදීමය.

මුදලත් බලයත් අත්නම් මේවා පාතාල ලෝකයට 'වොයිස්' වැඩය. තම තමන්ගේ ගෙවල්වලටත් වඩා හුරු පුරුදු මහ උළුගෙදර' බෝඩිමේ මුලාදැනින් පාතාල ලෝකයේ නිහාල් මෙන්ම පැටීවද ඉඩකඩ ඇතිව්වෙක ඇසුර කරති. මේ නිසා පැටිව නොදන්නා මුලාදෑනියකුගෙන් මේ අවස්ථාවේදී උදව් ලබා ගතයුතු බව නිහාල්ට පැහැදිලි විය.

දවසක් දෙකක් ඉක්ම යන්නට මත්තෙන් නිහාල්ට තමන්ගේ කෑ යුත්ත සඳහා අවශ්‍ය කරන මුලාදෑනියා සොයාගත හැකිවිය. ඔහුගේ මාර්ගයෙන් බන්ධනාගාර රෝහලේ සියලුම රහස් නිහාල් දැන ගත්තේය. එදිනම මෙම විස්තරය අවශ්‍ය පුද්ගලයන් අතට පත්විය.

ඊට පසු දින බන්ධනාගාර රෝහලේ ලෙඩුන් බලන්නට ආ පිරිස අතරේ සිටි අමුත්තෙකි. හේ ස්ථානභාර නිලධාරියා ළඟට ගියේය.

''මම ආවේ අඟුණකොළ පැලැස්සෙ ඉඳලා. තුනේ වාට්ටුවේ උස වීරේ... අපේ ගමේ හාදයෙක්. කොළඹ ආව ගමන් බලල යන්ඩ කියල ආවෙ.'' අමුත්තා කීවේය.

''අර පොලිසියෙන් ගහලා කකුල කැඩිච්ච එකාද?'' ස්ථානභාර නිලධාරියා අමුත්තාගේ කේශාන්තයේ පටන් පාදන්තය දක්වා එක බැල්මට පිරික්සමින් ඇසුවේය.

'අපෝ ඔව්...පොලිසියෙන් ගැහුවෙ ඔකට ඇත්ත නොකිව් හින්දනේ මහත්තයෝ'' අමුත්තා තමන්ගේ කෝට් බැයේ සාක්කුවලට දැත් ඔබමින් කීවේය.

අමුත්තාගේ නම ගම සටහන් කර ගැනීමෙන් අනතුරුව ඔහුට රෝහලට ඇතුළුවීමට අවසර ලැබිණ. සරමේ දකුණු අග්ගිස්ස ඇඟිලි තුඩුවලින් එල්ලා මදක් ඉහළට ඔසවාගත් අමුත්තා සැනෙකින් අනෙකුත් පුද්ගලයන් සමඟ රෝහලට පිවිසුනේය.

හෙතෙම ඇඳන් එකින් එක පිරික්සමින් ඉදිරියට ගියේය. පැටී ලෙඩ ඇඳට වී වේදනාවෙන් කෙඳිරිගාමින් සිටින අසුරු ඔහු දුටුවේය. හේ කෝට්බැයේ සාක්කුවට අත එබුවේය. ඒ තුළ තිබුණේ ග්‍රෙනේඩ් බෝම්බයකි.

බෝම්බය මතුපිට කට්ට අනගාමින් අමුත්තා සෙමෙන් සෙමෙන් ඇඳන් පසු කෙළේය. ''ගහපන් යකෝ ගහපන්!'' ඔහුගේ උඩු සිත අණ කෙළේය. වාට්ටුවේ කෙළවරේ බිත්තියේ මැදක් වන්නට තැන්පත් කර තිබූ බුදු පිළිමයේ නෙත් තමන් දෙසට එක එල්ලේ යොමු වී ඇතැයි අමුත්තාට සිතුණි.

ආපසු හැරුණ අමුත්තා ග්‍රෙනේඩ බෝම්බයේ මතුපිට කබර කට්ට අතග මින් යළිත් වරක් පැටීගේ ඇඳ අසළට සේන්දු විය. ''මොනවද යකෝ කල්පනා කරන්නේ... ගහපිය ඕකෙන්...'' ඔහුගේ උඩු සිත යළිත් අණ කළේය.

''එපා! අපරාදේ තවත් අහිංසකයෝ ගානක් මැරේවි.'' අමුත්තාගේ යටි සිත ආවේගය පාලනය කළේය.

මොහොතක්වත් එහි නො රැඳුන අමුත්තා රෝහලෙන් පිටවී මහපාරට පැන අද්දර නවතා තිබූ ත්‍රීවීලයක නැඟී නොපෙනී ගියේය.

පැටීගේ දෛවය පුදුමාකාර ඇන්දමින් එදින වෙනස් මුහුණු වරක් ගත්තේය. එදින මෙම ග්‍රෙනේඩ බෝම්බ ප්‍රහාරය එල්ල විණි නම් පැටී පමණක් නොව, තවත් කීප දෙනකුද එම ඇඳන් මතම අවසන් හුස්ම හෙළීමට ඉඩ තිබිණ. පාතාල ලෝකයේ නොම්බර එකේ 'වැඩකාරයකු' එදින මෙම කටයුත්ත භාරව පැමිණිය ද, පැටීගේ දෛවය ඝාතකයාගේ බෝම්බයට වඩා ප්‍රබල විය. පැටීගේ ජීවිතය එදින මරුකටින් ගිලිහුණේය.

දින කිපයකට පසු පැටී බන්ධනාගාර රෝහලෙන් රිමාන්ඩ් බන්ධනාගාරයට මාරු කරන ලදී. රිමාන්ඩ් බන්ධනාගාරයේ වාට්ටු කිපයක් තිබේ. මෙවායේ සොරකම්, මිනීමැරුම්, දූෂණ, මත්ද්‍රව්‍ය ආදී වැරදි සම්බන්ධයෙන් සැකපිට අත්අඩංගුවට ගෙන උසාවිය මඟින් රිමාන්ඩ් කරන ලද පුද්ගලයන් විශාල පිරිසක් ගාල්කර සිටියහ. මෙම වාට්ටුවල නේවාසිකව සිටීම සිය ජීවිතයට අනතුරක් බව පැටී තේරුම් ගත්තේය.

මේ පිළිබඳව පැටී විසින් බන්ධනාගාර අධිකාරියට පවසන ලදී. පැටී නැමැත මෙම පුද්ගලයා තුම්මුල්ලේ පද්මේ, ඔහුගේ මස්සිනා වන නිකාඩෝ, තෙලා සුනිල්, රතු ගාමිණී, රෙස්ලින් ගාමිණී, සිරිපාල, ගෝනවල රංජි සහ ඔහුගේ බිරිඳ යන

අයගේ ඝාතන සම්බන්ධයෙන් වගකිවයුතු ප්‍රධාන පෙළේ පුද්ගලයකු බව බන්ධනාගාර අධිකාරිය තේරුම් ගත්තේය.

එපමණක්ද නොව, පාතාල ලෝකයේ අතිදක්ෂ වෙඩික්කාරයන් වශයෙන් නම් දරා සිටි උපාලි, සරත්, නිහාල්, සුනිල්, පොඩි ලයනල්. අනිල්, කෝට්ටේ සුනිල් කොච්චියගොඩ නිහාල් අසෝක සහ වැලිවිට වසන්ත ඇතුළු තවත් කීප දෙනකු පැටීගේ ඝාතන ලැයිස්තුවේ සිටි බව බන්ධනාගාර අධිකාරියට දැනගන්නට ලැබිණ.

මෙවැනි අයකුට බන්ධනාගාරය විසින් ආරක්ෂාව සැපයිය යුතුමය. එසේ නොමැතිව වෙනත් සැකකරුවන් හා මෙවැනි සැකකරුවකු එකට තැබීම හේතුවෙන් කිසියම් ප්‍රශ්නයක් පැන නැගුනහොත් ඊට බන්ධනාගාර දෙපාර්තමේන්තුව වගකිව යුතුවේ.

මේ නිසා පැටී රිමාන්ඩ් බන්ධනාගාරයේ විශේෂ ආරක්ෂිත කලාපයට ඇතුළු කරන ලදි. එම කලාපයත් සෙසු සැකකරුවන් රඳවා සිටි වාට්ටුත් වෙන් කරන ලද්දේ ඒ මැදින් බඹ හතරක් ඉහළට ඇදුනු දැවැන්ත බිත්තියකිනි.

පැටී රඳවූ වාට්ටුවේ පිහිටියේ සිරමැදිරි තුන හතරක් පමණි. මේවායේ අති බිහිසුණු මිනිමැරුම් සහ රාජ්‍ය විරෝධි ක්‍රියාවන්හි නිරත වූ සැකකරුවන් රඳවා සිටියහ. ඔවුනට නෑමට, බීමට එවනම ජල පහසුකම්, වැසිකිළි පහසුකම් සලසා තිබූ අතර ඉදිරිපස දැවැන්ත යකඩ ගේට්ටුව අසළ ආරක්ෂක නියාමකවරයකු ද මේවුන් රැකීමට යොදවා සිටියේය. පොලිසිය මගින් ''කොමිටලය'' සකස් කොට බන්ධනාගාරයට නඩු දිනය දනුම් දෙන තුරු පැටී ඇහිලි ගනින්නට විය.

මේ අතර පැටී ඝාතන සැලැස්මේ නිර්මාතෘ නිහාල් තමාගේ හිතාදර මිත්‍රයකු වූ පිටකොටුවේ ජයලත් හමුවිය. ' ජයේ මේ වැඩේට මටම තමයි බහින්ඩ වෙන්නේ...'' නිහාල් කීවේය ''මොකක්ද තම්සෙ දන් කරන්ඩ යන්නේ...''ජයලත් ඇසුවේය. ''මෙන්න මේකයි වැඩේ...'' නිහාල් සිය දෙවැනි ඝාතන සැලැස්ම ජයලත්ට විස්තර කරන්නට පටන් ගත්තේය.

"තමුසෙ දන්නවනේ අපේ අයිය මැරුවේ පැටී බව. මේ මිනීමැරුම කරන්ඩ උදව් දුන්නෙ අපේම එකෙක්. ඒ කියන්නේ අපේ අයියගේ (තුම්මුල්ලේ පද්මේ) වයිෆ්ගේ සහෝදරයා. ඒකේ පළිය ගන්ඩ උගේ බෙල්ල කපලා මැරුවා ඒ මර්ඩර් එකට රිමාන්ඩ් එකේ ඉන්න අපේ ලාල් අයියට ලබන සුමානේ ඇප දෙනවා. ඊට පස්සේ ඊළඟ නඩු 'ඩේට්' එකේදී රිමාන්ඩ් එකට යන්නේ මම. එතැනින් පස්සේ වැඩේ කරන්ඩ මට තමුසෙගේ උදව් ඕනේ..." නිහාල් කීවේය.

"මොනාද කියන්නේ නිහාල් ඕනේ කරන ඔක්කොම සපෝට් එක බෙක්කෙන්ම දෙන්නම්..." ජයලත් සිය මිතුරාට පොරොන්දු විය.

ඒ ආකාරයෙන් සියල්ලක්ම කෙස්ගහට සිදුවිය. ඇප පිට ආ ලාල් වෙනුවට මිනීමැරුමේ වගකීම භාර ගනිමින් නිහාල් රිමාන්ඩ් බන්ධනාගාර ගතවිය.

රිමාන්ඩ් බන්ධනාගාරයට ඇතුළු වූ දිනම පැටී විශේෂ ආරක්ෂිත කලාපයක නේවාසිකව පසුවන බව නිහාල් දැන ගත්තේය. කලබල නොවී, ප්‍රවේශමෙන් ඝාතන සැලැස්ම ක්‍රියාත්මක කළ යුතු බවට හේ තීරණය කළේය.

තමාගේ පරම සතුරා වන නිහාල් රිමාන්ඩ් වූ බව දැනගත් පැටී බන්ධනාගාරය තුළම නිහාල්ට 'වැඩේ' දෙන්නට තීරණය කළේය. නිහාල් පැටීවත්, පැටී නිහාල්වත් මරාදැමීම සඳහා දිවා රෑ දෙකේ හතර වටින් වටවූ බිත්තිවලට ඇදිවී මනස වෙහෙසවමින් සැලසුම් සකස් කරන්නට වූහ.

මේ දෙදෙනාගේ කෝන්තරය සෙසු සිරකරුවන්ද දැන සිටියහ. එම සිරකරුවන් අතර සිටි පාතාල ලොව ප්‍රධාන පෙළේ පුද්ගලයෝ මෙම සතුරන් මිතුරන් බවට පත්කිරීමට තීරණය කළහ. මේ සඳහා ඔවුනට බාධාවක්ව තිබුණේ සිය කලාප වෙන්කළ දැවැන්ත තාප්පයයි. එහෙත් ඔවුහු උත්සාහය අත්හලේ නැත.

එම තාප්පය අයිනෙන් තිබුණ කානුවේ කට ළඟට ආ ඔවුහු එතුළින් හිස දමා එහා පැත්තේ සිටි පැටීට කතා කළහ.

''පැටී ඔය තරහ මරහ අමතක කරල යාළු වෙයං බං...'' ඔවුහු පැටීට කීහ.

''මගේ තරහක් නෑ මචං...' පැටී කීවේය. එහෙත් ඔහුගේ හිත තුළ වෛරය පැසවමින් තිබිණ.

අනතුරුව සගයෝ නිහාල් හමුවිය. ''මචං... පැටී කැමතියි පරණ කතන්දර ඔක්කොම අමතක කරල ඉන්ඩ...උඹ මොකද කියන්නේ...'' ඔවුහු ඇසූහ. ''පිස්සුද මචං... මටත් දැන් මේ ජීවිතේ තිත්ත වෙලයි තියෙන්නේ... පැටී කැමති නම්...මටත් කැමතියි පරණ කතන්දර අමතක කරල දාන්ඩ...'' නිහාල් කීවේය.

එදිනම සගයන්ගේ උනන්දු කිරීම මත නිහාල් සහ පැටී කාණ්ඩ කටේ දෙපැත්තට වී පරණ තරහ මරහ අමතක කර දමන බවටත්, මිතුරු වන බවටත් පොරොන්දු වූහ. එතැන් සිට නිහාල් තාප්පයේ මෙහා පැත්තේ සිට පැටීගේ සුවදුක් විමසන්නටත් පැටී නිහාල්ගේ ආගිය තොරතුරු විමසන්නටත් පුරුද්දක් කර ගත්තේය.

මෙසේ ටික දවසක් ගතවිය. කෙසේ වෙතත් නිරතුරුව ප්‍රවේශමෙන් ජීවත්වීමට නිහාල් තීරණය කළේය.

පළමුවැනි කොටස මින් නිමයි.